සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2558ක් වූ ඉල් මස (ව්‍යවහාරික වර්ෂ 2014 නොවැම්බර්)

37 වෙනි කලාපය

## සියලු අණ වින දෝස නසන

# දස දිසා බන්ධන බුද්ධ ආරක්ෂාව



රු. 20/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය





# කා බී ඉල්ල ගෙන මොනවද කර ගත්තේ ?













රැකි රස්සා කනෙන බොන නෙක දෑ ගන්න
දකිනා හැම දෙයක් සමගම හා වෙන්න
නොකියන වදන් ගෙන පා ගමනේ යන්න
ඉකි බිඳ සතුන් රිසි වෙයි ඉල්ලා කන්න

ලැබෙනා දෙයින් තුටු වී දිවි රැකෙන නියා
රැගෙනා යනෙන කළ කම් ඵල නොදැන අයා
බැඳෙනා ලොව සමග සෙල්ලම් කරන සොයා
යනෙනා සතට ඇත ලොව අත හරින බියා

තම හැකියාව පෙර කළ කම් සහ බැඳුනු
පමණට නොදැන උඩ පනිනා විට නොදුනු
නිම නැති සසර මේ ලෙසටම යුද වැදුනු
ගමනකි අනත දම් දකිනා තුරු සැදුනු

ආ මේකත් හොඳයි කියමින් ලැබුව මිසක්
කා බී පාදගත්තද දම් දකින ඇසක්
මා හා මගේ අය කියමින් හිතට දොසක්
ගාවා ගත්ත මිස කෝ දුක නසන බසක්

මේ ලෙස සටන් කරමින් ගත් නෙක ජාතී
කා බී දිවි ගෙවා මරු එන තුරු පාතී
ඒ හැම නිකං ගෙවුනා මිස යළි නේතී
නෑ අවසානයෙදි ගත් හරයක ජෝතී

පස් කම් සුවය පමණක් විඳගෙන ඉන්නේ
රැස් වී පොර කකා හිටියට නොම දන්නේ
දොස් ඇති ලොවේ මරණින් මතු විඳවන්නේ
හිස් එකෙකුන් විලසමයි යළි ඉපදෙන්නේ

කකා බිබී නිකරුනෙ හිටියට වාසේ
නොකා හිටිය මෙනි මැරෙනා විට දෝසේ
යකා නටන විට තතු නොපෙනෙන දෑසේ
දුකා තමයි ගිය කල පරලොව දේසේ

වීදි සටන් කර හෝ වෙන මගක සිට
ඇඳි ගත්ත දෑ කුමටද මැරෙන විට
පැදි නුවණ යොදවා පින් දහමකට
ආදි මෝඩකම් නොකරනු යළිදු හෙට

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

# නිවන් මාර්ගයේ මුල පටන් ගැන්ම අපදාන පාළිය තුලින්...

17 වන කොටස



මේ කියන්න යන්නෙ සුළු හෝ පින්කමක් සාසනය වෙනුවෙන් කළොත්, අවසාන ප්‍රතිඵලය නිවනම කියල ඔප්පු වෙන තවත් අවස්ථාවක් ගැන. බුද්ධ සාසනය කෙරෙහි අවංකව පැහැදිලා චෛත්‍යයක් කරවල, ඒ චෛත්‍යයේ සුවඳ ආලේප කිරීමේ ආනිසංසය කෙලවර වුනේ, නිවනත් එක්කම දෙවියන්ටත් ප්‍රිය වූ ශ්‍රාවකයන් අතර අග්‍ර කියන තනතුර ලබල. ඒ කියන්නෙ සසරෙදි දන් දීල පින් දහම් කරල අනික් අයට අනුමෝදන් කරපු ඒ ආදී කටයුතු නිසා ඒ පින් අනුමෝදන් වෙලා ඒ පුණ්‍ය බලයෙන් දේවත්වයට පත් වෙච්ච අයත් හුඟක් ඉන්නවා. එතකොට ඒ අය බලනවා, තමන් ඒ තත්ත්වයට පත් වෙන්න හේතුව මොකක්ද කියල. මෙහෙම කෙනෙක් මුල් වෙලා කරපු පින් දහම් කටයුතු නිසා ඒ තත්ත්වය ලබන්න හේතු වුනා කියල දැන ගත්තම, උන් වහන්සේ වටා ඒ දෙවි දේවතාවන් ප්‍රිය මනාපයෙන් ඉන්නවා. ඒ නිසා තමයි දෙවියන්ටත් ප්‍රිය වූ ශ්‍රාවකයන් අතර අග්‍ර වෙන්න පුළුවන් වුනේ. ඒ වගේම විශේෂයෙන් අසූ මහ ශ්‍රාවකයෙක් වෙන්න, සසරෙදි තවත් උත්තමයෙකුට එබඳු තනතුරක් පිරි නමනව දකල එබඳු පැතුමක් පතල තියෙන්නත් ඕන.

දැන් මේ කියන බුද්ධ පුත්‍රයන් වහන්සේ හැඳින්නුවෙ පිළින්දවච්ච මහ රහතන් වහන්සේ කියන නමින්. අනෙක් ශ්‍රාවකයන් වහන්සේලා වගේ උන්වහන්සේ නිවන් මග පටන් ගත් තැන පැහැදිලිව සඳහන් නොවුනත් අපදානයේ යම් තැනක් ගැන සඳහන් වෙනවා. ඒ කියන්නෙ සුමේධ බුදු පියාණන් වහන්සේ පහළ වෙලා හිටපු කාලෙ උන්වහන්සේගෙ පිරිනිවීමෙන් පස්සෙ මහා චෛත්‍යයක් කරවීම. ඊට පස්සෙ ඒ චෛත්‍යය පුරා සුවඳ ආලේප කරල, ඒ කාලෙ හිටපු අරිහතුන් වහන්සේලා වැඩම කරවල සාසනය වෙනුවෙන් පූජ කළා. මේක තමයි උන්වහන්සේ සාසනය වෙනුවෙන් පැහැදිලා කරපු මහා පින්කම.

ඉතින් මේ අතර කාලයේ ඒ කරපු පූජාවෙන් බොහෝ සුගතිවල ඉපදිලා එක අත්බැවක වරුණ කියන සක්විති රජෙක් වෙලා උපන්නා. එතන විශේෂ සඳහනක් වෙනවා. ඒ කියන්නෙ ඒ කාලෙ හිටපු මිනිස්සු වගා කළේ නෑ, ගොවිතැන් කළේ නෑ, නඟුල් සී සෑම් කිසි දෙයක් කළේ නෑ, ස්වභාවයෙන්ම හටගත් ශාකවලින් ලැබුන ඵලදාව භුක්ති වින්ද කියල තමයි සඳහන් වෙන්නෙ. ඒ කියන්නෙ ඒවට අමුතුවෙන් සාත්තුවක් ඕන වුනේ නෑ, විශේෂ යමක් කරන්න ඕන වුනේ නෑ කියන එක. අවශ්‍ය පෝෂණය සියල්ලම ඒ ශාකවලට ඉබේම ලැබුණා. මේ ජාතියේ ශාකයක් ගැන, ඒ කියන්නෙ ඇල් හාලක් ගැන පසුගිය 32 වන කලාපයෙන් වැඩි විස්තර සඳහන් වුනා. මේ අවස්ථාව ගත්තෙ, ත්‍රිපිටකයෙත් ඒ වගේ දේවල් ගැන සාක්ෂි තියෙනව කියල පෙන්වන්න. ඉතින් උන්වහන්සේගෙ පස්චිම අත්බැවේ, ඒ කියන්නෙ නිවන් දකින අත්බැවේ මේ ගෞතම බුද්ධ සාසනයේ මහණ වුනා. මහණ වෙලා ටික කලකින් අරිහත්වයට පත් වුණා.

නමුත් උන්වහන්සේගෙ සංසාර ගත පුරුද්දක් අනුව, නිතරම යන එන අයගෙ ගමන් මඟ පරීක්ෂා කරන්න, වසලය මෙහෙ එව වසලය යව කියල තමයි කතා කළේ. එහෙම නැත්නම් අද කාලෙ හැටියට ටිකක් සැර පරුසව ඕයි මෙහෙ එනවා, පලයන් වගේ වචනවලින් තමයි මිනිස්සුන්ට, අනෙක් භික්ෂූන් වහන්සේලාට කතා කළේ. නමුත් මේ වචන අනෙක් අයට දරන්න බෑ. හරියට පිළුණු වෙච්ච කෑම දුන්න වගේ. ඉතින් පිළුණු වූ දේ ඉන්ද වූ කියන අර්ථයෙන් එහෙම නැත්නම් අසූචි වැනි පිළිකුල් කරන කතා ස්වභාවය ඇති කියන අර්ථයෙන් පිළින්දවච්ච නමින් ප්‍රසිද්ධ වුනා. හැබැයි මේ නිරුක්ති අර්ථය පොත්වල නෑ. නිරුක්ති පටිසම්භිදා ඥානයට ගෝචර වෙන දෙයක්. ඉතින් මේ පිළින්දවච්ච හාමුදුරුවන්ගෙ කතාබහ අනෙක් අයට දරාගන්න බෑ, නිකං පාරෙ තොටේ යන කොටත් අර විදියට අහනවා. ඒ නිසා මේ කාරණය බුදුන් වහන්සේට අනෙකුත් භික්ෂූන් වහන්සේලා විසින් සැල කළා.

මේ සියල්ල සියලු ආකාරයෙන් දකින බුදු පියාණන් වහන්සේට නැවත මේ ගැන අමුතුවෙන් අහන්න දෙයක් නෑ, ඇයි එහෙම කළේ කියල. නමුත් උන්වහන්සේ ලෝකයට ආදර්ශයක් පෙන්වන්න, ශ්‍රාවකයෙක්ගෙ බාහිර ස්වරූපයෙන් ☞

උන්වහන්සේව මනින්න බෑ කියන කාරණය ලෝකයට පෙන්වන්න, ඒ අදාල භික්ෂූන් වහන්සේ ගෙන්වල මේ ගැන ප්‍රශ්න කරනවා. ඉතින් මේ විදිහට පිළින්දවච්ච හාමුදුරුවො ගෙන්වල බුදුන් වහන්සේ ඇහුවා, ඇත්තද මේ අනෙක් අයට සැර විදිහට නරක වචනවලින් කතා කරනව කියන්නෙ කියල. අරිහතුන් වහන්සේලාට කිසිම හේතුවක් උඩ බොරුවක් කියන්න උවමනාවක් නෑ. ඒ නිසා උන්වහන්සේ ඒ කාරණය ඔව් ස්වාමීනි, මම මිනිස්සුන්ට එහෙම කතා කරනව කියල පිළිගත්තා. ඉතින් පසුව බුදුන් වහන්සේ ඒ පිළින්දවච්ච හාමුදුරුවන්ගෙ පෙර අත්බැව් බලල, අත්බැව් පන්සීයකම ගැල් නායකයෙක් විදිහට හිටිය හැටිත්, මිනිස්සුන්ට වසල වාදයෙන් (පහත් කරල) කතා කරපු හැටිත් දැක්කා. ඒ අනුව උන්වහන්සේගෙ ඒ සසර ගති පැවැත්මක් මිසක් මනස ක්‍රෝධයෙන් කිළුටු වෙලා කරන ක්‍රියාවක් නොවන බවත් අනෙක් අයට පහදල දුන්නා. ඊට පස්සෙ උන්වහන්සේ මේ උදාන වාක්‍යයත් දේශනා කළා.

**යමහි න මායා වසති න මානෝ**
**යෝ වීතලෝභෝ අමමෝ නිරාසෝ**
**පනුන්නකෝධෝ අභිනිබ්බුත්තෙතා**
**සෝ බ්‍රාහ්මණෝ සෝ සමණෝ ස භික්ඛුති**

යමක්හු කෙරෙහි මායාවක් නො පවත්නේද, මානයක් නො පවත්නේද, යමෙක් පහ වූ ලෝභය ඇත්තේද, මමායන රහිතද, ආශා රහිතද, මුල් සුන් කළ ක්‍රෝධය ඇත්තේ ද, (කෙලෙස් පිරිනිවනින්) නිවුණු සිතැත්තේද, බ්‍රාහ්මණයාත් හේමය (ඔහුමය), ශ්‍රමණයාත් හේමය, භික්ෂුවනුයේත් හේමය. (පිළින්දවච්ච සූත්‍රය - බුද්දක නිකාය - 185 පිටුව)

ඉතින් හිතේ මායාවක් නැති කෙනෙක්, ඒ කියන්නෙ ඇත්ත ඇති ආකාරයෙන් දකින කෙනෙක් ගැන තමයි මේ කියන්නෙ. මොකක්ද මේ මායාව සහ ඇත්ත කියල කෙනෙකුට හිතෙන්න පුළුවන්. බුදුන් වහන්සේ විඤ්ඤාණය මායාකාරයෙකුට උපමා කළා. ඒ කියන්නෙ කෙලෙස් සහිත හිතකට හැම තිස්සෙම නැති දෙයක්ම තමයි පේන්නෙ. දුක වහල, ගෙනාපු සැප විතරක් පේනවා. ඒ කියන්නෙ කෙනෙක් ලස්සන ප්‍රියමනාප දේකට, තවත් ප්‍රියමනාප කෙනෙකුට ඇලෙනවා. නමුත් ඒකට උරුම පොදු ධර්මතාවයක් නිසා ඒක කැඩෙනවා, බිඳෙනවා, විනාස වෙනවා. එහෙම නැත්නම් කවුරු හරි කඩනවා, බිඳිනවා, විනාස කරනවා. මේ මොකකින් මොනව වුනත්, ඒකෙන් අවසානයේ එන්නෙ දුකක්. ඒක පැහැදිලියි. එක්කො ඒක ලබා ගන්න දුක් විඳිනවා, නොලැබුනාම තවත් දුක් විඳිනවා. ඒ වගේම ඒක ලැබුනම ඒ විදියට පවත්ව ගන්න දුක් විඳිනවා. ඉතින් නැති දෙයක් මවල දුන්න නිසයි මායාවක්, මායාකාරයෙක් කිව්වෙ.

එතකොට සියලු කෙලෙස් නසපු උත්තමයෙකුට එහෙම මායාවක් නෑ. ඒ මායාව නැති කෙනා, අනේ මට මේක තියෙනව අහවලාට ඒ වගේ එකක් නෑ කියල එහෙම උච්ච මානයක් එන්නෙ නෑ. ඒ වගේමයි, අහවලාට තියෙනවා මට නෑ කියල හීන මානයක් එන්නෙත් නෑ. ඉතින් මානයක්, මායාවක් නැති හිතකට මොකක් ලෝභයෙන් රකින්නද? දැකපු දේ දැකල කෙලවර කරල ඉවරයි. අල්ලගෙන ඉන්න දෙයක් නෑ. ඒ නිසා ලෝභයකුත් නෑ. මම, මගේ කියල රකින්න දේකුත් නෑ. ඒ නිසා මමත්වයකුත් නෑ. මේ සියල්ල නැති කෙනා, තමන් සතු දෙයක් හෝ තමන්ට ලැබුන දෙයක් තව කෙනෙක් ගත්ත කියල, දුන්නෙ නෑ කියල ගැටීමක් නෑ. ගැටීම නැති තැන කිසිම තරහක් ක්‍රෝධයක් නෑ. එහෙම හිතකින් එන වචන මොනව වුනත්, හිතේ ක්‍රෝධයක් නැති නිසා, එහෙම සැර පරුස බවට සද්දයක් පිට වුනාට පුරුද්දකට කියන දෙයක් මිසක්, හිතල මතල කියන දෙයක් නෙවෙයි. ඉතින් එහෙම නිවුණ කෙනෙකුට තමයි බ්‍රාහ්මණයෙක්, ශ්‍රමණයෙක්, භික්ෂුවක් කියන්නෙ. රහතන් වහන්සේ නමකගෙ ලක්ෂණ තමයි බුදුන් වහන්සේ ඒ විදියට උදාන වාක්‍යයකින් ලෝකයට පෙන්වා දුන්නෙ. පුරුද්දට යමක් කියවෙන්න පුළුවන්. නමුත් හිතේ එහෙම අංශු මාත්‍රයක ක්‍රෝධයක්, වෛරයක් නෑ.

ඒ වගේම මේ කාරණය අල්ල ගෙන අද සමහරු ලොකු වැරැද්දක් කරනවා. විශේෂයෙන් සමහර දේශක පින්වතුන් බොහොම සැර පරුෂ විදියට අනෙක් අයව විවේචනය කරනවා. ඒක ගැලපෙන්නෙ නෑ නේද කියල ඇහුවම, ඇයි පිළින්දවච්ච හාමුදුරුවොත් එහෙම කිව්වනෙ, ඒක සසර පුරුද්දක් කියල බුදුන් වහන්සේත් දේශනා කළානෙ කියල අනිත් අතට කියනවා. ඇත්තටම ඒ කාරණා දෙක සමාන කරන්න පුළුවන්ද? පිළින්දවච්ච හාමුදුරුවො කියන්නෙ මහ රහතන් වහන්සේ නමක්. රහතන් වහන්සේ නමක් කියන්නෙ පුණ්‍ය පාප පහීනස්ස හෙවත් පින් පවු ප්‍රහාණය කරපු කෙනෙක්. එහෙම නැත්නම් සබ්බ පාපස්ස අකරණං - සියලු පවු දුරු කරපු භාහිත පාපී හෙවත් සියලු පවු බැහැර කළ කියන විශේෂණවලින් හඳුන්වනවා. පොදුවෙ ගත්තොත් දස අකුසලයෙන් සම්පූර්ණයෙන්ම වෙන්වීම තමයි මේකෙන් අදහස් කරන්නෙ. ඒ වගේම අරිහතුන් වහන්සේ නමක් කියන්නෙ ආර්ය අෂ්ඨාංගික මාර්ගය පූර්ණ කරපු උතුමෙක්. කොටින්ම සම්මා වාචා කියන මාර්ග හංගය පූර්ණ කරපු උතුමෙක්. ඉතින් විභංග ප්‍රකරණය අනුව, (මග්ග විභංගෝ - විභංග ප්‍රකරණය 2 - 18 පිටුව)

<u>පාළි</u>

තත්ථ කතමා සම්මා වාචා? මුසාවාදා වේරමණී, පිසුනාය වාචාය වේරමණී, පරුසාය වාචාය වේරමණී, සම්ඵප්පලාපා වේරමණී, අයං වුච්චති සම්මා වාචා

<u>සිංහල අර්ථය</u>

සම්මා වාචා කවරේද යත්, මුසාවාදයෙන් වැළකීමය, පිසුනා වාචාවෙන් වැළකීමය, පරුසා වාචාවෙන් වැළකීමය, සම්ඵප්‍රලාපයෙන් වැළකීමය යන මේවා සම්මා වාචා නම් වේ.

එතකොට මේකෙන් පැහැදිලි වෙනවා සම්පප්‍රලාපයට, පරුස වචනයට, පිසුන වචනයට, මුසාවාදයට අයිති දේවල්. ඒ කියන්නෙ හිතේ කිළුටු තියාගෙන කතා කරන දේවල්. ඉතින් කවුරු කොහොම කිව්වත් අරිහතුන් වහන්සේ නමක් නෙවෙයි නම්, අර විදියට සැර පරුස වචනවලින් විවේචනය කරන කෙනෙක් පිළින්දවච්ච හාමුදුරුවන්ට සමාන කරන්න බෑ. ඒකට හේතුව තමයි උන්වහන්සේ බ්‍රහ්ම චරියාව, ආර්ය අෂ්ඨාංගික මාර්ගය පූර්ණ කරපු උතුමෙක් වීම. ඒ හේතුවෙන් තමයි බුදුන් වහන්සේ, අනෙකුත් භික්ෂූන් වහන්සේලාට කිව්වෙ, ඒ කාරණය උන්වහන්සේගෙ සසර පුරුද්දට සිද්ධ වෙන දෙයක් මිසක් හිතේ ක්‍රෝධයකින්, කහටකින් කියන දෙයක් නෙවෙයි කියල. ඒ නිසා අනෙක් අයට එහෙම කියල ලිස්සල යන්න බෑ.

ඉතින් කෙනෙක් මෙතනින් ආදර්ශයට ගන්න ඕන දේ තමයි, බුද්ධ සාසනය කෙරෙහි කරන පින්කමක් කෙලවර වෙන්නෙ අරිහත් ඵලයෙන් කියන කාරණය. ඒ වගේ දේකට සහයෝගය ලබා දීම පවා වැදගත්. අඩු තරමින් සහයෝගය දෙන්න බැරි නම්, විරුද්ධ නොවී ඒ පින්වතුන්ගෙ වැඩවලට බාධා නොකර සිටීමත් බොහොම වැදගත්. වචනයකින් හරි අරියාදුවක් කළොත් එන විනාසයත් ඒ වගේ තමයි.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග අපදාන පාළිය 1-1 පිළින්දවච්ච ථේරාපදානය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# ධම්ම පදය තුලින් නිවන් මග

**4 වන කොටස**

කෙනෙකුගේ සිතට එන සිතිවිලි, ඒ සිතිවිලි අනුව ක්‍රියාකරන ආකාරය, ඒ සිතිවිලි නියම ආකාරයට හසුරුවා ගෙන නිවන් මාර්ගය පූර්ණ කරන ආකාරය ගැන කියන කොටසක් වූ චිත්ත වර්ගයෙන් එන පළමු ගාථා දෙක ගැන තමයි අද කියන්න යන්නෙ. පෙර ලිපිවලින් කිව්ව ආකාරයටම මේ හැම ගාථාවක්ම බුදුන් වහන්සේ විසින් දේශනා කරන්න හේතුවක් තියෙනවා. ඒ හේතුවන කථාව මුලින් දැනගෙන හිටියොත්, අදහස තේරුම් ගන්න පහසුයි.

බුදුන් වහන්සේ චාලිකා නගරයට සමීපයේ ඇති චාලික පර්වතය පාමුල වැඩ හිටපු කාලයක, මේඝිය නම් භික්ෂූන් වහන්සේ නමක් බුදුන් වහන්සේට ඇප උපස්ථාන කරමින් හිටියා. මේ මේඝිය තෙරුන් වහන්සේ පිණ්ඩපාතයේ වඩින මොහොතක මනරම් අඹ වනයක් දැකල, මෙතන නම් මට භාවනා කරන්න හොඳයි, හරිම විවේක තියෙන නිස්කලංක තැනක්, බුදුන් වහන්සේගෙන් අවසර අරගෙන ඇවිත් මේ අඹ වනයෙ භාවනා යෝගීව ඉන්න ඕන කියල සිතිවිල්ලක් ආවා. ඉතින් මේ කාරණය බුදුන් වහන්සේට සැළ කළා. තුන් වරක් අවසර ඉල්ලුවා. ඒත් අවසර ලැබුනෙ නෑ. නැවතත් අවසර ඉල්ලුවා. කැමති දෙයක් කරගන්න කියල උන් වහන්සේ අවසර දුන්නා. දැන් මේඝීය හාමුදුරුවො මේ අඹ වනයට ගිහින් කොච්චර උත්සාහ කළත් භාවනාව වැඩෙන්නෙ නෑ. නොයෙක් කාම සිතිවිලි හිතට එනවා. කොච්චර උත්සාහ කළත් ඒක නවත්වන්න බැරි වුණා. නැවතත් බුදුන් වහන්සේ ළඟට ගිහින් කාරණාව කිව්වා. උන්වහන්සේ නොයෙක් ආකාරයෙන් ඒ කාරණය පහදල දීල, අවසානයේ මේ ගාථා පාඨ දෙක දේශනා කළා. (මේ විස්තරය සම්පූර්ණයෙන්ම <u>මේඝීය සූත්‍රය</u> නමින් අංගුත්තර නිකාය 5 - 373 පිටුවේ සඳහන් වෙනවා)

**ඵන්දනං චපලං චිත්තං**
**- දුරක්ඛං දුන්නිවාරයං**
**උජුං කරෝති මේධාවී**
**- උසුකාරෝව තේජනං**

මේ ගාථාවෙ සරල සිංහල තේරුම මේ විදිහට ගන්න පුළුවන්.

හී වඩුවා හී දණ්ඩක ඇද අරින්නාක් මෙන් නුවණැත්තා චපල වූ, සෙලවෙන්නා වූ, එක අරමුණක නොසිටින්නා වූ, රැක ගැනීමට අපහසු වූ, නුසුදුසු අරමුණු කරා යාමෙන් නොවැළකිය හැක්කා වූ සිත ඍජු කර ගනී.

**වාරිජෝව ථලේ ඛිත්තෝ**
**- ඔකමෝකත උබ්භතෝ**
**පරිඵන්දතිදං චිත්තං**
**- මාරධෙය්‍යං පහාතවේ**

මේ ගාථාවෙ සරල සිංහල තේරුම මේ විදියට ගන්න පුළුවන්.

මේ සිත දියෙන් උඩට ගෙන බිම දැමූ මාළුවකු මෙන් හැම අතින්ම සැලෙයි.



ඒ නිසා මාරධෙය්‍ය (මාරයාගේ පැත්ත, එහෙම නැත්නම් කෙලෙස්වලට කියන තව නමක්) නැසිය යුතුයි.

ඉහත ගාථා පාඨ දෙකෙන්ම විස්තර කරන්නෙ මේ සිතේ තියෙන කැලඹෙන බව. උන්වහන්සේ පළමු ගාථාවට අනුව මේ සිතට චපල සිත කියල විශේෂණයක් දැම්මා. ඇයි චපල කිව්වෙ? අද කාලෙ හැටියට චපලයි කියන්නෙ, කෙනෙක් තව කෙනෙක් කෙරෙහි තියපු විශ්වාසය කැඩුව කියන එක. එහෙම නැත්නම් බොරු කළා කියන එක. ''අර කෙල්ල මට බොරුවක් කළා, මාව රැවැට්ටුවා, ඒ කෙල්ල මහ චපල කෙල්ලක්.'' එහෙම නැත්නම් ''ඒ කොල්ල මට බොරුවක් කළා, මාව රැවැට්ටුවා, ඒ කොල්ල මහ චපල කොල්ලෙක්'' මෙහෙම කතාවට කියනවා. පොදුවේ කෙනෙකුට බොරුවක් වංචාවක් කරපු, එහෙම නැත්නම් විශ්වාසය කඩපු කෙනෙකුට තමයි චපලයි කියන්නෙ. ඉතින් එතකොට අපේ සිත අපට චපල වෙන්නෙ කොහොමද? බුදුන් වහන්සේ යම් කිසි වචනයක්, උපමාවක්, විශේෂණයක් (අධි වචනයක්) නිකං ආවට ගියාට කියන්නෙ නෑ. තුන් කල් දකින මහා ඥානයෙන් තමයි වචනයක් පවා උන්වහන්සේගෙ ශ්‍රී මුඛයෙන් පිටවෙන්නෙ.

දැන් උදාහරණයක් ගත්තොත්, ඇසට රූපයක් ගැටෙනව පේනවා. ඒක මන වඩන රූපයක් නම්, කෙනෙක්ගෙ හිත නිකම්ම ඒ රූපය කෙරෙහි ඇදිල බැඳිල යනවා. දැන් ඒ රූපය නිකං තියෙයිද? හැමදාම අපි බලාපොරොත්තු වෙච්ච විදිහටම තියෙයිද? හැම රූපයකටම පොදු ලක්ෂණයක් තියෙනවා. ඒ පොදු ලක්ෂණය තමයි කෙමෙන් කෙමෙන් ජරාවට, මරණයට පත්වීම. අපේ හිත බැඳුන, මන බැඳුන රූපය ඔහොම ජරාවට, මරණයට පත්වෙන කොට ඒ කෙනාට දුකක්ද සැපක්ද එන්නෙ? අනේ ඉතින් දාහයට පත්වෙවී ඒක රැක ගන්න රෑ දවල් මහන්සි වෙවී දඟලනවා. ඉතින් අර මුලින්ම ආපු හිත නිසා විශ්වාසයෙන් ළං කරගත්ත රූපයට අන්තිමට මොකද වෙන්නෙ? ඒ හිත විශ්වාසය කැඩුව නේද? අපිව රැවැට්ටුව නේද?

එහෙම විශ්වාසය කඩපු කෙනෙකුට, එහෙම නැත්නම් රැවැට්ටුව කෙනෙකුට චපලයි කියන්නෙ නැතුව වෙන මොනව කියන්නද? අන්න ඒ නිසා තමයි තිලෝගුරු සම්මා සම්බුදු රජාණන් වහන්සේ මේ හිතට චපලයි කියල කිව්වෙ. ඒ වගේම මේ වචනයේ පද නිරුක්තිය ගත්තොත් චප + ආල - පහත් චිත්තයට ආලය කිරීම තමයි චපල කියන්නෙ. ඉතින් රූපයේ ආදීනව දැක්ක ප්‍රඥාවන්තයා ගන්න තීරණය මොකක්ද? මෙහෙම කෙළවර දුකක් ගෙන දෙන රූපයක් කොච්චර මන වඩනව වුනත් ඒක ජරාවට, මරණයට පත් වෙලා යනවා. එහෙම වුනොත් ඒක ලබා ගත්ත කියල හරයක් තියෙනවද? ඒක ලබා ගන්න උත්සාහ කරන තත්පරයක්වත් වැඩකට තියෙන එකක්ද කියල හිතල, අර වගේ මන වඩන රූපයක් දැක්කම විදසුන් වඩනවා.

දැන් මේ චපලකම නිසා තමයි ☞

ඇද වෙලා තියෙන්නෙ. මොකෙන්ද ඇද වුනේ? ඒ ඇදය අරින්න ඕන නම් හිත කෙලින් කරගන්න ඕන. ඇද වෙන්නෙ අර ලස්සන රූපය, මන වඩන රූපය තියෙන කෙනා හෝ දෙය නොලැබුනාම. ඊළඟට කොහොම හරි ගන්න හදනවා. අසාධාරණයෙන් හරි ගන්න ඕන කියල හිතනවා. ඉතින් අනුන්ව තලල පෙලල පීඩනයට පත් කරල බය කරල හරි ගන්න හදනවා. මේ වැඩ සේරම දස අකුසලයට අයිතියි. නමුත් ඇත්ත ඇති ආකාරයෙන් දැක්ක ප්‍රඥාවන්තයා, මේ හිතේ තියෙන දස අකුසලය නමැති ඇදය ටික ටික අරිනවා. හිතේ ඇද ඇරී ගෙන එනකොට, ඒ කියන්නෙ සෘජු වෙනකොට දහම් වැටහෙන්න පටන් ගන්නවා. ඒ වටහ ගත්ත දහමෙන් අර වගේ මන බඳින දේවල් කරා හිත අයාලෙ දුවන එක පාලනය කර ගන්නවා. හරියට උපමාවකින් කියනව නම්, ඇද වෙච්ච ලී කෝටු දඬු අරගෙන ඊතල හදන වඩු කාර්මිකයෙක්, ඒ ලී දඬුවල ඇදය මනාව ඇරල හරියට ඉලක්කය කරා යන සෘජු (කෙලින්) ඊතලයක් හදනව වගේ. ප්‍රඥාවන්තයගෙ හිතත් ඒ ඊතලය වගේ අරමුණ කරා සෘජුව ගමන් කරනවා.

මෙහෙම දහම නොදැක්ක කෙනෙක්ගෙ හිත කොච්චර කැළඹෙනවද කියනව නම්, බුදුන් වහන්සේ දෙවැනි ගාථාවෙන් ඒ සඳහා උපමාවක් දීල තියෙනවා, හරියට දියෙන් ගොඩ දාපු මාළුවෙක් වගේ කියල. එහාට පනිනවා, මෙහාට පනිනවා, එක එක අතට පෙරලෙනවා, එක මොහොතක් නිකං ඉන්නෙ නෑ දඟල දඟලමයි ඉන්නෙ. මේ සිදුවීම ඇස් දෙකෙන්ම දකපු උදවිය ඕන තරම් ඇති. ඒකෙන් හිතා ගන්න පුළුවන්, මේ හිත කොච්චර නම් කැලඹීමකට පත්වෙනවද කියල. දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඇයි උන්වහන්සේ මේ උපමාවම ගත්තෙ කියල.

මෙහෙම හිතුවොත්, දැන් මාළුවා ගොඩ දාපු නිසා තමයි අර විදියට වේදනාවෙන් දැඟලුවෙ, නිච්චියක් නැතුව එහාට මෙහාට පෙරලුනේ. ඉතින් එහෙම දෙයක් වෙන්න මාළුවට මොකක්ද නැති වුනේ? ඒ මාළුවා දියේ ඉන්න කොටත් ඔය විදිහට වේදනාවෙන් නිච්චි නැතිව දැඟලුවද පෙරලුනාද? නෑ, එහෙනම් දියේ ඉන්න කොට ඌට අවශ්‍ය දෙයක් තිබුණා. හුස්ම ටික ගන්න ක්‍රමයක්, එහෙම නැත්නම් ඌට ජීවත් වෙන්න ඕන මූලික සාධකය ලැබුනා. ඒ තමයි මූලික ආහාරය. හුස්ම කියන ආහාරය තියෙන කල් කිසි ප්‍රශ්නයක් නෑ, දඟලන්නෙත් නෑ, මොර දෙන්නෙත් නෑ, පෙරලෙන්නෙත් නෑ. නමුත් ගොඩ දාපු ගමන් මොකද වුනේ? අර හුස්ම කියන මූලික ආහාරය නැති වුණා. දැන් හුස්ම ගන්න විදිහක් නෑ. ඉතින් වේදනායි. එහාට දඟලනවා, මෙහාට දඟලනවා, පෙරලෙනවා.

ඉතින් කෙනෙක්ගෙ හිතත් ඒ වගේ ආහාර දෙනකල් කරදරයක් නෑ. මන වඩන රූප බල බල ඉන්න කල් ප්‍රශ්නයක් නෑ, ඒකෙම ඉන්නවා. මන වඩන ශබ්ද අහනකල් කිසි ප්‍රශ්නයක් නෑ. ඒ වගේම ගන්ධය, රසය, ස්පර්ශය තමන්ට ඕන ඕන



විදිහට ලැබෙනව නම් කිසි ප්‍රශ්නයක් නෑ. නමුත් එක පාරටම ඒවා නතර කළොත් මොකද වෙන්නෙ? උපමාවක් කියනව නම්, කෙනෙක් රූපවාහිනී යන්ත්‍රයකින් තමන්ට කැමතිම නාට්‍යයක් හෝ ගීතයක් හෝ චිත්‍රපටියක් හෝ බල බලා ඉන්න මොහොතක එක පාරටම විදුලිය විසන්ධි වෙනවා. දැන් හිතට ලැබි ලැබී තිබුන ආහාරය එක පාරටම නැති වුණා. හරියට අර ගොඩ දාපු මාළුවා වගේ. ''අනේ මොනව වුනාද දන්නෙ නෑ. දැන් හොඳම කොටස ගිහින් ඇති. අපරාදෙ ඒ සින්දුව දැන් ඉවර වෙලත් ඇති.'' මෙන්න මේ වගේ හිත එහාට පෙරලෙනවා, මෙහාට පෙරලෙනවා, දඟලනවා. මොකද අර ආහාරය නොලැබී ගිය නිසා. හිතට මේ ලැබෙන ආහාරවලට කෙළෙස් කියලත් කියනවා. මේ ආහාරය අයින් කරන්න නම්, ඒ ආහාරවලට හේතුව හොයා ගන්න ඕන. ඊට පස්සෙ අන්න ඒ හේතුවයි අයින් කරන්නෙ.

මොකක්ද මේ හේතුව? අපි අකමැති දෙයක් කවදාවත් ළං කරගන්නෙ නෑ. ඒක කොහොමත් ප්‍රතික්ෂේප කරනවා. නැවතත් ඒ ගැන හිතන්නෙවත් නෑ. එහෙනම් අපි නිතරම ළං වෙන්නෙ, එහෙම නැත්නම් හා වෙන්නෙ කැමති තැනකට. ඒ තැන මන වඩන රූපයක් වෙන්න පුළුවන්, මන වඩන ශබ්දයක් වෙන්න පුළුවන්, එහෙම නැත්නම් මන වඩන ගන්ධයක්, රසයක් හෝ ස්පර්ශයක් වෙන්න පුළුවන්. කොටින්ම ආස්වාදයක් තියෙන තැනකට තමයි ළං වෙන්නෙ, හා වෙන්නෙ. ''ෂා හරිම ලස්සන ගැහැණු ළමයා, හරිම කඩවසම් පිරිමි ළමයා.'' මෙහෙම අදහස් අරගෙන ඒ තැනට හා වෙනවා, ඇදෙනවා, බැඳෙනවා. අර කලින් කිව්ව වගේ ඔය හැම දේකටම උරුම පොදු ලක්ෂණය, මේ හා වීම නිසා පේන්නෙ නෑ. ඉතින් ඒකෙ භයානකකම දැක්ක දාට, කළ්‍යාණ මිත්‍රයෙක්ගෙ ඇසුර ලැබිල දැනගත්ත දාට, මොන හරයක්ද කියල වැටහිලා ඒ විදියට ළං වීම, හා වීම ටික ටික අයින් වෙනවා. ඒ විදියට අයින් වෙන ප්‍රමාණය කොච්චරද, ඒ තරමටම කෙළෙස් නැසෙනවා. ඒ නැසෙන ප්‍රමාණය අනුව හිත සෘජු වෙනවා. අවශ්‍ය ඉලක්කය කරා අර ඊතලය වගේ ගමන් කරන්න හැකියාව ලැබෙනවා.

ඉතින් මේඝිය හාමුදුරුවන්ට මේ විදිහෙ අදහසක් තමයි බුදුන් වහන්සේ පෙන්වල දුන්නෙ. ඒ කියන කරුණු කාරණා තේරුම් ගත්ත මේඝිය හාමුදුරුවන්ට දහම් ඇස පහළ වුණා. සෝවාන් ඵලයේ පිහිටියා. හිත සෘජු වුණා. කෙලින්ම අවශ්‍ය ඉලක්කය හෙවත් නිවන කරා ඒකාන්තයෙන්ම ගමන් කරන තත්වයට පත් වුණා.

*වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්මපද පාලිය - චිත්ත වග්ගය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
පරිගණක ඉංජිනේරු - ගොතටුව

# කුසල සීලයෙන් සමාධියත්, සමාධියෙන් විමුක්තියත් කරා....

බෞද්ධයින්ගෙ ප්‍රධාන අරමුණ වෙන්නෙ උතුම් වූ සීල, සමාධි, ප්‍රඥා ගුණ පූර්ණ කර ගෙන උත්තරීතර වූ ආර්ය මාර්ගය වඩල නිවන් අවබෝධ කරගැනීම. පංච කාම වැඩ පිළිවෙල හරිම ආස්වාදජනක වටිනා දෙයක් විදියට දකින ලෝක සත්ත්වයින්ට, ඒ නිසා හට ගන්නා දුක් ගින්න දාහය, අවිද්‍යාව කියන කඩතුරාවෙන් වැහිල තියෙන නිසා පේන්නෙ නෑ. මේක මහා ගින්නක් කියල දැක්ක කෙනෙක් විතරයි ඒ ගින්න නිවා ගන්න ඕන කියල හිතන්නෙ. මේ ආස්වාද විඳින, මම කියල කෙනෙක් ඉන්නව කියල සමහරෙක් හිතනවා. මම කියල කෙනෙක් නෑ, මේ ආස්වාද කොච්චර කොහොම වින්දත් කමක් නෑ කියල හිතන අයත් ඉන්නවා. මේ ආස්වාදයන් සදාතනිකයි, විඳිමින් ඉන්න සුදුසුයි කියන සාස්වත දෘෂ්ටියේ ඉන්න පිරිසත්, මේ ආස්වාද කොච්චර කොහොම වින්දත් ඒවා විපාක දීමක් නෑ කියන උච්චේද දෘෂ්ටියේ ඉන්න පිරිසත් ඉන්නෙ දෘෂ්ටිමය වශයෙන් අන්ත දෙකක කියල දැකල තමයි, බුදු පියාණන් වහන්සේ මංගල ධර්ම දේශනාව වන ධම්ම චක්කප්පවත්තන සූත්‍ර දේශනාවෙදිත් මුලින්ම දේශනා කරන්නෙ, මහණෙනි මේ අන්ත දෙකම සේවනය කරන්න එපා, ඒ දෙකෙන්ම මිදිල මජ්ජිම පටිපදාව තුලිනුයි තථාගතයන් වහන්සේ අභිසම්බුද්ධත්වයට පත් වුනේ කියල.

එහෙනම් නිවන් දකින මග හොයා ගන්න තියෙන්නෙ, මේ වැරදි දෘෂ්ටිය දැකල ඒකෙන් ඉවත් වීමෙන් පමණයි. මේ නිසා මුලින්ම මේ අන්ත දෙක සේවනය කරන ''මම'' කියන්නෙ කවුද කියල බලන්න ඕන.

ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉන්ද්‍රියන්ට විපාක වශයෙන් විඳින්න ලැබෙන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන අරමුණු මුණ ගැසුනම සිදුවන බලන, අහන, විඳින ක්‍රියාවලිය කරන්නෙ මමයි, ඒ අනුව මම කියල කෙනෙක් ඉන්නවා, මම මෙහෙම කෙනෙක් වුනා නම් හොඳයි, මට මෙහෙම වුනා නම් හොඳයි .... ආදී වශයෙන් නිගමනය කරල තමයි ඒ අරමුණු හරි වටිනවා, ඒවා මගෙ කරගත්ත නම් හොඳයි කියල ''හොඳ මමෙක්'' ගොඩ නගන්න උත්සාහ කරන්නෙ.

මේ ''මම'' කියන දේවල් තුලත්, ''මගෙ'' කරගන්න යන දේවල්වලටත් උරුම ධර්මතාවයේ යථා ස්වභාවය දැන ගෙන නෙවෙයි ලෝක සත්වයා ඒවා මම කරගෙන, මගෙ කරගෙන මට ඕන විදියට, මම කැමති සේ පවත්වන්න උත්සාහ



කරන්නෙ. ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉන්ද්‍රියන් ගත්තත් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියල අරමුණු වන දේවල් ගත්තත්, ඒ සියල්ල කැඩිල බිඳිල වැහැරිලා වැනසිලා යන දේවල්මයි. ඒකට හේතුව, ඒවා පවතින්නෙ ඒවාට උරුම ධර්මතාවයට අනුව මිසක් අපිට ඕන විදියට අපේ කැමැත්තට අනුව නෙවෙයි. ඒවාට උරුම, අපිට වෙනස් කරන්න බැරි ධර්මතාවය මොකක්ද? යමක් හට ගත්ත නම් ඒක වැඩෙන කාලයක් තියෙනවා. ඒ වැඩෙන කාලයට කියනවා උදයංගම කාලය කියල. ඊළඟට වැඩීම නැවතිලා මෝරමින් පවතින කාලයක් එනවා. මේ තමයි අත්තංගම කාලය. ඊළඟට ආස්වාද විඳින කාලයක් එනවා. ඒ තමයි ආස්වාද කාලය. අනතුරුව වැහැරීමට පත්වන කාලයට ආදීනව කාලය කියනවා. ඊළඟට වැනසිලා යන්නෙ නෙක්ඛම්ම කාලය තුල. නෙක්ඛම්ම කියන්නෙ අවස්ථාව නික්ම ගියා කියන එක.

මේ ''මම'' කියල අල්ල ගන්න සියල්ලටම තමයි ලෝකය කියන්නෙත්. ලෝකයට අයිති කිසිවක් මේ ධර්මතාවයෙන් බැහැර කරන්න බෑ. ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉන්ද්‍රියන් කැඩිල බිඳිල වැනසිලා යනව නම්, ඒවා තුල ක්‍රියාත්මක වෙන නොකැඩෙන, නොබිඳෙන, විනාස නොවන හිතක් හටගන්න හේතුවක් නෑ.

එහෙනම් එහෙම හට ගෙන විනාස වෙලා යන හිතේ ස්වභාවයත් දකින්න ඕන. මේ සඳහා හිත කියන්නෙ මොකක්ද කියල පළමුවෙන්ම දැන ගන්න ඕන. ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉන්ද්‍රියන් හයෙන් අරමුණු ගන්න කොට මනේද්‍රියට දැනෙන ස්වභාවයක් ඇති වෙනවා. ඒ ස්වභාවයට මන (හිත) කියල කියනවා. ඒ හිතට තමයි ලෝක සත්වයා ''මම'' කියල කියන්නෙ. ඒ ඇස, කන, නාසය, දිව, කය ඇසුරු කරගෙන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ වශයෙන් අරමුණු වෙන දේවල් විවිධාකාරයෙන් දැන ගැනීම තමයි හිතක ලක්ෂණය. ඇසට රූපයක් අරමුණු වුනාම තියෙන්නෙ, රූප දැකල ඒවා රූප කියල දැනගන්න හිත. ශබ්දයක් අහන කොට තියෙන්නෙ ශබ්ද දැනගන්න හිත. පංචේන්ද්‍රියන්ටම ගන්න අරමුණු ගැන හිතන කොට තියෙන්නෙ, ඒ විවිධාකාර සිත්වල තියෙන්නෙ මොනවද කියල දැනගන්න හිත. මේ ආකාරයටම අරගෙන, ''පබස්සරමිදං භික්ඛවේ චිත්තං ආරම්මන විජානන ලක්ඛණං චිත්තං'' කියල හඳුන්වන, අරමුණු විවිධාකාරයෙන් දැන ගැනීමේ ලක්ෂණයට තමයි හිත කිව්වෙ. මේ අරමුණු දැනගැනීම අධිවේගී වැඩ පිළිවෙලක් නිසා එකවර සියල්ල සිදු වෙනව වගේ තමයි පේන්නෙ. නමුත් හිත

කියන්නෙ පංචද්වාරයෙන්ම අරමුණු එන කොට හට ගෙන, ඒ අරමුණු ගෙවිල යන කොට ගෙවිල යන ලක්ෂණය මිසක් පවතින දෙයක් නෙවෙයි. නමුත් එක වැලට පවතින දේ ආවර්ජනය වෙන කොට හිතක් පවතින හැටියට පේනවා. ඒ හිත මගෙයි කියන මායාවට රැවටෙන ලෝක සත්ත්වයා, මම ඉන්නවා, මම කරනවා, මම යනවා.... ආදී වශයෙන් වැරදි දෘෂ්ටියක ඉඳගෙන මමෙක් පවත්වන්න උත්සාහ කරනවා.

මේ අනුව ඇස, කන, නාසය, දිව, කය වගේම නොකැඩෙන, නොබිඳෙන, විනාස නොවන හිතක් හට ගන්නෙ නෑ. මේ නිසා හොඳ මමෙක් හදන්න ගන්න උත්සාහය කවදාවත් කැමති සේ පවත්වන්න පුළුවන් දෙයක් නෙවෙයි. ඒ අනුව මේ කය හෝ හිත කැමැත්තට අනුව පවත්වන්න පුළුවන්කමක් නෑ කියල ධර්මානුකූලව දැක්කම, ඒක පෙළීමේ සම්පිණ්ඩනයක් හැටියට දකිනවා. ඒ අනුව ඒ පුද්ගලය සිත, කය දෙකම අනිච්ච ස්වභාවයෙන් දකිනවා. මේ නිසා හොඳ මමෙක් හදන්න උත්සාහ කරල බැරිවෙන වාරයක් පාසා, ඒ බලාපොරොත්තු කඩවීම නිසා දුකට පත් වෙනවා, දාහයට පත් වෙනවා, මහා ගින්නකින් දැවීමට පත් වෙනවා.

මේ අනුව අතීතයේ සිද්ධ වෙලා තියෙන්නෙත් මේ ලෝකය මම, මගේ කරගෙන කැමති සේ පවත්වන්න ගිහින් දඟලල වෙහෙස වෙලා දුක් වින්ද එක විතරයි. දැන් සිද්ධ වෙලා තියෙන්නෙත් ඒකයි. මතුවට මම කියල, මගෙ කියල ලෝකය ගොඩ නගන්න හැදුවොත්, ඒකත් කැමති සේ පවත්වන්න බැරි වෙනවා. මේ ආකාරයට අනන්ත සංසාරෙ කල්ප කෝටි ගණනක් මේ විදියට ඇවිත් තියෙන්න, අසාර ගමනක් කියල දැක්ක දවසට මේ වැඩ පිළිවෙල අනාත දෙයක් විදියට දකිනවා.

මේ ධර්මාවබෝධය ලබපු තැනැත්තා, ඒ අවබෝධ කර ගත් දහම නිතර සිහි කරන්න පටන් ගත්තම තමයි කාම ලෝක, රූප ලෝක, අරූප ලෝක කියන සියලු ලෝකයන්ගෙන් මිදිල යන්නෙ. මේ ධර්මාවබෝධය කෙනෙකුට ලැබුනම අත් හැරී, නොඇලී, මිදී යන මග වැඩීමට කර්මස්ථානයක් නිතර වඩන්න පුළුවන්.

**කාම ලෝක අනාතයි**
**රූප ලෝක අනාතයි**
**අරූප ලෝක අනාතයි**
**සියලු ලෝක අනාතයි**
**අත හැරීම නාතයි**
**අත හැරීම වෙත්වා**
**නොඇලීම නාතයි**
**නොඇලීම වෙත්වා**
**නොබැඳීම නාතයි**
**නොබැඳීම වෙත්වා**
**මිදීම නාතයි**
**මිදීම වෙත්වා**
**නිවනම නාතයි**
**නිවනම වෙත්වා**

මෙබඳු වූ අසාර ලෝකය තුල, කෙනෙක් ඒ ලෝකයට අයත් දේවල් මම කරගන්න, මගෙ කරගන්න උත්සාහ කරන කොට, මේ විදියෙම මුලා දෘෂ්ටියක් තුල ඉන්න තවත් අයත් ඒ ලෝකයට අයත් දේවල් මම කරගන්න, මගෙ කරගන්න දඟලනවා, පොර කනවා. මේ විදියට ලෝකෙ ඉන්න සියලු දෙනාම ලෝකෙට අයිති දේවල් මම කරගන්න, මගෙ කරගන්න පොරකනවා. මේ අනුව මම කරගන්න, මගෙ කරගන්න දඟලන සියලු දෙනාම මහා තරඟයකට වැටිල බලු පොරයක් කර ගන්නවා. ලෝක සත්ත්වයා පංච කාම ආස්වාදයන් සඳහා පොරකන්නෙ, හරියට මස් කටුවකට පොර කන බල්ලො වගෙයි. බුදු පියාණන් වහන්සේ, ලෝක සත්ත්වයා ගොඩ නගන මේ සියලු සංඛාර වැඩ පිළිවෙල පෙන්වල දීල තියෙන්නෙ අට්ඨියති, හරායති, ජිගුච්ඡති වශයෙන් දකින්න කියල. මස් කටුවක් ලැබුනම බල්ලො ඒකට පොරකකා හපහපා පෙළෙනවා, ඒක හරයක් නැති වැඩක් කියල අවබෝධ කරගන්න උන්ට තේරෙන්නෙ නෑ.

මේ වගේ යම් යම් දේවල් කරන්න ගිහින් වෙහෙසට පත් වුනාම, ලෝක ව්‍යවහාරය තුල ඇතැම් අය කියනවා හරිම කට්ටක් කැවෙ කියල. බල්ලන් වගේ කටු කන මිනිස්සුන්ට ඒක හරයක් නෑ කියල වැටහෙන්නෙ නෑ. මේ නිසා ''මම'' ගොඩ නගා ගන්න කරන වැඩ පිළිවෙල තුල ලෝක සත්ත්වයා දැඩි පීඩනයකට පත් වෙලා පෙළෙන්න ගන්නවා. නමුත් අවිද්‍යාව නිසා යථාර්ථය නොදකින ලෝක සත්ත්වයා, මස් කටුවලට පොරකන බල්ලො වගේ පංච කාම ආස්වාදයන් පස්සෙම ගිහින්, ඒවා කැමති විදියට පවත්වන්න බැරි වෙන කොට පෙළෙන්න පටන් ගන්නවා. මිනිස්සු ප්‍රාණඝාත කරන්නෙ, හොර මැර වංචා කරන්නෙ, සුරා සූදු දුරාචාර කරමින් කාම ආස්වාද පස්සෙ යන්නෙ, හරියට මස් කටුවලට පොරකන බල්ලො වගෙයි. මේවා ''මම'' කරගන්න, ''මගෙ'' කරගන්න යාම බලු වැඩ පිළිවෙලක් කියල දැකල සත්‍යය අවබෝධ කරගෙන, ඒ නීච වැඩ පිළිවෙලින් මම මිදෙන්න ඕන කියන තීරණය ගත්තම, ඒ පුද්ගලය ආර්ය සීලයක පිහිටනවා. සිත, කය, වචනවලින් කරන නීච වැඩපිළිවෙලේ අසාරත්වය දැකල යථාවබෝධය ලැබුණම ඒ යථාවබෝධය යලි යලිත් සිහි කරමින් ප්‍රඥාව වඩන්න ඕන. සියලු සංඛාර අට්ඨියති හරායති ජිගුච්ඡති කියන අනිච්ච ලක්ෂණ තුන අනුව බලන්න පුරුදු වෙන්න ඕන. මේ විදියට සංවර වුනාම තමයි ''සංවරත්තේන සීලං'' කියන කායික සංවරය ඇති වෙලා අවංකත්වයේ පිහිටන්නෙ. දැන් ඒ පුද්ගලයගෙ ක්‍රියා කලාපය ඇද නෑ, අවංකයි.

ලෝකය මම, මගේ කරගන්න තරඟයට බහින ලෝක සත්ත්වයා, හරයක් නැති ලෝකෙ අල්ල ගන්න මුසාවාද කරල අන්‍යයන් රවටනවා. පරුෂ වචන කියල අන්‍යයන් සැඩ පරුෂ බවට පත් කරනවා. පිසුනා වාචා පාවිච්චි කරල ප්‍රියභාවයෙන් ඉන්න අය බිඳවනවා. සම්පප්‍රලාපවලින් මිනිස්සු මුලාවට පත්කරනවා. තරඟයට වැටිල ඉන්න ලෝක සත්ත්වයා කරන මේ දුශ්චරිත නිසා සිදුවන අනර්ථය දැකල, කැමති සේ පවත්වන්න බැරි ලෝකයක මොන දෙයකට අන්‍යයන් රවටනවද, අන්‍යයන් සැඩ පරුෂ බවට පත් කරනවද, බිඳවනවද, මුලාවට පත් කරනවද කියල, වචනයෙන් සංවර වෙලා සුචරිතයට පත්වුනාම වචනය පිරිසිදුයි.

අසාර වූ මේ ලෝකෙ පවතින සම්පත් අනුන්ට නොවේවා, මටම වේවා කියන දැඩි බලාපොරොත්තුව නිසා ඒ අයගෙ මනස ලෝභයෙන් වැළඳ ගන්නවා. ඒකට බාධා වෙන කොට ගහල මරල හරි, හිංසා කරල හරි මගේ වැඩේ කර ගන්නව කියල මනස දූෂ්‍ය කරගත්තම ද්වේශයෙන් හිත දූෂිත වෙනවා. මේ අසාර ලෝකය හොඳයි වටිනවා කියන අවිද්‍යා දෘෂ්ටියෙන් යුක්තව මම, මගේ කරගන්න ගියාම හිත මුලාවට පත්වෙනවා. කිසිවක් කැමති සේ පවත්වන්න බැරි අසාර වූ ලෝකයක ලෝභයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් කටයුතු කරල අනුන්ට නොවේවා, මටම වේවා කියල මොනවට මගේ ගොඩ ලොකු කරගන්නද කියල අලෝභ, අද්වේශ, අමෝහ මානසිකත්වයෙන් කටයුතු කරන තැනැත්තාගෙ හිත පිවිතුරුයි. මේ විදියට ධර්ම මාර්ගය වැඩෙන කොට කය, වචන, සිත සුචරිතයට පත් වුනාම ඒ පුද්ගලය තුල අවංකයි, පිරිසිදුයි, පිවිතුරුයි කියන සීලය නිසා ඇති වෙන ගුණ තුනක් පිහිටනවා.

මේ ලෝකය හොඳයි, වටිනවා

කියල සිත, කය, වචන මෙහෙයවල ලෝක වැඩ පිළිවෙලට එකතු වුනාම, නැවත නැවතත් භවය සකස් වීම තමයි ප්‍රභා කියන්නෙ. ඒ වැඩ පිළිවෙල අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කියල අසාර විදියට දක්කම, භව සැරි සැරීම නැති වෙන අස්සර කියන තත්ත්වයට පත් වෙනවා. එතකොට ප්‍රභාස්සරයි කියල කියන, සසර නැවත නැවත සැරි සරන්නෙ නැති තත්ත්වයට පත් වෙනවා. කෙනෙක්ගෙ දෘෂ්ටිය ඍජු වුනාම, ඒ පුද්ගලය සම්මා දිට්ඨියට පත්වෙලා මනස ප්‍රභාස්සර වෙනවා. ලෝකය අල්ල ගන්නෙ නැති මනස ආලෝකයි. අවිද්‍යාව නිසා අපිරිසිදු වෙච්ච සිත, කය, වචන එයින් මිදීමෙන් පිරිසිදු වෙලා අභිසංඛාර ගොඩ නැගෙන්නෙ නැති වුනාම සසරට නැවත නැවතත් බැඳෙන සංයෝජන හටගන්නෙ නෑ, සංසිඳිල යනවා.

මේ විදියට ධර්මය ශ්‍රවණය කරල ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් අරගෙන අසාර වූ ලෝකයෙන් මිදීම පිළිබඳ මූලික යථාවබෝධය ලැබුනම, ඒ පුද්ගලය තුල ශික්ෂණයක් හට ගන්නවා. ඒ තමයි සීල විසුද්ධිය. සිත, කය, වචන කියන තුන් දොරින් කරන වැරදි පහ වෙලා, අවංකයි පිරිසිදුයි පිවිතුරුයි කියන සීල ගුණය යළි යළි සිහි කරන කොට, හිත ප්‍රභාස්සර භාවයට පත් වෙලා ධර්මානුකූලව අනුපූර්ව ශික්ෂා ක්‍රමයට සප්ත විසුද්ධියම පූර්ණ වෙනවා. සීල විසුද්ධියෙන් චිත්ත විසුද්ධියට පත් වෙලා, චිත්ත විසුද්ධියෙන් ධ්‍යාන සහ සමාධි ලැබෙනවා. ඒ සමාධියට ගෝචර වෙන ප්‍රඥාවෙන් දිට්ඨි විසුද්ධියත් (චතුරාර්ය සත්‍යය පිළිබඳ දකින සම්මා දිට්ඨිය), කංඛාවිතරණ විසුද්ධියත් (ධර්මය පිළිබඳ සැකයෙන් එතෙරවීම), මග්ගාමග්ග ඤාණ දර්ශන විසුද්ධියත් (මග නොමග දැනගැනීමේ ඤාණය), පටිපදා ඤාණ දර්ශන විසුද්ධියත් (නිවන් මග මේකයි කියල වෙන් කරල දැනගෙන ඒකට පැමිණිය යුතු බව දකින ඤාණය), ඤාණ දර්ශන විසුද්ධියත් (නිවන මේකයි කියල දැනගෙන ප්‍රත්‍යක්ෂ කිරීමේ ඤාණය) යන සප්ත විසුද්ධියම පූර්ණ වෙලා මෝහය දුරු වෙනවා.

මේ අනුව සද්ධර්මය ශ්‍රවණයෙන් අනිච්ච, දුක්ඛ, අනත්ත අවබෝධ කරගත්තම සීල විසුද්ධිය ඇති වෙලා සත්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස කියන සංයෝජන තුනත් පහ වෙනවා. සිල් වතක් සමාදන් වෙලාවත්, මුලින්ම භාවනා කරලවත් මේ කාරණය සිද්ධ වෙන්න හේතු නෑ. නමුත් ඒවායින් ඒ සඳහා උපනිශ්‍රයක් ලැබෙනවා. සද්ධර්මය ශ්‍රවණය කරල සීල විසුද්ධියෙන් මේ සංයෝජන පහවුනාම තමයි චිත්ත විසුද්ධියෙන් ඇති වන සමාධිය තුලින් කාම රාග, පටිඝ (ඇලීම සහ ගැටීම) යන සංයෝජන පහවෙන්නෙ. චිත්ත විසුද්ධියෙන් ඇති වන සමාධිය තුල ප්‍රඥාව නැගිල සප්ත විසුද්ධිය පූර්ණ වෙන කොට ඒ ප්‍රඥාවෙන් රූප රාග, අරූප රාග, මාන උද්දච්ච, අවිද්‍යා කියන ඉතිරි සංයෝජන සියල්ලත් පහ වෙලා යනවා.

මේ අනුව සීල විසුද්ධිය ඇති කර ගත්ත කෙනෙක්, ඒ සීලය ආවර්ජනය කරන්න සුදුසු කර්මස්ථානයක් නිතර වඩන්න පුරුදු කර ගන්න ඕන. ඒ සඳහා සුදුසු කර්මස්ථානයක් පහත දක්වෙනවා.

**අවංක වෙමි**
(කායික වැරදිවලින් සංසිඳීම)

**පිරිසිදු වෙමි**
(වාචික වැරදිවලින් සංසිඳීම)

**පිවිතුරු වෙමි**
(මානසික වැරදිවලින් සංසිඳීම)

**පහසර වෙමි**
(නැවත නැවත භව සැරිසැරීම නතර කිරීම)

**සංසිඳවමි**
**සංසිඳවමි**
**සංසිඳවමි**
**සංසිඳවමි**
(සසරට බැඳෙන සංයෝජන සිඳ දමනවා)

මේ ආකාරයට ධර්මය ශ්‍රවණය කරල ආර්ය ශ්‍රාවකයෙක් වෙලා ඇති කර ගත්තු චිත්ත පාරිසුද්ධිය යළි යළි සිහි කරන කොට, අවස්ථා හතරකදි සුද්ධ භාවයට පත් වෙනවා. කෙනෙක් දැන ගෙන හිටියත් නැතත් ආර්ය ප්‍රථම ධ්‍යානයෙන් සුද්ධ වෙනවා, ආර්ය ද්විතීය ධ්‍යානයෙන් සුද්ධ වෙනවා, ආර්ය තෘතීය ධ්‍යානයෙන් සුද්ධ වෙනවා, ආර්ය චතුර්ථ ධ්‍යානයෙන් සුද්ධ වෙනවා. (මේ ධ්‍යාන කියන්නෙ ආර්ය හෙවත් ලෝකෝත්තර ධ්‍යාන) මනසේ සුද්ධතාවය තමන්ටම අත්දකින්න පුළුවන් වෙනවා.

මේ චිත්ත පාරිසුද්ධියෙන් මතුවන ප්‍රඥාව තුලින් ආර්ය ශ්‍රාවකයා අරිහත්වයට යනකල් මාර්ගය පූර්ණ කරනවා. චිත්ත පාරිසුද්ධියෙන් ඇති කර ගන්න කුසල සීලයෙන් එහාට මේ බුද්ධ ශ්‍රාවකයෙකුට කරන්න දෙයක් නෑ කියල බුදු පියාණන් වහන්සේ දේශනා කරනවා.

කුසල සීලය ඇත්තහුට අවිප්‍රතිසාරය (අවිපිළිසර බව හෙවත් විපිළිසර නොවීම) උපදීවායි චේතනාවෙන් කළ යුතු දෙයක් නැත, ලැබීම ධර්මතාවයක්.

අවිප්‍රතිසාරය ඇත්තහුට ප්‍රමෝදය (පරම උදය හෙවත් ලෝකෝත්තර පරමාර්ථය උදා කර ගැනීම) උපදීවායි චේතනාවෙන් කළ යුතු දෙයක් නැත, ලැබීම ධර්මතාවයක්. ප්‍රමුදිතයාට පස්සද්දිය (හිත කය සැහැල්ලු බව) ඇති වේවායි චේතනාවෙන් කළ යුතු දෙයක් නැත, ලැබීම ධර්මතාවයක්. පස්සදිය ඇත්තහුට ප්‍රීතිය ඇති වේවායි චේතනාවෙන් කළ යුතු දෙයක් නැත, ලැබීම ධර්මතාවයක්. ප්‍රීති මනසක් ඇත්තහුට සුඛය උපදීවායි චේතනාවෙන් කළ යුතු දෙයක් නැත, ලැබීම ධර්මතාවයක්. සුඛය ඇත්තහුට සමාධිය උපදීවායි චේතනාවෙන් කළ යුතු දෙයක් නැත, ලැබීම ධර්මතාවයක්. සමාධිය ඇත්තහුට යථාභූතව දනිමියි දකිමියි චේතනාවෙන් කළ යුතු දෙයක් නැත, ලැබීම ධර්මතාවයක්. යථාභූතව දන්නහුට දක්නහුට නිර්වේදයට (මිදීමට) පත්වේවායි චේතනාවෙන් කළ යුතු දෙයක් නැත, ලැබීම ධර්මතාවයක්. නිර්වේදයට පත්වූවහුට විරාගය ඇති වේවායි චේතනාවෙන් කළ යුතු දෙයක් නැත, ලැබීම ධර්මතාවයක්. විරාගිකයාට විමුක්තියට පත්වෙමියි චේතනාවෙන් කළ යුතු දෙයක් නැත, ලැබීම ධර්මතාවයක්. විමුක්තියට පත්වූවහුට විමුක්ති ඤාණ දර්ශනය පසක් කරමියි චේතනාවෙන් කළ යුතු දෙයක් නැත, ලැබීම ධර්මතාවයක්.

මෙසේ ධර්මයෝම ධර්මයෝ පවත්වයි, නිර්වාණ පරතෙරට යාම සඳහා ධර්මයෝම ධර්මයෝ පුරවයි, චේතනාවෙන් කළ යුතු දෙයක් නැත. (න චේතනා කරණීය සූත්‍රය - සංයුක්ත නිකාය)

ඒ අනුව දස්සනය (දර්ශනය) තුලින් ධර්මාවබෝධය ලබාගෙන, ඒ ලැබූ ධර්මාවබෝධයට අනුව ගැලපෙන කර්මස්ථාන වඩන කොට, ඒ හේතුවෙන් ලැබෙන්නා වූ ඵලය වන සමාධිය තුලින් ප්‍රඥාව පහළ කරගත්තම සීල, සමාධි, ප්‍රඥා ගුණ පූර්ණ වෙලා තමන්ගෙ අරමුණ වන ශාන්ත වූ (ස්ව + අන්ත - මමත්වය කෙළවර කිරීම) ප්‍රණීත වූ (පර + න + හිත - ලෝකයට හිත බැඳෙන්නෙ නැති ස්වභාවය) නිවන උදා කර ගන්න පුළුවන් වෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඇල්. අමරසිංහ**
**විශ්‍රාමික ලංකා බැංකු ජ්‍යෙෂ්ඨ කළමනාකරු**
**පිළියන්දල**

# සියලු අණවින කොඩිවින, භූත අමනුස්ස දෝස නසන

# දස දිසා බන්ධන බුද්ධාරක්ෂාව....

පිරිත් පොතේ අතිරේක පිරිත් කාණ්ඩ යටතේ එන දස දිසා බන්ධන පිරිත හෙවත් චූලජින පඤ්ජර පිරිත කියන්නෙ පැරැණ්නන් භාවිතා කරපු මහ බලවත් බුද්ධාරක්ෂාවක්. නමුත් පසු කාලීනව යම් යම් භාෂා ව්‍යාකරණවල සුළු සුළු වෙනස්කම් සහිතව ආකාර කිහිපයකින් පැවතෙන මේ වටිනා බුද්ධාරක්ෂාව අද වෙන කොට බොහෝ කොටම නිවැරදි භාවිතාවෙන් ඈත් වෙමින් පවතිනවා. මේ කාලයේ තියෙන විවිධාකාර අණවින කොඩිවින, හදි හූනියම්, නීච බන්ධන, භූත අමනුස්ස දෝස ආදිය නිසා හෙම්බත් වෙලා ඉන්න මනුස්ස වර්ගයාට මහඟු ප්‍රතිඵල අත් කර ගන්න පුළුවන් මේ වටිනා බුද්ධ ආරක්ෂාව මීට පෙර හෙළ බොදු පියුම 18 වන කලාපයෙන් අර්ථ සහිතව ඉදිරිපත් කළා. පැරණි පොත්වල සටහන් වෙලා තිබ්බ්ච ක්‍රමවේදයක් තමයි එදා ඉදිරිපත් කළේ. නමුත් ඒවා ලිඛිතව සටහන් වෙලා තිබිල සමහර අවස්ථාවල යම් යම් වෙනස්වීම්වලට භාජනය වෙලා එන්න පුළුවන්. ඒ වගේ අවස්ථාවලදි වඩාත්ම නිවැරදිම සහ ඵලදායීම ක්‍රමවේදය තමයි තෝර ගන්න ඕන. ඒ වගේ එක් ක්‍රමයක් තමයි 18 වන කලාපයෙන් ඉදිරිපත් කළේ.

නමුත් ඊටත් වඩා වැඩිපුරම සාර්ථක ක්‍රමයක් තමයි සුළු සුළු වෙනස්කම් සහිතව මේ ඉදිරිපත් කරන්නෙ. විශේෂයෙන් පාලි භාෂාව පිළිබඳ හොඳ දැනුමක් තියෙන භාවනානුයෝගී කිවුල්දෙණියේ විජිතානන්ද ස්වාමීන් වහන්සේ ඇසුරින් ඒ ගැලපීම් බලල කලින් ඉදිරිපත් කරපු පිරිතේ සුළු සුළු අඩුපාඩු සකස් කරල, ඒ වගේම ඒ නිවැරදි ක්‍රමවේදය මෙකල ප්‍රායෝගිකව යොදා ගන්නා ආකාරය ඥාන ගෝචර ක්‍රමයකට පහදා දෙන වහරක අභයරතනාලංකාර හිමියන් ඇසුරින් තමයි මේ වඩාත් සාර්ථකම ක්‍රම වේදය අද මේ විදියට ඉදිරිපත් කරන්නෙ. මේ ක්‍රමය අනික් සියලු ක්‍රමවලට වඩා බලවත්. ඒ නිසා වඩාත් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්.

**<u>දස දිසා බන්ධන බුද්ධ ආරක්ෂාව</u>**

දිසාසු දස භාගේසු - ඨිතා බුද්ධානු භාවතෝ
වේරාපි අන්තරායාපි - විනස්සන්ති අසේසතෝ
ඒවමාදි ගුණෝපේතං - පරිත්තං තං භණාමහේ
පදුමුත්තරෝ පුරත්ථිමායං - අග්ගිම්හි චේව රේවතෝ
දක්ඛිනේ කස්සපෝ බුද්ධෝ - නෙරුතේච සුමංගලෝ
පච්ඡිමේච සිඛී බුද්ධෝ - වායව්‍යා මේධංකරෝ
උත්තරේ පියදස්සීච - ඊසානේ දීපංකරෝ
පඨව්‍යා කකුසන්ධෝච - ආකාසේ සරණංකරෝ
ඒවං දස දිසා චේව - සබ්බේ බුද්ධා පතිට්ඨිතා
අච්චන්තරායා සබ්බේ තේ - සෝක රෝග භයාපිච
විනස්සන්තු සදා තුය්හං - සබ්බිරියා පථේසුච
යක්ඛාදි දේවතාහීච - රාජ චෝරාරි අග්ගිහී
අමනුස්සේහි සබ්බේහී - තිරච්ඡාන ගතේහිච
ජාතා උපද්දවා සබ්බේ - විනස්සන්තු අසේසතෝ
සිරස්මිං තේ බුද්ධ සෙට්ඨෝ - සාරිපුත්තෝච දක්ඛිනේ
වාමංසේ මොග්ගල්ලානෝ - තේ පුරතෝ පිටකත්තයං
පච්ඡිමේ තව ආනන්දෝ - චතුද්දිසා ඛීණාසවා
සමන්තා ලෝක පාලාච - ඉන්ද දේවෝච බ්‍රහ්මච
ඒතේසං ආනුභාවේන - සබ්බූපද්ද චුපද්දවා
අනේකා අන්තරායාපි - විනස්සන්තු අසේසතෝ
පරිත්තස්සානු භාවේන - සබ්බ රෝග විනස්සතු
සබ්බ භය විනස්සතු - සබ්බ වින විනස්සතු
සබ්බන්තරාය විනස්සතු - සබ්බාකාර වින හිර
බන්ධන විනස්සතු
සාදු.................. සාදු..... .............. සාදු..................

එතකොට මේ පිරිතෙන් ගෙවල් දොරවල් ඇතුළු භූමිය ආරක්ෂාවට වැඩ කර ගන්න තමන්ටම පුළුවන්. හැබැයි එතනදි **ඉස්සෙල්ලම ගෙවල් ආරක්ෂාව ආරම්භ කරන කොට, මෙතෙක් කලක් දොළොස් පිරිකරක් එක්ක සාංඝික දානයක් සහ ඥාති බතක් දෙන්න බැරි වෙච්ච උදවිය ඉන්නව නම්, හෙළ බොදු පියුම 27, 28, 29 කලාපවලින් ඉදිරිපත් කරපු විදියට ඒ කටයුත්ත මුලින්ම කරගෙන ඉන්න ඕන. නමුත් මේ වෙන කොටත් ඒ කටයුත්ත සිද්ධ කරපු අයට නැවතත් ඒක නොකර මේ ආරක්ෂාව කර ගන්න පුළුවන්.**

දැන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන් ඇයි එහෙම කරන්න ඕන කියල. හුඟක් දුරට දැන් ගෙවල්වල තියෙන අමනුස්ස දෝස කිව්වම තියෙන්නෙ, පෙර ඉඳන් යම් කිසි විදියක අසාධාරණයෙන් කටයුතු කිරීම නිසා ඒ භූමියට සම්බන්ධ මළගිය අයගෙන් සිද්ධ වෙන දෝස. සමහර විට මියගිය ඥාතීන් හදාපු ගේ දොර, වවා හදාගත් ඉඩ කඩම්, වතු පිටි, ගස් කොළං ආදියෙන් එදා ඒ අය තමන්ගෙ අයට හරි හම්බ කරල දුන්න මිසක් හරි හැටි පිනක් දහමක් නොකළා වෙන්න පුළුවන්. එහෙම නැත්නම් ඒවා උපාදාන කරගෙන ඉඳල මිය පරලොව ගියා වෙන්න පුළුවන්. ඒ නිසා ඒ වගේ අය මරණින් මතු අතරමං වෙලා ඉන්න පුළුවන්. ගන්ධබ්බ අත්බැව්වලට වෙලා තවමත් පිනක් දහමක් කරගන්න බැරිව, යන එන මං නැතිව එදා හිටපු භූමිවලටම අරක් ගෙන තමන්ගෙ ඥාති හිතමිත්‍රාදීන් ඇසුරෙ ඉන්න පුළුවන්.

එතකොට ඒ අය යමක් දැන් බලාපොරොත්තු වෙනවා. ඒ අයට අවශ්‍ය කන බොන ආහාර නැත්නම් ඒ ☞

අයගෙ හිමිකමවත් අඩු ගානෙ දෙන්න ඕන. එහෙම නැත්නම් ඒ අයගෙන් නොයෙක් කරදර එන්න පුළුවන්. එදා ඒ අය ගෙවල් දොරවල් හදල, ගල් වැටි බැඳල, කාණු කපල, ගස් කොළං වවල, වැව් අමුණු බැඳල, කුඹුරු අස්වද්දල ඒ විදියෙ කරපු වැඩ කටයුතුවලින් අද ඉන්න අය ප්‍රයෝජන ගන්නවා. එතකොට අද ඉන්න අයගෙ යුතුකමක් තියෙනවා, ඒ මිය පරලොව ගිය ඥාති හිතමිත්‍රාදීන්ට අද තනියෙන් කරගන්න බැරි දේවල්වලට උදව් කරල දෙන්න. ඒ අය එදා හරිහැටි පිනක් දහමක් කරගන්නෙ නැතිව ඒවා උපාදාන කරගෙන ඉන්න ඇති. නමුත් ඒක වෙනම පැත්තක්. අද ඉන්න අය ආදි පරපුර කරපු දේවල්වලින් කකා බිබී ජීවත් වෙනව නම් ඒ අයට අවශ්‍ය යුතුකම ඉටු කරල දෙන්න ඕන.

මෙන්න මේ හේතුව නිසා තමයි ඉස්සෙල්ලම ඥාති බතක් සමග සාංඝික දානයක් දෙන්න ඕන වෙන්නෙ. එතකොට ඒ මියගිය අයට ඒක ලබාගන්න හේතු තියෙනවා. ඒ අය යමක් තමන්ගෙ ඥාති පරපුරට කරල දීල තියේ නම්, දැන් ඒ ඥාතීන් දෙන දේවල් ගන්නත් ඒ අයට උරුමයක් තියෙනවා. ඒ නිසා ඒ ඥාති බතත්, සාංඝික දානයේ පිනත් ඒ අයට උරුමයි. ඒක නොකර ගෙදරට, භූමියට යම් ආරක්ෂාවක් කළොත් ඒ අය සාප කරන්න පුළුවන්. අපිට ඉන්නත් නෑ, දැන් යන්න තැනකුත් නෑ, කොටු වෙලා, කන්න බොන්නත් නෑ .... ආදී වශයෙන් අඳෝනා නගමින් ඒ අය සාප කරන්න පුළුවන්. මොකද මේ ආරක්ෂා යොදන කොට අමනුස්සයින්ට ඉන්න බෑ. ඒ සමහර අයගෙ ශරීරවල තියෙන්නෙ දූෂ්‍ය කළු කිරණ. ඒ ශරීර අඳුරුයි. ඉතින් මේ ආරක්ෂාවෙන් එන සෙත් කිරණ ඒ අයගෙ අඳුරු ශරීරවලට වදින කොට පිච්චෙනවා, දැවෙනවා. එතකොට සාප කර කර අයින් වෙනවා. ඒ නිසා ඒ අය දහම තුලින්ම සුද්ද වෙලා පින් අනුමෝදන් වෙන්න පුළුවන් තැනට චිත්ත ප්‍රසාදයෙන් ආවම, ඒ අයගෙ ශරීර දිලිසිලා ඒ කළු කිරණවලින් හැදිල තියෙන ශරීර සුද්ද වෙන්න පටන් ගන්නවා. එතකොට ඒ අයගෙ ආශිර්වාදයත් ලැබෙනවා, කරදරයක් එන්නෙත් නෑ.

ඒ වගේම මේ අවස්ථාවෙදි තවත් කාරණයක් පින්වතුන්ට මතක් කරල දෙන්න ඕන. මේ හෙළ බොදු පියුම දහම් සඟරාවෙ පළවෙච්ච ඥාති බත සමග දොළොස් පිරිකර සහිත සාංඝික දානයක් දීමේ ක්‍රමවේදය, පසුගිය දවසක එක්තරා භික්ෂූන් වහන්සේ නමක් විසින් එක්තරා ගුවන් විදුලි නාලිකාවකින් පාළු ගෙයි වළං බිඳිනව වගෙයි විවේචනය කරල තිබුණා. එතනදි උන් වහන්සේ පුන පුනා විවේචනය කරපු කාරණයක් තමයි බුද්ධ පූජාව සහ සාංඝික දානය දෙන්න ඉස්සෙල්ල පෙරේතයින්ට කන්න බොන්න දීම. ඒ වගේම බුදුන් වහන්සේ මේ විදියට පෙරේතයින්ට කන්න බොන්න දෙන්න කියල දේශනා කළේ නැති බවත් උන්වහන්සේ සඳහන් කරල තිබුණ. මේ කාරණය සම්බන්ධයෙන් ත්‍රිපිටක දහමට අනුකූල සම්පූර්ණ විස්තරයක් හෙළ බොදු පියුම 8, 27, 28, 29 කලාපවලින් දැනටමත් ඉදිරිපත් කරල තියෙන නිසා ඒ ගැන නැවතත් සඳහන් කිරීම අනවශ්‍ය වුනත්, මේ කියපු භික්ෂූන් වහන්සේ විසින් පිංවත් පිරිස් ගොනාට ඇන්දවීමට ගත් උත්සාහය නිසාත්, සමහර පින්වතුන් ඒ ගැන වැරදි වැටහීමක් ඇති කර ගෙන නොමග යන්න පුළුවන් නිසාත්, එහෙම වුනොත් ඒ අයටම අවාසියක් වෙන්න පුළුවන් නිසාත් තමයි මේ කාරණය මේ විදියට ඉතාමත් කෙටියෙන් සටහන් කරන්නෙ.

මේ සඟරාවෙ ඒ කලාපවලින් පැහැදිලිවම සටහන් කරල තිබ්බෙ කාරණයක් තමයි, මේ ඥාති බත (පෙරේත තටුව) සමග සාංඝික දානය එකට හදන්න එපා, අඩු ගානෙ සාංඝික දානයේ බත් ඇටයක් හෝ ඉඳුල් පොඩ්ඩක්වත් ඥාති බතට සම්බන්ධ කර ගන්න එපා, සුද්ධ ඇතිවම වෙන වෙනම දාන දෙක සකස් කර ගන්න කියන කාරණය. ඒ වගේම ඒ සාංඝික දානය ඉඳුල් කරන්න එපා කියලත් පැහැදිලිවම සටහන් කරල තිබුණා. ඊට අමතරව මේ දාන දෙක දෙන්නෙ අවස්ථා 2 කදි, ස්ථාන 2 කදි කියන කාරණයත් පැහැදිලි කරල තිබුණා. ඒ තරම් දුරට කරුණු පැහැදිලි කරල තියෙද්දිත්, උන් වහන්සේ ඒ කාරණය වසං කරල පිංවතුන් ගොනාට අන්දවන්න උත්සාහ කරල තියෙනවා. එතකොට උන් වහන්සේ මේ කාරණය අල්ල ගෙන, බුද්ධ පූජාව ප්‍රමුඛ සාංඝික දානයට පෙර, පෙරේතයින්ට කන්න දෙන්න කියල මේ සඟරාවෙන් කියල තියෙනව කියල ඒ විදියෙ තර්කයක් මතු කරනව නම්, මේ ගෙවල්වල දානෙ දෙන කිසිම පිංවතෙකුට බුද්ධ පූජාව සහ සාංඝික දානය දෙන්න පෙර, ඒකත් එක්ක මුහු නොකර තමන්ට වෙනම ආහාර වේලක් උයාගෙන කන්නවත් අයිතියක් නෑ. මොකද ගෙදරක දවල් සාංඝික දානයක් දෙනව නම්, ඒ ගෙදර උදවිය උදේට වෙනම තමන්ට කියල ආහාර වේලක් උයාගෙන කාල තමයි වැඩ කරන්නෙ. එතකොට උන්වහන්සේගෙ මේ තර්ක වාදය අනුව ඒ වගේ දේකටවත් අවසර නෑ. එතකොට ඒක කාගෙ බණක්ද? කාගෙද ඒ ක්‍රමය?

ත්‍රිපිටක දහමේ එන කතාවක් අනුව, ඒ කාලෙ හිටපු එක්තරා උපාසක මහත්තයෙක් හැමදාම බුදුන් වහන්සේ හෝ භික්ෂූන් වහන්සේ නමක් පිණ්ඩපාතෙ වඩියි කියල බලාපොරොත්තුවෙන් තමන්ගෙ ආහාර වේල ප්‍රමාද වෙලා ගන්න සිරිතක් තිබුණා. දවසක ඔහොම බලාපොරොත්තුවෙන් සෑහෙන වෙලාවක් බලාගෙන හිටියත් කවුරුවත් පිණ්ඩපාතෙ වැඩියෙ නෑ. ඉතින් බලාගෙන ඉඳල බඩගින්නත් වැඩි වෙච්ච නිසා ආහාර ගන්න පටන් ගත්තා. නමුත් එදා පුදුම සිද්ධිය කියන්නෙ, ලොවුතුරා බුදුන් වහන්සේ පිණ්ඩපාතෙ වැඩියා. දැන් මේ උපාසක මහත්තයට කර කියා ගන්න දෙයක් නෑ. "අයියෝ මෙච්චර වාසනාවන්ත අවස්ථාවක් ලැබිලත් බඩගින්නට යටත් වෙලා මට වෙච්ච දේක හැටි! මම දැන් පංගුවෙන් භාගයක්ම කාල ඉන්නෙ. දැන් උන් වහන්සේට මම මොනව දෙන්නද? වෙන පූජා කරන්න දේකුත් නෑ. මෙච්චර කලක් මම බඩගින්නෙ ඉඳල හරි මගේ පංගුව පූජ කරල තමයි හිටියෙ. ඒත් අද මට වෙච්ච දෙයක්!" මෙහෙම දුක් වෙලා වැඳ ගෙන ගිහින්, අනේ ස්වාමීනි මට මෙහෙම දෙයක් සිද්ධ වුනා කියල මේ වෙච්ච සිද්ධිය කිව්වා. එතකොට බුදුන් වහන්සේ කියනවා, උපාසකය තථාගතයන් වහන්සේට පංගුවේ මුල, මැද, අග කියල ප්‍රශ්නයක් නෑ, ඔබ කැමති නම් පූජ කරන්න කියල. එහෙම කියල ඒ අවස්ථාවෙ උන්වහන්සේ ඒ ඉඳුල් කරපු දානෙ පිළිගත්තා. බලන්න එතන තියෙන වෙනස. ලොවුතුරා බුදුන් වහන්සේට දෙන දානයක් තිබිල, ඒකෙ ඉඳුල් කරපු භාගයටත් උන් වහන්සේ එහෙමයි කිව්වෙ.

දැන් මේ කියන්න යන්නෙ තමන් කාල ඉවර වෙලා ඉතිරි වෙන පංගු කොටේ පූජා කරන්න කියන එක නෙවෙයි. නමුත් තථාගතයන් වහන්සේගෙ ස්වභාවය නම්, ඒ වගේ දෙයක් වුනත් ප්‍රතික්ෂේප නොකිරීම. ඒ වුනත් ඒ පූජාව ඉහළින්ම කරන එක අපේ යුතුකමක්. ඒ නිසා තමයි බුද්ධ පූජාව ප්‍රමුඛ සාංඝික දානය ගෞරවයෙන් කරන්නෙ. නමුත් අර වගේ අවස්ථාවක් වරදක්, පාපයක් කියල අහක දාන්න පුළුවන් කමක් නෑ. තමන් ආහාර වේල පරිභෝග කරමින් ඉන්න වෙලාවක හෝ, භික්ෂූන් වහන්සේ නමක් පිණ්ඩපාතෙ වැඩියොත්, වෙනත් දෙන්න දෙයක් නැත්නම්, තමන් පරිභෝග කරපු ඉඳුල් ටික පිඟානෙන් පැත්තකට කරල හරි, ඉතිරිය පූජා කරන්න පුළුවන්. ඒකෙ කිසිම වරදක්, පාපයක් නෑ. භික්ෂූන් වහන්සේලාට එහෙම වළඳන්න විනය පිටකයෙත් අවසර තියෙනවා. ඒ බව පැහැදිලිවම පෙන්වල තියෙනවා.

ඒ නිසා බුද්ධ පූජාව, සාංඝික දානය ගරුත්වයෙන් කරන එක වෙනම දෙයක්. එතකොට මේ සඟරාවෙන් පෙන්වා දුන්නෙ ඊටත් වඩා මහ ගරුත්වයකින් බුද්ධ පූජාව සමග සාංඝික දානය දෙන ක්‍රමයක්. ඒ නිසා තමයි වෙළඳ සැලෙන් අමුද්‍රව්‍ය මිලදී ගත්ත වෙලේ පටන්, ඒ බුද්ධ පූජාව ප්‍රමුඛ සාංඝික දානයට ගන්න අබමල් රේණුවක තරම් දෙයක්වත් ඉඳුල් කරන්න එපා, ඥාති බතට මුහු කරන්න එපා කියල පෙන්නුවෙ. අඩු ගානෙ ඒ දානෙ සකස් කරගන්න යොදාගන්න හැන්දක්වත් ඒ කටයුතු ඉවර වෙනකල් වෙනත් දේකට පාවිච්චි කරන්න එපා කිව්වෙ ඒකයි. පෙරේතයින්ට තියා ඉන්න මිනිස්සුන්ටවත් ඒක ඉඳුල් කරන්න දෙන්න එපා කිව්වෙත් ඒ ගරුත්වය නිසා. එච්චර පැහැදිලිව විස්තර කරල දීලත්, විමර්ශන බුද්ධියෙන් තොරව කියන මේ වගේ කතා කොච්චර මුලා සහගතද?



ඒ වගේම බුදුන් වහන්සේ අමනුස්සයින්ගෙ සිතට ආහාර දෙන්න කිව්ව මිසක්, ගතට ආහාර දීල නිදහස් කරන ක්‍රමයක් දේශනා කළේ නැති බවත් මේ භික්ෂූන් වහන්සේ ඒ දේශනාවෙදි සඳහන් කරල තිබුණා. ජානුස්සෝනීය සූත්‍රය හරියට විමර්ශන බුද්ධියෙන් කියෙව්ව නම් නැණ නුවණ තියෙන කෙනෙකුට ඒ කාරණය පහසුවෙන් තේරුම් ගන්න පුළුවන්. ඒ සූත්‍ර දේශනාවට අනුව කරපු පූර්ණ විග්‍රහයක් හෙළ බොදු පියුම 8 වන කලාපයෙන් ඉදිරිපත් කරල තියෙන නිසා නැවතත් ඒ ගැන සටහන් තැබීම අනවශ්‍යයි. නමුත් ඒ ගැන කෙටියෙන් යමක් කතා කළොත්, එදා ජානුස්සෝණිය බමුණා, මේ මළගිය ඥාතීන් උදෙසා දෙන බත ඒ අය ගන්නවද කියල බුදුන් වහන්සේගෙන් අහනවා. ස්ථානයේ ගනියි, අස්ථානයේ නොගනියි කියල උන් වහන්සේ උත්තර දෙනවා. ඊළඟට ස්ථානය මොකක්ද, අස්ථානය මොකක්ද කියල අහනවා. ඒ මියගිය අය දෙවියෙක් වෙලා උපන්නොත් දෙවියො දිව්‍ය ආහාරයෙන් ජීවත් වෙනව මිසක් මේ ආහාරය ගන්න එන්නෙ නෑ, තිරිසන් වෙලා උපන්නොත් ඒත් ඔය ආහාරය ගන්න එන්නෙ නෑ, යම් කිසි විදියකින් නිරයට ගිහින් උපන්නොත් ඒ නිරි ආහාරයෙන් ජීවත් වෙනව මිසක් ඔය ආහාරය ගන්න එන්න පුළුවන් කමක් නෑ. එතකොට මෙතනදි මේ කන බොන ආහාරයක් ගැන කියන්නෙ කියන කාරණය පැහැදිලිවම පෙන්වනවා. ඒ කියන්නෙ පරදත්තුපජීවීන් කියන, අනුන් දෙන දේකින් යැපෙන ඥාති ප්‍රේත කොටසක් ඉන්නවා. අන්න ඒ අයට මේ දෙන ආහාරය ස්ථානය වෙනව කියලයි මේ පෙන්වන්නෙ. ඊළඟට අහනවා, එහෙම ඥාතීන් නොසිටියොත් මොකද වෙන්නෙ කියල. මේ අනන්ත සංසාරෙ එහෙම නොවෙච්ච කෙනෙක් නැති බවත්, එවැන්නක් සිදු නොවන්නක් බවත් උන් වහන්සේ දේශනා කරනවා. ඒ කියන්නෙ කවුරු හරි ඥාති ප්‍රේත කොටසක් ඇවිත් ඒ ආහාරය ගන්නවා.

ඉතින් මෙච්චර පැහැදිලිව දේශනා කරල තියෙද්දීත්, ඒ කාරණය වසං කරල සමහරු කියනවා, ඒ මළගිය අය එන්නෙ ඒ ආහාරය ගන්න නෙවෙයි, ඒ දෙන පින ගන්න කියල. නමුත් එහෙම කිව්වත් ඒ අය තවත් පැත්තකින් කොටු වෙනවා. එතකොට දෙවියො පින් ගන්නෙ නැද්ද? දානයක් දීල දෙවියන්ට පිං දෙන කොට, මියගිය කෙනා දෙවියෙක් වුනා නම් ඒ අය දේව ආහාරයෙන් ජීවත් වෙනව මිසක් ඔය පිං ගන්න එන්නෙ නෑ කියල කිව්වොත් ඒක හරිද? ඒ දෙන ආහාරය ගන්නෙ නැති වුනාට, පින් ගන්න එන්නෙ නැද්ද? දැන් මේ කාරණය ඔප්පු වෙන තැනක් අංගුත්තර නිකායේ 4 වන කාණ්ඩයේ 372 පිටුවේ එන නන්දමාතු සූත්‍රයෙන් පෙන්වා තියෙනවා. ඒ කාරණය මීට පෙර කලාපයක සටහන් කරල තියෙන නිසා නැවතත් සටහන් කිරීම අනවශ්‍යයි. ඒ නිසා විමසුම් බුද්ධියෙන් තොරව, ත්‍රිපිටකයවත් බලන්නෙ නැතිව කරන මේ වගේ මුලා කතාවලට රැවටෙන්න එපා කියන කාරණය දැනුම් දෙන්න තමයි ඒ ගැන කෙටියෙන් මේ විදියට සටහන් කළේ.

දැන් මේ බුද්ධාරක්ෂාව ජීවම් කර ගන්න සූදානම් කරන කොට පළමුවෙන්ම, තමන් ඉඳගත්තම පපු මට්ටමට විතර එන මේසයක් තියල ඒක උඩ සුදු රෙද්දක් එළා ගන්න පුළුවන් නම් වඩා හොඳයි. තමන්ට ඉඳ ගන්න ඊට ගැලපෙන පුංචි පුටුවක් තියාගන්න පුළුවන්. ඒ මේසය උඩ සාමාන්‍ය පොල් තෙල් පහනක් සහ හඳුන් කූරක් දල්වල වැඩේ ආරම්භ කරන්න සූදානම් වෙන්න පුළුවන්. ඊට ඉස්සෙල්ල මේ පිරිතෙන් ජීවම් කරගන්න පොල්තෙල්, සුවඳ දුම් කුඩු සහ මුහුදු වැලි සකස් කරගන්න ඕන. හොඳට හිඳවපු පොල් තෙල් ගෙදර හදාගෙන හෝ වෙළඳ සැලකින් හෝ වෙනත් හිඳවන තැනකින් හෝ අරගෙන ඒකට දෙහි කැල්ලක් හීනියට කපල දාල වියළි කහ කුඩු හෝ අමු කහ කෑලි ටිකක් සහ පිරිසිදු සුදු හඳුන් කුඩු ටිකක් එකතු කරගන්න ඕන. ඊට පස්සෙ ඒක ලිපේ තියල දෙහි කෑලි ටික රන් වන් පාටට හුරු වෙනකල් රත් කරගෙන පෙරා ගන්නවා. අන්න ඒ විදියට හදා ගත්තු පොල් තෙල් තමයි මේ පිරිතෙන් ජීවම් කරන්න ගන්නෙ. පළවෙනි ජීවමට ඒ වගේ සකස් කරගත්තු පොල් තෙල් බෝතලයක් විතර තිබ්බම ප්‍රමාණවත්. අවශ්‍ය වෙලාවට ගන්න වැඩිපුර තෙල් සකස් කර ගෙන වෙනම පැත්තකින් තියා ගත්තත් කමක් නෑ. ඒ වගේම ජීවම් කරන කොට මේ තෙල් ටික බෝතලයක තියන්නෙ නැතිව ටිකක් කට ලොකු භාජනයක තියා ගත්තොත් වඩා හොඳයි. මොකද පිරිත කියන කොට ශබ්ද ශක්තිය හොඳට වදින්නත් ඕන නිසා. ඒ වගේම ඉරටුවකින් කලවම් කරමින් ජීවම් කරන නිසා ඒ වැඩේ කරන්නත් පහසු වෙනවා.

ඊළඟට මුහුදු වැලි ටිකක් වෙනම භාජනයකට අර ගෙන ඒකටත් සුදු හඳුන් කුඩු සහ කහ ටිකක් යන්තමට මිශ්‍ර කර ගන්නවා. ඊට පෙර ඒ මුහුදු වැලි ටික හෝදල වේලල ගන්න පුළුවන් නම් වඩාත් හොඳයි. එතනදි තමන්ගෙ වත්තෙ පිටියෙ, නිවසෙ ප්‍රමාණයේ හැටියට අවශ්‍ය වැලි ප්‍රමාණය ගන්න පුළුවන්. පර්චස් 10 - 15 ක ඉඩමක් නම් සාමාන්‍යයෙන් මුහුදු වැලි කිලෝ 1 ක් විතර ප්‍රමාණවත්. ඊට ටිකක් ලොකුවට තියේ නම් කිලෝ 3 - 4 ක් ගත්තත් කමක් නෑ. වැඩිපුර ගත්තයි කියල ගැටළුවක් නෑ. ඊළඟට තවත් භාජනයකට සුවඳ දුම් කුඩු ටිකක් තියා ගන්නවා. දැන් මේ භාජන 3 ම අර සකස් කර ගත්ත මේසය උඩ තමයි තියන්නෙ. ඊළඟට ඉරටු කෑලි 3 ක් අරගෙන මේ භාජන ☞

3 ට වෙන වෙනම දාල, තුන් නූලක් (නූල් පොටවල් 3 ක් ) අරගෙන ඒකෙ එක කෙළවරක් පොල් තෙල් භාජනයේ තියෙන ඉරටු කැල්ලෙ ඔතා ගන්නවා. අනෙක් කෙළවර මූදු වැලි මිශ්‍ර භාජනයේ සහ සුවඳ දුම් කුඩු භාජනයේ තියෙන ඉරටු කැලිවල පටලව ගන්නවා. හැබැයි මෙතනදි ජීවම් පිරිත කියන කොට පොල් තෙල් භාජනයේ තියෙන ඉරටු කැල්ල අල්ල ගෙන රවුමට කලවම් කර කර ජීවම් කරන නිසා, අනෙක් භාජන දෙකේ තියෙන ඉරටු කැලි 2 ඇදෙන්නෙ නැති වෙන්න ටිකක් දුරින් ඉඩ ඇතිව තියා ගන්න ඕන. ජීවම් කරන කොට අතින් අල්ල ගන්නෙ පොල් තෙල් භාජනයේ තියෙන ඉරටු කැල්ල විතරයි. අනෙක් භාජන 2 ටත් නූල පටලවල තියෙන නිසා ඒවා අල්ල ගන්න අවශ්‍ය නෑ. ඒවටත් නූල දිගේ ගිහින් ශක්තිය කා වදිනවා.

දැන් දස දිසා බන්ධන පිරිතෙන් ජීවම් කරන්න පටන් ගන්න පෙර වැඳ ගෙන නමස්කාරය තුන් වතාවක් කියල, ඊළඟට පොල් තෙල් භාජනයේ තියෙන ඉරටුවෙන් කලත කලත මේ සටහන් කරල තියෙන විදියට පිරිතෙන් ජීවම් කරන්න පටන් ගන්නවා. පිරිත කියල ඉවර වෙන හැම වතාවකදිම සාදු කාර 3 ක් දෙනවා. මෙතනදි ඉස්සෙල්ලම නමස්කාරයෙන් පස්සෙ දස දිසා පිරිත එක වතාවක් කිව්වම, නැවතත් ඊළඟ වතාවෙදි කියන කොට නමස්කාරය කියන්න අවශ්‍ය නෑ. ඒ වටය පටන් ගන්න කොට විතරක් නමස්කාරය කිව්වම ප්‍රමාණවත්. ඊළඟට දිගටම ජීවම් පිරිත නැවත නැවතත් කියා ගෙන යනවා. ඒ විදියට පළවෙනි ජීවමේදී මේ පිරිත එක දිගට හත් වතාවක් කියා ගෙන යන්න ඕන. එතනින් පස්සෙ පළවෙනි ජීවම සම්පූර්ණයි.

දැන් මේ ජීවම් කරගත්තු මුහුදු වැලි ටික ගෙදර ඇතුලෙ සහ වත්තෙ පිටියෙ වටේ ඇතුලෙ හැම තැනම විසිරෙන්න ඉහිනවා. මෙතනදි වැලි ඉහින ක්‍රම රටාවක් තියෙනවා. ඉස්සෙල්ලම ගෙයි මැද සාලය ප්‍රදේශයෙන් පටන් ගෙන ඊට පස්සෙ තමයි ගේ ඇතුලෙ විහිද ගෙන කාමරවලටත් ක්‍රමානුකූලව ඉහින්නෙ. ඊට පස්සෙ ගේ වටේට ඉහින්න ඕන. ඊළඟට තමයි ගේ මිදුලට, වත්ත පිටියට ඉහින්නෙ. ඒ කියන්නෙ අමනුස්සයො ඉන්නව නම් ඒ අය කොටු වෙන්නෙ නැති වෙන්න මැද ඉඳල තමයි විහිදිලා යන විදියට ඉහින්නෙ. මැද ඉඳන් පටන් ගෙන අන්තිමට වත්තෙ හතර මායිමට යනකල්ම ඉහිනවා. නමුත් ඉස්සෙල්ල හතර මායිමට ඉස්සොත් එහෙම ඇතුලෙ ඉන්න අමනුස්සයො කොටු වෙන්න පුළුවන්. එතකොට ඒ අයට යන්න විදියක් නෑ. ඒ නිසා ඒ අයට යන්න ඉඩ හරින්න තමයි අර විදියට ඉහින්නෙ. මැද ඉඳල පටන් ගෙන පිළිවෙලට වටේට ඉහගෙන යන කොට ඒ වගේ කොටු වෙන්නෙ නෑ. ඒ වගේම ගේ ඇතුලෙ වැලි ඉහින කොට දොර ජනෙල් ඇරල තියන්න ඕන. එතකොට තමයි අමනුස්සයො ඉන්නව නම් ඒ අයට බාධාවකින් තොරව යන්න පුළුවන් වෙන්නෙ.

ඒ වගේම ගේ ඇතුලෙ ඒ ජීවම් වැලි ඉස්සට පස්සෙ තුන් යමක් (පෙරයම, මැදියම, පසුයම) හෙවත් වරුවක් යන කල් ඒව අතුගාල ගෙයින් එළියට ඉවත් කරන්නෙ නෑ. මොකද මේ වැලිවල තියෙන කිරණ ශක්තිය හරියට වැඩ කරන්න එච්චර වෙලාවක් තියෙන්න ඕන. නමුත් ගේ ඇතුලෙ වැලි ඉහල පැයක් විතර ගියාට පස්සෙ, ඒ වැලි ටික අතුගාල එළියට විසි නොකර ගේ ඇතුලෙම මුල්ලකින් තියන්න පුළුවන්. එහෙම තියල වරුවකින් පස්සෙ ඒ ටික අතුගාල එළියට හරි වත්තෙ කොහේ හරි තැනකට ඉවත් කරන්න පුළුවන්. වරුවක් කිව්වම උදේ ඉස්ස නම් දවල්, හවස පහු කරල රෑ වෙන කොට එළියට දාන්න පුළුවන්. ඒ විදියට මේ ජීවම් කරගත්තු මූදු වැලි ටික එක දවසින්ම පාවිච්චි කරල ඉවර කරනවා. ඒ වගේම සුවඳ දුම් කුඩු ටික උදේ හවස වේල් දෙකම හෝ එක වේල බැගින් හෝ ගෙදර ඇතුලෙ සහ ගේ වටේට දුම් අල්ලන්න ගන්නවා. එතකොටත් වැලි ඉහින ක්‍රමයටම සාලෙ මැද ඉඳල ක්‍රමානුකූලව විහිදෙන විදියට තමයි දුම් අල්ලන්නෙ. ඒ විදියට එක දිගට දින 7 ක් මේ දුම් අල්ලනවා. එතනදි වත්ත පිටියට දුම් අල්ලන්න අවශ්‍ය නෑ.

ඒ වගේම ඒ ජීවම් තෙල්වලින් බුදු පහන දින 7 ක් එක දිගට රෑ දවල් දෙකේම පත්තු කරනවා. ඒ කියන්නෙ එක දිගටම නිරන්තරයෙන් පත්තු කරල තියනවා. ඒ අතර වාරයේ නිවුනොත් එහෙම නැවතත් පත්තු කරනවා. ඒ විදියට දින 7 ක් පත්තු කරල ඉවර වෙන්න පෙර, දින 5 ක් විතර ගියාට පස්සෙ නැවත වාරයක් කලින් විදියටම අලුතින් පොල් තෙල්, මූදු වැලි, සුවඳ දුම් ආදී බඩු ලැයිස්තුව සකස් කර ගන්නවා. එහෙම සකස් කර ගෙන අර හත් දවසකට ජීවම් කරගත්තු තෙල්වලින් ඉතිරි දින 2 කට බුදු පහන පත්තු කරන්න ප්‍රමාණවත් තෙල් ටිකක් අරන් තියාගෙන, ඉතිරි වෙන තෙල් භාජනයට නැවතත් අර විදියට හදා ගත්තු අලුත් තෙල් මිශ්‍ර කර ගන්නවා. මේ දෙවෙනි අවස්ථාවෙදි ජීවම් පිරිත 14 වතාවක් කියල ඒකෙන් දින 14 ක් බුදු පහන පත්තු කරන්න ඕන නිසා කලින්ට වඩා ටිකක් වැඩි තෙල් ප්‍රමාණයක් එකතු කරගත්තට කමක් නෑ. ඊළඟට මූදු වැලි සහ සුවඳ දුම් කුඩුත් අර පළවෙනි වතාවෙදි වගේම වෙනම භාජන 2 කට ගන්නවා. ඒ වගේම මෙතනදි සුවඳ දුම් කුඩුත් දින 5 ක් අල්ලල ඉතිරි දින 2 ට අවශ්‍ය ප්‍රමාණය වෙනම අරන් තියා ගෙන තමයි අර වගේම ඒ ඉතිරි භාජනයට අලුත් සුවඳ දුම් කුඩු මිශ්‍ර කර ගන්න ඕන. ඒ නිසා දින 14 කට දුම් අල්ලන්න ප්‍රමාණවත් විදියට සුවඳ දුම් කුඩු ගන්න ඕන. නමුත් මුහුදු වැලි එක වතාවක් පමණක් පාවිච්චි කරන නිසා වැඩිපුර ගන්න අවශ්‍ය නෑ. පළමු වතාවෙදි ගත්තු ප්‍රමාණයම දෙවන වතාවෙදිත් ගන්න පුළුවන්. ඒ වගේම පළමු ජීවමට ගත්තු මූදු වැලි දෙවනි ජීවමට මිශ්‍ර කර ගන්න අවශ්‍ය නෑ. ඒ ජීවමේ වැලි සම්පූර්ණයෙන්ම එක දවසින් පාවිච්චි කරනවා.

එතකොට දෙවන වතාවට ජීවම් කරන්න පටන් ගන්නෙ අර දවස් 7 න් 5 ක් විතර ගියාම. මොකද එක ජීවමකින් කෙරෙන ආරක්ෂාව අවසන් වෙනවත් එක්කම ඊළඟ ජීවමෙන් කෙරෙන ආරක්ෂාවත් පටන් ගන්න ඕන නිසා, ඒ ආරක්ෂාවන් අඛණ්ඩව කර ගෙන යන්න ඕන නිසා. එතනදිත් ඉස්සෙල්ලම නමස්කාරය 3 වතාවක් කියල ඊට පස්සෙ තමයි ජීවම් පිරිත එක දිගට 14 වතාවක් කියන්නෙ. ඒ විදියට දෙවන ජීවමත් සම්පූර්ණ කර ගත්තට පස්සෙ අර කලින් පළවෙනි ජීවමේ තෙල්වලින් ඒ දින 7 ම බුදු පහන පත්තු කරල ඉවර වුනාම, අට වෙනි දවසෙ ඉඳන් තමයි මේ දෙවන ජීවම් තෙල්වලින් බුදු පහන පත්තු කරන්න පටන් ගන්නෙ. ඒ විදියට දින 14 ක් එක දිගට දෙවන තෙල්වලිනුත් පහන පත්තු කරනවා. ඒ වගේම ඒ මුල් දින 7 ඉවර වුනාම 8 වෙනි දවසෙ ඉඳල කලින් වගේම දෙවන වතාවෙදි ජීවම් කරගත්තු සුවඳ දුම් කුඩු ටිකත් දින 14 ක් එක දිගට දුම් අල්ලනවා. ඒ වගේම මූදු වැලි ටිකත් ගෙට සහ වත්තට ඉහිනවා. ඒකත් අර වගේම වරුවක් යන කල් ඉවත් කරන්නෙ නෑ.

ඊළඟට මේ දෙවන ජීවම් තෙල්වලින් දින 14 ක් බුදු පහන පත්තු කරල ඉවර වෙන්න දවස් 2 කට විතර කලින්, ඒ කියන්නෙ දින 12 ක් විතර පහන පත්තු කළාට පස්සෙ 3 වන ජීවම පටන් ගන්නවා. එතනදිත් දින 14 න් ඉතිරි දින 2 කට පහන පත්තු කරන්න ප්‍රමාණවත් තෙල් ටිකක් වෙන් කරල තියාගෙන, ඉතිරි තෙල් ටිකට අර විදියටම අලුතින් සකස් කර ගත්තු පොල් තෙල් මිශ්‍ර කර ගන්නවා. ඒ වගේම සුවඳ දුම් කුඩුත් දින 14 න් දින 2 කට ප්‍රමාණවත් වෙන්න වෙන් කරල ඉතිරි ටිකට අලුතින් සුවඳ දුම් කුඩු මිශ්‍ර කර ගන්නවා. මූදු වැලිත් කලින් වගේම අලුතින් සකස් කර ගන්නවා. මේ තුන් වන ජීවමත් මුලින්ම නමස්කාරය 3 වතාවක් කියල අර විදියටම පටන් ගන්නවා. ☞

ඊළඟට ජීවම් පිරිත එක දිගට 21 වතාවක් කියල ඒ තුන් වන ජීවමත් අවසන් කර ගන්නවා. ඒ ජීවමෙන් පස්සෙ අර කලින් දින 14 ඉවර වෙනවත් එක්කම 15 වන දවසෙ ඉඳන් මේ තුන් වන ජීවමෙන් හදා ගත්තු මුදුවැලි ගෙටයි වත්තටයි අර විදියටම ඉහිනවා. සුවඳ දුම් කුඩු දින 21 ක් දුම් අල්ලන්න ගන්නවා. තෙල්වලින් බුදු පහන දින 21 ක් එක දිගට පත්තු කරනවා.

එහෙම දින 21 ම පත්තු කරගෙන යන කොට 19 වන දිනයෙදි විතර අර කලින් වගේම ඉතිරි දින 2 පත්තු කරන්න ප්‍රමාණවත් තෙල් ටිකක් අරන් තියල, ඉතිරි ටිකට කලින් විදියටම හදාගත්තු අලුත් පොල් තෙල් වැඩි ප්‍රමාණයක් මිශ්‍ර කර ගන්නවා. සුවඳ දුම් කුඩුත් ඒ වගේම දින 2 කට ඉතිරි කරල ඉතිරි වෙන ටිකට අලුතින් මිශ්‍ර කර ගන්නවා. ඒ වගේම මුදු වැලිත් කලින් විදියටම අලුතින් හදා ගන්නවා. මේ 4 වෙනි ජීවමත් දස දිසා පිරිතෙන් අර විදියටම 28 වතාවක් ජීවම් කර ගන්නවා. ඒ ජීවමෙන් ලැබෙන මුදු වැලි ටිකත් අර දින 21 ඉවර වුනාට පස්සෙ 22 වන දවසෙ ඉඳන් කලින් විදියටම ගෙට සහ වත්තට ඉහල සුවඳ දුම් කුඩුවලින් දින 28 ක් දුම් අල්ලනවා. ඒ වගේම 22 වන දවසෙ ඉඳන් මේ 4 වෙනි ජීවමෙන් හදා ගත්තු පොල් තෙල්වලින් දින 28 ක් බුදු පහන පත්තු කරනවා. ඒ දින 28 ත් ඉවර වෙන්න දින 2 ක් විතර තියා ඉතිරි දින 2 ට පත්තු කරන්න ප්‍රමාණවත් පොල් තෙල් ටිකක් අරන් තියල, ඉතිරි භාජනයට අලුතින් හදාගත්තු පොල් තෙල් වැඩි ප්‍රමාණයක් මිශ්‍ර කර ගන්නවා. සුවඳ දුම් කුඩුත් දින 2 කට වෙන් කරල ඉතිරි ටිකට අර වගේම අලුතින් එකතු කර ගන්නවා. මුදු වැලිත් කලින් වගේම අලුතින් හදා ගන්නවා. ඒ විදියට 5 වන ජීවමත් මේ දස දිසා පිරිතෙන් 108 වරක් ජීවම් කර ගන්නවා.

දැන් අර කලින් කරපු ජීවමෙන් හදාගත්තු සුවඳ දුම් කුඩු දින 28 ක් දුම් අල්ලල, පොල් තෙල්වලින් දින 28 ක් බුදු පහන පත්තු කරල ඉවර වුනාම ඊළඟ දවසෙ ඉඳල මේ 5 වන ජීවමෙන් හදා ගත්තු මුදු වැලි ටිකත් කලින් විදියටම පාවිච්චි කරනවා. සුවඳ දුම් කුඩු ටිකත් ඉවර වෙනකල්ම පාවිච්චි කරනවා. ඒකට නියමිත දින ගණනක් නෑ. ඒ වගේම ඒ තෙල්වලින් නොකඩවා තෙල් ටික ඉවර වෙනකල්ම බුදු පහන පත්තු කරනවා. මේ 5 වන වතාවෙදි සකස් කර ගත්තු ජීවම් තෙල්වලින් පහන පත්තු කරන්න ඕන නියමිත දින ගණනක් නෑ. ඒ තෙල් ටික සම්පූර්ණයෙන්ම ඉවර වෙන කල් බුදු පහන උදේ හවා පත්තු කරනවා. තවත් අවශ්‍ය නම් ඒ තෙල් ටික අවසන් වෙන්න කිට්ටු වෙන කොට කලින් වගේම අලුතින් තෙල්, වැලි, සුවඳ දුම් ජීවම් කර ගන්න පුළුවන්. හැබැයි මේ අවස්ථාවෙදි අර කලින් 108 ක් ජීවම් කරල හදාගත්තු තෙල්වලට අලුත් පොල් තෙල් මිශ්‍ර කරන්න අවශ්‍ය නෑ. ඒ පරණ තෙල් ටික ඉවර වෙන කල්ම පහන පත්තු වෙන්න ඇරල නැවතත් අලුතින්ම තෙල් ගන්න පුළුවන්. ඒ වගේම සුවඳ දුම් කුඩුවලටත් කලින් ඒවා මිශ්‍ර කරන්න අවශ්‍ය නෑ. ඒ විදියට ඊළඟ වතාවෙදිත් 108 වරක් තමයි ජීවම් පිරිතෙන් ජීවම් කරන්නෙ. ඒ අවස්ථාවෙදිත් තෙල්, වැලි, සුවඳ දුම් අර විදියටම පාවිච්චි කරන්න පුළුවන්. ඒවත් ඉවර වෙන කොට අවශ්‍ය නම් තවත් අලුතින් තෙල්, මුදු වැලි, සුවඳ දුම් කුඩු කලින් විදිහටම සකස් කරගෙන නැවතත් 108 වතාවක් ජීවම් කර ගෙන අර විදියටම පාවිච්චි කරන්න පුළුවන්. ඒ විදියට 108 ජීවම්වලින් මාස 3 න් 3 ට අවශ්‍ය ප්‍රමාණයට පොල් තෙල්, සුවඳ දුම් කුඩු, මුදු වැලි අරගෙන ජීවම් කරගත්ත නම් වඩාත් පහසුයි.

ඉතින් ඔය විදියට මුල් ජීවම් වාර 5 අවසන් වුනාට පස්සෙ අවශ්‍ය නම් තමන්ට කැමති වාරයක් 108 බැගින් ජීවම් කර ගෙන දිගටම මේ බුද්ධ ආරක්ෂාව කර ගන්න පුළුවන්. එහෙම නැත්නම් 5 වෙනි අවස්ථාවෙදි 108 ජීවමෙන් අවසන් කරන්නත් පුළුවන්. ඒ විදියට දිගටම කර ගෙන යන කොට ක්‍රමයෙන් තමන්ගෙ ගෙදර, වත්ත පිටිය සුද්ද වෙලා යනවා. නැවතත් ඒ වගේ වස් දොස් කරන්න බැරිව යනවා. අමනුස්සයින්ට ඇතුල් වෙන්නත් බැරි වෙනවා. අලුතින් මිලදී ගත්තු ඉඩමක්, නිවසක් තියේ නම්, ඒ ස්ථානවලත් අර කලින් විදිහටම ඥාති බතක් එක්ක දොලොස් පිරිකර සහිත සාංඝික දානයක් දීල මේ ආරක්ෂාව යොදන කොට ඒවායේ තියෙන දෝසත් කැපිල සුද්ද වෙලා යනවා. මොන විදියෙ අණ වින, කොඩි වින, හදි හූනියම්, නීච බන්ධන ආදිය තිබුනත් ඒ සියලු වස් දොස් කැපිල යනවා. නැවත භූත අමනුස්ස දෝස එන්නෙත් නෑ. ඒ කියන්නෙ මේ බුද්ධාරක්ෂාවෙන් වස් දොස් කැපෙනවා, සෙත් වෙනවා, රැකවරණ දෙනවා, මේ සියල්ලම වෙනවා. හැබැයි මෙතනදි බැඳිල තියෙන බන්ධන, කොඩි වින, හදි හූනියම් ආදිය එකින් එක කැපෙන්න තමයි අර විදියට දින 7, 14, 21, 28, 108 ආදී වශයෙන් ක්‍රමයෙන් වැඩි කර ගෙන යන්නෙ. එහෙම නැතිව එක පාරටම කරන්න ගියොත් සැර වැඩි වෙලා ගෙදර ඉන්න අයට දරා ගන්න බැරි වෙන්න පුළුවන්, ඔරොත්තු දෙන්නෙ නැති වෙන්න පුළුවන්. ඒ නිසා තමයි කල් ඇරල ක්‍රමයෙන් ජීවම වර්ධනය කර ගෙන යන්නෙ.

මොකද මේ අමනුස්සයින්ගෙ තියෙන ආකර්ශන ගති සමහර විට ගෙවල්වල ඉන්න සමහර උදවියටත් බැඳිල තියෙන්න පුළුවන්. ඒ වගේ වෙලාවක ඒ ආකර්ශන ගති කැපෙන්න බලවත් කිරණ ශක්තියක් එක පාරටම දුන්නොත් එහෙම, ඒ කිරණ ඒ වගේ පුද්ගලයින්ගෙ ශරීර ගත වෙලා, ජීර්ණ වෙලා තියෙන කලු කිරණ එක පාරටම වේගයෙන් පිච්චෙන්න පටන් ගන්නවා. එතකොට ඒ අයට ඔළුවෙ කැක්කුම්, කලන්ත කැරකිලි වගේ එන්න පුළුවන්. ඒ වගේම නිතර තරහ යන කෙනෙක් ඉන්නව නම් ඒ අයගෙ ඒ ගති ලක්ෂණ තවත් වැඩි වෙන්න පුළුවන්. ඒ නිසා එක පාරටම වේගයෙන් නොකර අර වගේ අනු පිළිවෙලට කරගෙන යන කොට එහෙම ගැටළු එන්නෙ නෑ.

ඒ වගේම මේ ජීවම කරන කොට විශේෂයෙන් ජීවම් කරන්න ඕන කාල වෙලාවක් නෑ. උදේ 9, 10, 11 ට පටන් ගන්නත් පුළුවන්. එහෙම නැත්නම් පාන්දර පටන් ගන්නත් පුළුවන්. රෑ 9 න් පස්සෙ නිදහස් වෙලාවක පටන් ගන්නත් පුළුවන්. ඒ විදියට තමන්ට නිදහස් ඕනෑම වෙලාවක් වෙන් කරගන්න පුළුවන්. ඒ වගේම මේ ජීවම විවිධ වාරවලදි කරන කොටත් ගෙදර එක්කෙනාම දිගටම කරන්න ඕන කියලත් නියමයක් නෑ. පළවෙනි ජීවම එක්කෙනෙක් කරල, ඕන නම් දෙවන ජීවම ඒ ගෙදර වෙන කෙනෙකුට කරන්නත් පුළුවන්. හැබැයි මේ පිරිත සටහන් කරල තියෙන විදියට පාඩම් කර ගන්න ඕන. මුලදි බලාගෙන කියන්නත් පුළුවන්. පසුව පාඩම් කරගෙන කියන්න පුළුවන් නම් වඩාත් හොඳයි.

ඒ වගේම ඕන නම් පිට කෙනෙකුට කියල මේ ජීවම කරගන්නත් පුළුවන්. හැබැයි එතකොට ඒ ජීවම කරන පිටස්තර කෙනා, ඒ ජීවමෙන් එන තෙල් ටිකක් තමන්ගෙ නළලෙ හෝ ඉස් මුදුනෙ ඉස්සෙල්ලම ගා ගන්න ඕන. ඒ වගේම ඒ ජීවමෙන් ලැබෙන තෙල් ටිකක්, සුවඳ දුම් කුඩු ටිකක් සහ වැලි ටිකක් අරගෙන ගිහින් තමන්ගෙ ගෙදර තියෙන තෙල්වලට, සුවඳ දුම් කුඩුවලට සහ වැලිවලට මිශ්‍ර කරල බුදු පහන දල්වල තමන්ගෙ ගෙදරට සුවඳ දුම් අල්ලන්න ඕන. ඒ වගේම ඒ වැලි ගෙදරට, වත්ත පිටියට ඉහින්න ඕන. ඒ වගේ එක වතාවක් හෝ කිහිප වතාවක් කර ගත්තම ප්‍රමාණවත්. මොකද ඒක කරන්නෙ තමන්ගෙ ආරක්ෂාවට. ඒ නිසා පිටස්තර කෙනෙක් ජීවම කරනව නම්, ඒ කරන කෙනා ඉස්සෙල්ලම තමන්ට සහ තමන්ගෙ ගෙදරට ඒ විදියෙ ආරක්ෂාවක් කරගෙන ඉන්න ඕන. එහෙම නොකර අනුන්ගෙ

ගෙවල් දොරවල් ආරක්ෂා කරන්න ගියොත් තමන්ට අමනුස්ස ආදීන්ගෙන් ප්‍රශ්න එන්න පුළුවන්.

අමතර වශයෙන් යම් කරුණු කිහිපයක් නැවතත් මතක් කළොත්, ජීවම් කරන වෙලාවට මේසය උඩ වෙනම පහනක් තමයි පත්තු කරන්නෙ. ඒකට ජීවම් තෙල් දාන්නෙ නෑ. බුදු පහන පත්තු කරන්න විතරයි ජීවම් තෙල් යොදා ගන්නෙ. ඒ වගේම මේ ජීවම් තෙල්, සුවඳ දුම් කූඩු, වැලි පාවිච්චි කරන අනුපිළිවෙලක් තියෙනවද කියල කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්. එහෙම අනුපිළිවෙලක් නැතත් ඉස්සෙල්ලම බුදු පහන පත්තු කරල ඊළඟට වැලි ඉසීම සහ සුවඳ දුම් කූඩු ඇල්ලීම වඩාත් සුදුසුයි. ඒ වගේම එක වතාවකදි ජීවම් කරල ලැබෙන වැලි එක වතාවෙන්ම පාවිච්චි කරල අවසන් කරනවා. බුදු පහන පත්තු කිරීම සහ දුම් ඇල්ලීම විතරයි අර විධියට නියමිත දින ගණන් කරන්නෙ. ඊළඟට විශේෂයෙන් භූමියේ වැලි ඉහින කොට පුළුවන් තරම් විහිදෙන්න ඒ වැලි ඉහින්න ඕන. හැබැයි ගෙදර හතර කොනේ ආරක්ෂා හතරක් වලදානව වගේ තැන් තැන්වල එහෙම ආරක්ෂා යොදන්නෙ නෑ. මොකද අමනුස්සයෙක් ආවොත් එහෙම හැම තැනින්ම පැනල යන්න ඉඩ තියෙන්න ඕන. නමුත් අර වගේ ආරක්ෂා යොදල තිබුනොත් ඒ අයට යන්න බැරිව හිර වෙන්න පුළුවන්. ඒ නිසා ඒ අයට යන්න නිදහස තියෙන්න ඕන. හැබැයි නිවසක තියන මුල් ගලට කරපු ආරක්ෂාවක් තියේ නම් ඒක ගැටළුවක් නෑ. මොකද ඒකෙන් හතර මායිම් කොටු වෙන්නෙ නෑ.

ඒ නිසා කලින් කරපු ප්‍රබල ආරක්ෂාවක් තියේ නම් ඒක කඩල ඉවත් කරන එක වැඩිය හොඳයි. නමුත් ඉතින් අද කාලෙ ආරක්ෂාවල් කියල කිව්වට බොහෝ කොටම මහ ප්‍රබල ආරක්ෂාවල් නම් නෑ. මොකද හුගක් තැන්වල කරන්නෙ ආරක්ෂා කරනවයි කියල මොනව හරි තාවකාලික ඇස් බැන්දුමක් කරල මුදල් කීයක් හරි ගන්න එක. ඒ වගේ ආරක්ෂාවල් එච්චර කලක් අල්ලල හිටින්නෙ නෑ, තාවකාලිකයි. ඒ නිසා සාමාන්‍ය ආරක්ෂාවල් නම් මේ ක්‍රමයෙන් කැපිල ඉවත් වෙන නිසා ගැටළුවක් නෑ. නමුත් මේ ක්‍රමය අනුගමනය කරන්න පෙර අලුතින් ආරක්ෂාවල් දාන්න යන්න එපා. මොකද ඒ වගේ ආරක්ෂාවක් දැම්මොත් ඒ සීමාවෙ ඉන්න අමනුස්සයො කොටු වෙන්න පුළුවන්. ඒ නිසා කලින් කවුරු හරි එහෙම ආරක්ෂාවක් කරල ඒ සීමාවට අමනුස්සයො කොටු වෙලා ඉන්නව නම් ඇත්ත වශයෙන්ම ඒක ගලවල ඉවත් කිරීම වඩා හොඳයි. එතනදි සිවු කොන් ආරක්ෂාවක් නම් කොහෙන් හරි ඒ ආරක්ෂාවල්වලින් එක ආරක්ෂාවක් ගලවල ඉඩ ලබාදුන්නත් ප්‍රමාණවත්. අට කොන් ආරක්ෂාවක් නම් එක ලඟ තියෙන ආරක්ෂාවල් දෙකක් වත් ගලවල දාන්න ඕන. සමහරවිට ඒ වගේ ආරක්ෂාවක් ගලවපු හැටියෙම අමනුස්සයින්ට නිදහස් වෙලා යන්න බැරි වෙන්න පුළුවන්. මොකද එතනදි කිරණ වළල්ලක් හැදෙන නිසා. ඒක ඉතින් ආරක්ෂාවෙ ප්‍රබලත්වය අනුව වෙනස් වෙනවා. නමුත් ටික කලක් යන කොට ඒ කිරණ වළල්ල ඉවත් වෙන නිසා ගැටළුවක් නෑ.

ඒ වගේම සමහරු, අමනුස්සයො අයින් කරල දාල යම් කිසි ආරක්ෂාවක් දානවා. එතකොට ආරක්ෂාව බලවත්ව තියෙන කල් ඒ අමනුස්සයින්ට ඒ සීමාවෙන් ඇතුලට එන්න බෑ. ඒ වගේ අවස්ථාවකදි නම් කිසිම ගැටළුවක් නැතිව මේ ආරක්ෂාව කර ගන්න පුළුවන්. නමුත් සමහරු ප්‍රබල ආරක්ෂාවල් දානවයි කියල මේ කාරණය හරියට නොදන, අමනුස්සයො ඒ සීමාවෙ ඇතුලෙ රිංග ගෙන ඉඳෙද්දිම වටේට ආරක්ෂා යොදනවා. එතකොට ඒ අමනුස්සයින්ට යන්න එන්න විදියක් නෑ, කොටු වෙනවා. ඒ නිසා ඒ වගේ අවස්ථාවක මේ වගේ ආරක්ෂාවක් කරන්න පෙර, ඒ අයට ඉවත් වෙන්න නිදහස ලබා දෙන්න ඕන.

දැන් මේ වගේ අවස්ථාවක් එක්තරා පන්සලක හාමුදුරු නමකට සිද්ධ වුණා. එක්තරා කට්ටඩි මහත්තයෙක් ඇවිත් ඒ පන්සලේ ආරක්ෂාවක් දාල ගියා. මේ පන්සලේ ඉන්න හාමුදුරුවො සැතපෙන්න ගියාමත් නිතරම වගේ දැහැත් විට වළඳනවා. දවසක් එහෙම දැහැත් විටක් වළඳල පඩික්කමට කෙළ ගහන කොට පිරිසක් මරළතෝනි දෙන සද්දයක් ඇහුනලු. නමුත් ඒ සද්දය කොහෙන් එනවද කියල හිතා ගන්න බැරිලු. ඉතින් මේ සද්දය මොකක්ද කියල බලන්න තව ටික වෙලාවක් ඉඳල නැවතත් පඩික්කමට කෙළ ගැහුවලු. එතකොටත් අර සද්දයම ඇහුනලු. ඊට පස්සෙ මේ හාමුදුරුවො කල්පනා කරල බැලුවලු, පඩික්කමට කෙළ ගහන කොටම මේක වෙන්නෙ ඇයි කියල. ඒ නිසා පඩික්කමට කන් දීගෙනම ඉඳල කෙළ ගැහුවලු. බලන කොට පඩික්කමෙන්ලු සද්දෙ එන්නෙ. හරියට ශබ්ද විකාශන යන්ත්‍රයකින් එනව වගේ දෝංකාර දීගෙන පඩික්කමෙන් හඬ එනවලු. ඊට පස්සෙ උන් වහන්සේ පඩික්කම ගෙනිහින් කෙළ ටික මිදුලට විසි කරල හෝදල නැවතත් ගෙනත් තියල කෙළ ගැහුවලු. ඒත් අර විදියටම සද්දෙ එන්න පටන් ගත්තලු. පස්සෙ බැරිම තැන මේ ආරක්ෂාව කරපු කට්ටඩි මහත්තය හමු වෙන්න ගිහින් විස්තරය කිව්වලු. ඊට පස්සෙ ඒ කට්ටඩි මහත්තයගෙ ගුරුන්නාන්සෙ වගේ ඉන්න ලොකු කට්ටඩි මහත්තය හමු වෙන්න ගිහින් මේ කාරණය කිව්වම, අමනුස්සයො පිට කරල නෙවෙයිද ආරක්ෂාව දැම්මෙ කියල ඇහුවලු.

ඉතින් බලන්න අර මහ ගුරුන්නාන්සෙ ගුරු මුෂ්ටී තියාගෙන තමයි තමන්ගෙ ගෝලයට මේ ක්‍රමය දීල තියෙන්නෙ. දැන් මේ වටේ දැම්ම ආරක්ෂාව සැර වැඩි නිසා ඒ සීමාව ඇතුලෙ හිටපු අමනුස්සයින්ට ඒක දරාගන්න බැරි වුණා, පිච්චෙන්න ගත්තා. ඒ නිසා පඩික්කමට රිංග ගත්තා. මොකද පිට හිටියොත් පිච්චෙනවා. නමුත් මොනව හරි හේතුවක් නිසා පඩික්කම පිච්චෙන්නෙ නැති තැනක් වුණා. ඒ නිසා උන් ඔක්කොම ඇවිත් පඩික්කම ඇතුලට රිංග ගත්තා. ඊට පස්සෙ ඒක ගෙනිහින් හෝදල දැම්මට උන් ටික එළියට බැස්සෙ නෑ. මොකද එළියට බැස්සොත් පිච්චෙන නිසා. ඒ නිසා කිව්ව පඩික්කම පිටින්ම පන්සල් වත්ත සීමාවෙන් එළියට ගෙනිහින් හෝදල දාන්න කියල. උන් වහන්සේ එහෙම කළාට පස්සෙ තමයි අර අමනුස්සයො ටික පැනල ගියේ. ඊට පස්සෙ අර සද්දෙ ආවෙත් නැතිලු. එතකොට කලින් පන්සල් වත්ත ඇතුලෙම විසි කරපු නිසා තමයි අමනුස්සයො ටික ඒකෙන් එළියට බැස්සෙ නැත්තෙ. මොකද ආරක්ෂාව නිසා පිච්චෙනවා. ඉතින් ආරක්ෂා සීමාවෙන් පිටට ගෙනිච්චම ඒ ගැටළුව නැති වුණා. ඒ නිසා ගෙවල් දොරවල් ආරක්ෂා කරන උදවිය මේ කාරණයත් හොඳට දැනගෙන ඉන්න ඕන.

ඉතින් මේ විදියට මහ ලොකු වියදමක්, මහන්සියක් යොදන්නෙ නැතිව, තැන් තැන්වල ගිහින් එක එක්කෙනාට සාප කරන්නෙ නැතිව, සමහර කට්ටඩියො කරනව වගේ හිර වෙලා ඉන්න අමනුස්සයො තවත් බන්ධනවලට හිර කරල උන්ට වද දෙන්නෙ නැතිව, ඒ අමනුස්සයො නිදහස් කරල නියම විදියට ධර්මානුකූලවම කර ගන්න පුළුවන් මහා බලවත් බුද්ධාරක්ෂාවක් තමයි මේ ඉදිරිපත් කළේ. මේ වගේ ආරක්ෂාවකින් හැම පැත්තෙන්ම රැකවරණයක්මයි ලැබෙන්නෙ. කාටවත් අවැඩක්, අසාධාරණයක් වෙන්නෙ නෑ. ඒ නිසා කරගන්න පුළුවන් නම් මේ බුද්ධාරක්ෂාව හැමෝටම බොහොම වැදගත්.

(අමතර පැහැදිලි කිරීම් ඉදිරි කලාපයෙන්)

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 37**

# මැරෙන බහුතරය මරණින් පසු විඳින දුක්ඛිත තත්ත්වය ගැන සත්‍ය අත්දැකීම් ....



(පසුගිය කලාපයෙන් - මැරෙන බහුතරය සතර අපා ගත වන බව අත්දැකීමෙන්ම දැන ගන්නා....)

**- වහරක අභයරතනාලංකාර හිමි**

මනුස්සයො මේ ලෝකෙ ජීවත් වෙන කොට යම් යම් වස්තු සම්පත්, ඒ වගේම තමන් ප්‍රිය කරන පුද්ගලයින් අල්ල ගෙන බදාගෙන ලෝභකමින් ඉඳල මරණින් පස්සෙ මුහුණ දෙන අතිශය බේදජනක බියකරු තත්ත්වය සම්බන්ධයෙන් අභයරතනාලංකාර හිමියන් ලබපු තවත් අත්දැකීම් කිහිපයක් තමයි මේ විස්තර කරන්නෙ.

මේ සිද්ධිය මම මහණ වෙන්න ඉස්සෙල්ල එක්තරා ප්‍රදේශයක සාසනික කටයුතු කර ගෙන ඉන්න කොට වෙච්ච සිද්ධියක්. එක්තරා පන්සලක හිටපු භික්ෂූන් වහන්සේ නමක් ඒ පන්සල් වත්තෙ තිබිච්ච මොනව හරි ගහක් කපල, නැවතත් පන්සලේ ආවාස ගෙට එන්න දොර අරින කොටම යම් කිසි කෙනෙක් ආපස්සට තල්ලු කළා. ඒ කියන්නෙ දොර බාගයක් අරින කොටම නැවත ආපස්සට තල්ලු කරගෙන උන් වහන්සේ අනිත් අතට විසි වෙලා වැටුණා. භෞතිකව පිටින් බැලුවොත් හිතන්නෙ ඇතුලෙ කවුරු හරි ඉඳල තල්ලු කළා කියල. නමුත් නැගිටල බලන කොට ඇතුලෙ කවුරුවත් පේන්න නෑ. හැබැයි උන් වහන්සේ විසිවෙලා වැටෙන්න තරම් හයියෙන් දොර ආපස්සට තල්ලු වෙලා තිබුණා.

ඊට පස්සෙ මේ හාමුදුරුවො, මමත් දන්න කියන තවත් හාමුදුරු නමක් එක්ක මාව හමුවෙන්න ආවා. ඇවිත් විස්තරය කියල මොකද වුනේ කියල මගෙන් ඇහුවා. මම යොමු කරල බැලුවම මට පේනවා, ඒ පන්සලේ ඉස්සර වැඩ හිටපු තවත් අපවත් වෙච්ච හාමුදුරු නමක් දැන් ගන්ධබ්බයෙක් විදියට සිවුර නැතිව අඳන කඩය පිටින් ඉන්නවා. මේ ගන්ධබ්බ හාමුදුරුවො බොහොම තරහින් හිටියෙ. මට පේනවා මේ ගන්ධබ්බ හාමුදුරුවො අර විදියට දොර තල්ලු කරල එහෙම දෙයක් කළා කියලත්. මම ඉතින් ඒ ගන්ධබ්බය දිහාවට යොමු කරල ඇහුව, ඇයි ඔබ මෙහෙම දෙයක් කළේ කියල. එතකොට කියනවා, ඕක කාගෙ අවසරය ඇතිවද පන්සල් වත්තෙ ගස් කැපුවෙ කියල. හැබැයි අර හාමුදුරුවො ගස් කපපු කතාවක් මුලින් කිව්වෙ නෑ, තල්ලු කරපු කතාව විතරක් කියල මගෙන් මොකද වුනේ කියලයි ඇහුවෙ. ඉතින් මම ඊට පස්සෙ ඇහුව, මේ පන්සල් වත්තෙ ගස් කැපුව කියල ඉස්සර හිටපු හාමුදුරු නමක් කියන මේ කතාව මොකක්ද කියල. මේ පන්සලේ වැඩකට කොස් ගහක්ද මොකක්ද කැපුව කියල උන් වහන්සේ වැඩි ගානකට නැතිව කිව්වා. එතකොට අර ගන්ධබ්බ හාමුදුරුවො අහනව, එක ගහද කැපුවෙ ඔයිට ඉස්සෙල්ල කපපුව ඕකට මතක නැද්ද, ඒව කැපුවෙ මොකටද කියල.

දැන් ඉතින් ඒ ගන්ධබ්බ හාමුදුරුවො තරහින් අහන හැටියටම තමයි මමත් මේ හාමුදුරුවොත් එක්ක අනිත් අතට කියන්නෙ. එතකොට මං ගැන වැරදි වැටහීමක් ඇති කරගන්න පුළුවන් නිසා මම කිව්වා, හාමුදුරුවනේ මම ඔබ වහන්සේට එහෙම කතා කරනව නෙවෙයි, ඒ ගන්ධබ්බ හාමුදුරුවො කියන විදියට තමයි මම මේ ඔබ වහන්සේට කියන්නෙ කියල. ඊට පස්සෙ මේ හාමුදුරුවො කියනව, ඉස්සෙල්ල ගස් වගයක් කැපුව නම් තමයි, ඒව ඉතින් ඒ මොනව හරි වැඩකට තමයි කැපුවෙ කියල. ඊළඟට අර ගන්ධබ්බ හාමුදුරුවො නැවතත් කියනවා, ඕක මට ඉන්න කල් කන්න දුන්නෙ නෑ කියල. මටත් දැන් ඉතින් හිතා ගන්නත් බෑ මේ මොනවද කියන්නෙ කියල. ඒ නිසා මම මේ පන්සලේ හාමුදුරුවන්ගෙන් ඇහුවා, අනේ මං දන්නෙ නෑ මේ විදියට කියනවා, කන්න දුන්නෙ නැද්ද මොනවද මේ කියන්නෙ කියල. මොකද මේ බොරුවට කියනවද දන්නෙත් නෑ. ඒ නිසා මම කිව්වා, මම ඔබ වහන්සේට අපවාද කළා වෙයිද දන්නෙත් නෑ, නමුත් මෙන්න මෙහෙම දෙයක් මේ ගන්ධබ්බ හාමුදුරුවො කියනව කියල. නෑ නෑ කාරණය ඇත්ත තමයි කියල උන් වහන්සේම ඒ කතාව කිව්වා.

ඔය අපවත් වෙච්ච හාමුදුරුවන්ට දියවැඩියාව තිබුණා. ඉතින් උපාසක මහත්තුරු සීනි තියෙන කෑම ජාති ගෙනාවම උන් වහන්සේට අහුවුනොත් එහෙම වළඳනවා, ඒව ගණන් ගන්නෙ නෑ. මොනව ගෙනාවත් වළඳනවා. ඉතින් දානෙත් එක්ක ඒ වගේ කෑම ජාති ගේන කොට අපි උපාසක මහත්තුරුන්ට කියනවා, මේ හාමුදුරුවන්ට දෙන්න එපා හොඳ නෑ කියල. ඒ නිසා උන් වහන්සේට අපි ඒ හැම එකක්ම කන්න බොන්න දුන්නෙ නෑ. ඉතින් ඕව දුන්නෙ නැති වුනාම බේරෙන්න බෑ අපිට බණිනවා. දැන් මේ විදියට ඒ හාමුදුරුවො මාත් එක්ක කතාව කිව්වා. හැබැයි මේ දියවැඩියාව තියෙන බව ඒ අපවත් වෙච්ච හාමුදුරුවොත් දැන ගෙන හිටියලු. එහෙම දැනගෙනත් මේ හාමුදුරුවන්ට බණිනවලු, තොපි තමයි මට කන්න දෙන්නෙ නැත්තෙ කියල. ඉතින් ඔහොම ඉන්න කොට ඒ මොනව හරි අමාරුවකින් තමයි මේ හාමුදුරුවො අපවත් වුනේ. ඒ තරහට තමයි දැන් මේ පන්සලේ ඉන්න හාමුදුරුවන්ගෙන් පළිගන්නෙ.

හැබැයි මේ හාමුදුරුවන්ගෙ කය මළාට චුත වෙලා නෑ. ගන්ධබ්බ කයින් අර කලින් හිටපු විදියට ඉඳගෙන තමයි මේ පළිගන්නෙ. දැන් පන්සලේ අනික් අයටත් ඉන්න දෙන්නෙ නෑ විවිධ කරදර කරනවා. ඒ කියන්නෙ බලවත් අමනුස්සයෙක්. අමනුස්සයෙක් කිව්වට තවම සතර අපාගත අමනුස්සයෙක් නෙවෙයි, මනුස්ස ගන්ධබ්බයෙක්. අර කලින් ජීවත් වෙලා හිටපු විදියටම ඒ ආකාරයෙන්මයි සියුම් ශරීරය තියෙන්නෙ. භවයෙන් චුත වෙලා නෑ. දැන් ඉතින් මම මෙහෙම විස්තර ☞

කියාගෙන යද්දි අර මම දන්න හඳුනන හාමුදුරුවො මට අතින් සංඥා කරල කියනවා, හා හා දැන් ඇති වැඩිය අඳින්න එපා මහත්තයෝ කියල. මොකද වටේ කට්ටිය තවත් අහගෙන ඉන්න නිසා මේ ගන්ධබ්බ හාමුදුරුවො ඔක්කොම වමාරන්න ගත්තොත් එහෙම, අර හාමුදුරුවන්ට මුහුණ දෙන්න බැරි වෙනවා. ඔයගොල්ලො මෙහෙමයි කියල ඒ ගන්ධබ්බය තවත් කරුණු කාරණා කියන්න හදන කොටම තමයි මට සංඥා කරල කිව්වෙ කියන්න එපා කියල. මම ඉතින් කිව්වෙත් නෑ, එතනින් නතර කළා.

ඊට පස්සෙ, යං යං වැඩේ හරි මේකට මොකද කරන්නෙ කියල ඇහුවා. මම කිව්ව ඉතින් පඬුරු ගැට ගහල වෙනම මහ දානයක් දීල, බුද්ධ පූජාව තියල පුණ්‍යානුමෝදනාවක් කරල හරි බේර ගන්න වෙනව, මට වෙන කියන්න දෙයක් නෑ කියල. මොකද ඒ කාලෙ පින්වත් පිරිස් දානයක් ගෙනාවම, බුද්ධ පූජාව මුල් කර ගෙන පුණ්‍යානුමෝදනාවක් කරන ක්‍රමයක් තිබුණා. ඒක කරල මම පිං අනුමෝදන් කළාට පස්සෙ ඒ අයගෙ කාරණය ඉෂ්ට වෙනවා. ඒක එහෙම වෙනව කියන කාරණයත් මට අත්දැකීම්වලින් දැනගන්න පුළුවන් වුණා. නමුත් ඉතින් ගිහි වතේ ඉන්න අපිට දානයක් ගෙනත් දෙන්න කියල මට උන් වහන්සේට කියන්න බෑ. මොකද ලෝක සම්මතයේ භික්ෂූන් වහන්සේලා කියන්නෙ ගිහි වතක ඉන්න අයට වඩා ඉහළින් ඉන්න අය. ඒ නිසා උන් වහන්සේලාට ගිහියො දානෙ දෙනව මිසක් ගිහියන්ට උන් වහන්සේලා දන් දෙන සිරිතක් ලෝක සම්මතයෙ නෑ. ඒ නිසා ගිහි අයට එහෙම දෙයක් කිව්වට, භික්ෂූන් වහන්සේලාට එහෙම දෙයක් කරල පින් අනුමෝදන් කරන්න කියල මට කියන්න පුළුවන්කමක් නෑ. ඒ නිසා ඉතින් පුළුවන් විදියට කරගන්න කියල මම ඒ ක්‍රමය කියල දීල නිකං හිටියා.

දැන් ඉතින් මේ හාමුදුරුවො අපවත් වෙලා කොච්චර දාහයකින්ද ඉන්නෙ? හැබැයි චුත වෙලා පටිසන්ධි ලැබුව නම් ඒක අමතක වෙනවා. එතකොට කෙලින්ම ආගන්තුක අදහසක් ඇවිත් ඒ මානසිකත්වය තුළම පරිවර්තනය වෙනවා. නමුත් ඒත් හොඳ පැත්තට යයිද, නරක පැත්තට යයිද කියන්න බෑ. කොහොම හරි මේ අපවත් වෙච්ච හාමුදුරුවන්ට දැන් එහෙම පරිසරයක් නෑ. මොකද චුති-පටිසන්ධියක් නැතිව නිකම්ම කය මැරිල සූක්ෂම කය තමයි අහක් වෙලා තියෙන්නෙ. ඒ නිසා පෙර පැවැත්ම, ගති ලක්ෂණ තාමත් ඒ විදියටම තියෙනවා. මස් ලේ කරජ කය මැරිල මනෝන්ද්‍රියත් එක්කම සූක්ෂම කය තමයි දැන් තියෙන්නෙ. අන්න ඒ විදියට මස් ලේ කයින් ඉවත් වෙච්ච සූක්ෂම කෙනා තමයි මංසන්ධිවල ඉන්නවා, ගෙවල්වලට ආපහු යනව එනවා, දර මැහිවල අගුපිල්වල ඉන්නවා... ආදී වශයෙන් තිරෝකුඩ්ඩ සූත්‍රයේදී බුදුන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ. ඒ විදියට මස් ලේ ශරීරයෙන් අහක් වෙච්ච සූක්ෂම කායිකයා බාහිරින් ගන්ධය ඇසුරු කරන කොට තමයි ගන්ධබ්බ බවට පත් වෙන්නෙ. සූක්ෂම කබලිංකාර ආහාරයෙන් තමයි එතකොට ජීවත් වෙන්නෙ. ඒ සූක්ෂම කය මවු කුසකට ඇතුල් වෙලා තව දුරටත් සනීභවනය වෙලා තමයි මේ මස් ලේ කයක් හට ගන්නෙ. **ඉතින් මේ මස් ලේ කයින් අහක් වෙලා සූක්ෂම කයකින් ඉන්න කොට, ජීවත් වෙලා ඉඳෙද්දිට වඩා දැවෙනවා, තැවෙනවා. මොකද ජීවත් වෙලා ඉඳෙද්දි කරපු කියපුව දැන් තනියෙන් කරන්න කියන්න බෑ. එහෙම බැරි වෙන කොට විසාල අසහනයක්, දාහයක් එනවා.**

ඒ වගේම මට හමු වෙච්ච තවත් එක්තරා අමනුස්සයෙක්, ජීවත් වෙලා ඉන්න අය තමන්ගෙ අඩුපාඩුකම් කියල දොස් කියන කොට මෙහෙම කියනවා. ''මට මේ උහුල ගන්න බැරි අභූත විදියට දොස් කියන්න එපා. ඒ වෙලාවට මට එල්ලිලා මැරෙන්න හිතෙනවා. එල්ලිලා මැරෙන එක මීට වඩා හොඳයි. ඕකුන්ගෙන් අහන්න මම උන්ට මෙහෙම උදව් කරල නැද්ද කියල. ඇයි මට මෙහෙම දොස් කියන්නෙ?'' දැන් මේ ගන්ධබ්බ අමනුස්සය තමයි මෙහෙම කියන්නෙ. සමාධියට යොමු කළාම ඒ කියන දේවල් ඔක්කොම ඇහෙනවා. ඉතින් මම, ජීවත් වෙලා ඉන්න ඒ අයගෙ පිරිසට කිව්වා, එහෙම දොස් කියන්න එපා ඒ අයට ඒක දරාගන්න බෑ, ඒ දොස් කියන ඒවා ඔක්කොම ඇහෙනව කියල. ඒ නිසා මනුස්ස ලෝකෙ අය ඒ විදියට මැරිච්ච අයට බණින කොට, ඔය වගේ ගන්ධබ්බ අවස්ථාවක හිටියොත් ඒ කියන ඒව ඔක්කොම ඇහෙනවා. ඒ වගේ වෙලාවට ඒ අය විසාල මානසික දුකක් විඳිනවා. බණින කොට ඒ අයට හරි වේදනායි.

විසාල අනාථ තත්ත්වයකට පත් වෙලා ඉන්න පුද්ගලයෙකුට, ඒ අනාථ තත්ත්වයට පත් වෙලා ඉන්නව මදිවට බණින්න පටන් ගත්තම, අර ගහෙන් වැටුණු මිනිහට ගොනා ඇන්න වගෙයි තවත් දරා ගන්න බැරිව යනවා. නමුත් ජීවත් වෙලා ඉන්න අය හිතන්නෙ ඒ පුද්ගලය මැරිල ඉවරයි කියල. හැබැයි එහෙම හිතුවට ඒ අයට අපි කතා කරන, යන එන දේවල් හොඳට පැහැදිලිවම ඇහෙනවා, ජේනවා. ජීවත් වෙලා ඉන්න අය මොනව කිව්වත් ඒ වගේ ගන්ධබ්බ තත්ත්වයක ඉන්න අයට ඒව ඇහෙනවා. නමුත් ඉතින් මේ ලෝකෙ ඉන්න අය කියන දේවල් ඒ අයට ඇහුනට, ඒ අය කියන දේවල් මේ ලෝකෙ ඉන්න අයට ඇහෙන්නෙ නෑ. සමාධියක්, දිවකනක් හෝ යම්කිසි අමනුස්ස ආවේසයක් නැත්නම් ඒ වගේ දේවල් ලේසියෙන් අහන්න බෑ. කවුරුවත් කිව්වට මෙහෙම ඇහෙනව කියල හුඟක් අය පිළිගන්නෙත් නෑ. ඒ නිසා මීට පස්සෙ මැරිච්ච අයට බණින කොට මේ කාරණයත් දැන ගෙන ඉන්න එක හොඳයි.

ඒ වගේම මේ අමනුස්සයින්ගෙ මතකය හොඳට තියෙන බව මට අත්දකින්න ලැබිච්ච තවත් එක්තරා සිදුවීමකින් තහවුරු වුණා. ඒ කාලෙ හිටපු එක්තරා පිරිසක් එකට එකතු වෙලා කසිප්පු පෙරල, ගෝඩ බීල, ගංජ බීල, කුඩු ගහල ඔය වගේ දුරාචාර වැඩ කළා. ඔහොම ඉන්න කොට මේ පිරිසෙන් දෙන්නෙක් තරුණ වයසින්ම මළා. මැරිල ගන්ධබ්බයෙක් විදියට පිට වුණා. ඊට පස්සෙ මේ පිරිසටම සම්බන්ධ දෙන්නෙකුට ඒ ගන්ධබ්බයො දෙන්න ආවේස වෙලා ඒ අයගෙ ගෙදරක සාස්තර, ජේන කියන ආදී කටයුතු කරන්න දේවාලයක් පටන් ගත්තා. දැන් අර ගන්ධබ්බයො දෙන්න තමයි මේ තමන් එක්ක හිටපු දෙන්නෙකුටම ආවේස වෙලා සාස්තර කියන්නෙ. ඒ දෙන්න දේවාලයක් හදාගෙන විටින් විට ආවේස වෙලා තමන් ළඟට එන පිරිසගෙ විවිධ කටයුතු කරල දෙනවා. ඉතින් දවසක් ඔහොම ආවේස වෙලා කටයුතු කරන වෙලාවක පොලිසියෙනුත් සාස්තරයක් අහන්න ආවා. නමුත් මේ අය හිතුවෙ ඉස්සර වගේ මොනව හරි තමන්ගෙ වරදකට අල්ල ගෙන යන්න ආව කියල. දැන් මේ දෙන්න ආවේසයෙන්ම දෙන්නට දෙන්න කතා වෙනවා. මචං වැඩේ කොටු වෙන්නයි යන්නෙ, පොලිසියෙන් එනව වගේ.... මේ ආදී වශයෙන් එහෙම කියල අර ගන්ධබ්බයො දෙන්න පොලිසියට බයේ මේ අයගෙ ශරීරවලින් අහක් වෙලා පැනල යනවත් එක්කම, ආවේසෙ නැති වෙලා අර සාස්තර කියපු දෙන්නටම සිහිය ආවා. ඉතින් මැරිලත් ඒ අමනුස්සයින්ගෙ මතකය තාමත් එදා වගේම තියෙනවා. එදා කතා බහ කරපු ආකාරය අදත් ඒ වගේමයි. එදා පොලිසියට තිබිච්ච බය, අමනුස්ස වෙලා අදත් තියෙනවා. මේ ලෝකයේ එදා හිටපු ආකාරයෙන්ම ඒ අය කරපු කියපු නරක දේවල් අනුව අදත් දැවෙනව, තැවෙනවා.

මේ විදියට විවිධ ඥාති ප්‍රේතයින් අතරින්, දැන් කර කියා ගන්න දෙයක් නැතිව අන්ත දුක්ඛිත අසරණ තත්ත්වයෙන් ඉන්න අය තමයි බොහෝ කොටම ඉන්නෙ. සමහර අයට කෙනෙක්ගෙ

ශරීරයට සම්බන්ධ වෙන්නත් අමාරුයි. හෙල්ලෙන්න පෙරළෙන්නවත් බෑ. අන්තිම දුක්ඛිතයි. මහා දුකක් විඳිනවා. ඒ වගේම යමක් කමක් කරගන්න පුළුවන් කොටසකුත් විවිධ මට්ටම්වලින් ඉන්නවා. ඒ වගේ අය තමයි හුඟක් දුරට ජීවත් වෙලා ඉන්න තමන්ගෙ ඥාති හිතමිත්‍රාදීන්ගෙ ශරීරවලට සම්බන්ධ වෙලා විවිධාකාරයේ කටයුතුවලට ඒ අය පොළඹවන්නෙ. නමුත් ඉතින් ඒවත් දුක්ඛිත අත්බැව්ම තමයි. අර ඉඳිකටු තුඩක් වගේ බෙල්ලක් තියෙන, මහ ලොකු කලගෙඩි වගේ ඔළු ගෙඩි, බඩවල් තියෙන අය ගැන නෙවෙයි මේ කියන්නෙ. ඒ අය සතර අපාගත ප්‍රේත. මේ කියන්නෙ මිනිස් කය වගේ ශරීර තියෙන ගන්ධබ්බ ඥාති ප්‍රේතයො ගැන. නමුත් ඒ අය අතරින් සමහර අයට ඇට සැකිලි වගේ ඉතා සියුම් ශරීර තමයි තියෙන්නෙ. කන්න බොන්න යන්නෙ එන්නෙ බොහොම අමාරුවෙන්. සමහරු ජීවත් වෙලා ඉඳෙද්දි ශරීරවල තුවාල, ගෙඩි, පිළිකා ආදිය හැදිච්ච ලකුණු තිබුණ නම් ඒ සියල්ලම දැන් තියෙන සූක්ෂම කයෙත් තියෙනවා. ඒ වගේම සමහරු බීමට ඇබ්බැහි වෙලා හිටිය නම්, දැනුත් බොන්න නැති වුනාම පඩික්කම් හරි බොන්න බලනවා. ගෝඩ බීල පුරුදු වෙච්ච අයට දැනුත් ඒව නැතිවම බෑ. ඉතින් මනුස්ස ලෝකෙ ඉන්න මිනිහෙක් බීල කෙළ ගැහුවත්, ඒ අමනුස්සයො ඒ ගඳට ඇදිල ඇවිත් ඒකත් ලෙව කනවා. උන්ට ලැබෙන්නෙත් ඒ වගේ දේවල්ම තමයි. හැබැයි ඉතින් ඒ වෙලාවට ඒකත් ඒ අමනුස්සයින්ට ලොකු දෙයක්. ඒ තරම් කුණු ජරාව තමයි කන්න බොන්න ලැබෙන්නෙ.

පල් වෙච්ච දේවල් බීල පුරුද්දට පල් වතුර තියේ නම්, පල් ගඳක් එනව නම් උන් ඒ වගේ තැන්වලට නිරායාසයෙන්ම ඇදිල යනවා. එහෙම ඇදිල ගිහින් ඒව තමයි ආහාරයට ගන්නෙ. ඒකෙන් උන්ට අහුවෙන කිරණමය ගන්ධ කොටස ඇදල ගන්නවා. සමහර අමනුස්සයො මිනිස්සුන්ගෙ ශරීරවලට සම්බන්ධ වුනාට පස්සෙ, ඒ ශරීරවලින් එන දාඩිය ගඳත් උරා ගන්නවා, කටත් ලෙව කනවා, ශරීරය ඇතුලෙ තියෙන ජරාවත් ඇදල ගන්නවා. මේ විදියෙ මහ අසික්කිත විදියට උන් ඒව පරිහරණය කරනවා. ඒ වගේම තමන්ගෙ ගතිවලට සම්බන්ධ අය ඉන්නව නම්, ඒ අයත් ඒ ගතිවලට පොළඹව ගන්නවා. උදාහරණ විදියට බීමත් කෙනෙක් ඉන්නව නම්, ඒ අය තවත් බොන්න පොළඹවනවා. එහෙම ළං වෙලා බොහොම ආදරෙන්, වරෙන් වරෙන් අපි මෙහේ ඉන්නෙ කියල ඒ අයට තියෙන කර්ම විපාකජ සෘද්ධිවලින් මත් පැන් බෝතල් මවල හරි පෙන්වනවා. හැබැයි ඒක මනසට (මනෝමය වශයෙන් ගෝචර වෙන මනෝ රූප) ගෝචර වෙනව මිසක් මස් ලේ ඇහැට පේන දෙයක් නෙවෙයි. සනිදස්සනං අප්පටිඝං (මනෝමය රූප වශයෙන් ගෝචර වන, ස්පර්ශ කරන්න බැරි) ධම්මායතන පරියාපන්න රූපං කියල හඳුන්වන, ඒ ධර්මායතන පරියාපන්න රූප ඔස්සේ අමනුස්සයින් විසින් මනුස්සයින්ට අරමුණු දෙන්න පුළුවන්. චිත්ත කිරණ ආදිය ඒ ක්‍රමයට අහු වෙනවා. එතකොට කෙනෙකුට හිතෙන්නෙ තමන්ටම හිතිල මේ දේ කරනව කියල. නමුත් පිටස්තර පාර්ශවයකින් තමයි අරමුණු දෙන්නෙ. එහෙම අරමුණු දුන්නම ඒ පුද්ගලය ළඟත්



ඒ ජාතියේ ගති ලක්ෂණ තියෙනව නම්, ඒ ගතියට අනුකූලව අර අරමුණ ඇදිල එනවා. එතකොට ඒ ජීවත් වෙලා ඉන්න මිනිස්සුන්ටත් ඒ අරමුණින් අහක් වෙන්න බැරිව යනවා. ඊට පස්සෙ ඒ පැත්තටම ඇදිල යනවා. මෙලොව ජීවත් වෙලා ඉන්න සමහර පුද්ගලයො බේබද්දො, සල්ලාලයො බවට පත් වෙන එක ක්‍රමයක් තමයි මේ.

ඒ වගේම යම් කිසි විදියකින් නින්දක් නැති, ගිය ගිය තැන නිදි කිරා වැටෙන ප්‍රේතයො ඉන්නවා, කාම පිපාසයෙන් පෙළෙන මදන ප්‍රේතයො ඉන්නවා. නමුත් ජීවත් වෙලා ඉඳෙද්දි වගේ ඒ අයට දැන් කර කියා ගන්න දෙයක් නෑ. සමහරුන්ට ලිංගේන්ද්‍රියක් නෑ. එහෙම නැත්නම් පණුවො ගහල. ඒක පෙර කරපු විපාකවලට කර්ම ශක්තියෙන්ම සිද්ධ වෙන දෙයක්. මනුස්ස වෙලා ඉඳෙද්දි විවිධාකාරයේ කාම අපරාධවලට සම්බන්ධ වෙච්ච අයට තමයි එහෙම වෙන්නෙ.

දැන් මේ කියන්න යන්නෙ මැරිච්ච කෙනෙක් ගැන තවත් ඒ වගේ කතාවක්. එක්තරා ගෙදරක යම් කිසි වයසක කාන්තාවක් හිටියා. ඇය විවාහ වෙලා හිටියෙ නෑ. මේ කාන්තාව මැරෙන කොට ගන්ධබ්බ තත්ත්වයට ගිහින්, පෙර හිටපු තත්ත්වයෙන්ම හිටිය මිසක්, චුත වෙලා පටිසන්ධි වෙච්ච කෙනෙක් නෙවෙයි. මැරෙන්න කිට්ටුව මේ කාන්තාවට යම් කිසි මිල මුදල් ප්‍රශ්නයක් හෝ වෙනත් ප්‍රශ්නයක් නිසා වෙද හෙදකම් හිතපු හැටියට කරගන්න බැරි වුණා. ඉතින් ගෙදර තවත් ඥාති පිරිස හිටියත් ඒ අයට මුකුත් කරන්න බැරි වුණා. දැන් මේ මනුස්සය පණ අදින අවස්ථාවෙදි, මාව ඉස්පිරිතාලෙට ගෙනියපල්ලා, බේර ගනිල්ලා.... ආදී වශයෙන් කෑ ගහන්න පටන් ගත්තා. නමුත් ගෙදර හිටපු පිරිසට මේ පුද්ගලය එහෙම බේර ගන්න බැරි බවක් මොන විදියකින් හරි පෙනිච්ච නිසා ඒ සම්බන්ධයෙන් උනන්දුවක් පෙන්නුවෙ නෑ. ඒ නිසා මේ කාන්තාව බොහොම තරහින් තමයි හිටියෙ. මුං ඕන කමින් මාව මරා ගන්න හදන්නෙ, මට සලකන්නෙ නෑ.... ආදී වශයෙන් අඳෝනා නගමින් කෑ ගහන්න පටන් ගත්තා. නමුත් චුත වෙන මට්ටමට ගියේ නෑ. අන්තිමට මේ මනුස්සයට මහ විසාල දාහයක් ආවා. දැන් මේ පිරිස හිටියෙ පවුල් 10 - 15 ක් විතර ජීවත් වෙන තට්ටු නිවාසයක එක්තරා කොටසක. ඒ නිසා තව තවත් ආගම් අදහන අය, විවිධ පැතිකඩවල් තිබිච්ච අය හිටියා. මේකෙදි තමයි මේ මනුස්සය මළේ. මරණාසන්න අවස්ථාවෙදි මේ පුද්ගලය කෑ ගහන හැටි, දඟලන හැටි බලන්න බයේ හෝ මරණ චකිතය එන කොට දැනෙන බය නිසා හෝ ගෙදර උදවිය ළඟට ගියේ නෑ, මැරෙන වෙලාවෙ මග හැරල හිටියා.

කොහොම හරි මේ මනුස්සය මළාට පස්සෙ ගෙදර ඉන්න උදවියට කෙළවරක් නැතිව විවිධ කරදර එන්න පටන් ගත්තා. මොන විදියකින්වත් ඒ ආපු කරදර ඉවත් කර ගන්න බැරිව ගියා. අන්තිමට කන කරාබු පවා උකස් කරල, විකුණල මිනිස්සු කියපු විවිධාකාර දේවල් කළා. යන්ත්‍ර දාල ඕක අරින්න පුළුවන්, අපි

කරල දෙන්නම්... ආදී වශයෙන් කියල රුපියල් දහස් ගණන් අරගෙන, ඒ වෙන කොටත් මේ අයගෙ හැටියට ලොකු අමාරුවක වැටිල හිටියෙ. නමුත් ඒ වියදම් කරපු මුදල්වලින් වැඩක් වුනේ නෑ. අපි කරපු ඔක්කොටම හරි ගිහින් තියෙන්නෙ, ඕගොල්ලොන්ට විතරක් හරි නොයන්න විදියක් නෑ, මේක මානසික ලෙඩක්, ගිහින් මනෝ වෛද්‍යවරයෙක් හමු වෙන්න... ආදී වශයෙන් අන්තිමට මේ යන්ත්‍ර මන්ත්‍ර කරපු උදවිය කියන්න ගත්තා. එහෙම කියල අන්තිමට මේ මිනිස්සුන්ගෙන් ලොකු මුදලකුත් කඩාගෙන ඒ කට්ටඩියො පැනල යන්න ගියා. කන කරාබුත් බැංකුවට උකස් කරල තමයි මේ අය ඒ මුදල් හොයාගෙන තිබුණෙ. ඒ ආපු කරදරවලින් බේරෙන්න තමයි මේ අය ඒ ඔක්කොම කළේ. දැන් ඉතින් නාහෙන් අඬ අඬා ඉන්නව කර කියා ගන්න දෙයක් නෑ. කාට කියන්නද? නඩු දාන්නද? මොනව කරන්නද?

ඉතින් ඔහොම ඉඳල අන්තිමට මං ළඟටත් ආවා. මම යොමු කරල බැලුවම අර මැරිච්ච කෙනා මේ ගෙදර කෙනෙකුට වැහිල ඉන්නව මට පේනවා. ''මට සැලකුවෙ නෑ, මට වෙන කරන්න දෙයක් නෑ, ඉතින් මට තරහ එන්නෙ නැද්ද? මට සැලකුවෙ නැති නිසා තමයි මෙහෙම වුනේ! මුං මට කරපු අපරාධයක්...!'' මේ ආදී වශයෙන් අඳෝනා කිය කියා මේ මැරිච්ච කෙනා ඒකට හේතු ඉදිරිපත් කරනවා. හැබැයි මේ මනුස්සය මැරුනට තවම චුත වුනේ නෑ, මනුස්ස ගන්ධබ්බයෙක්. චුත වෙන්නෙ නැතිව මස් ලේ කයින් ගන්ධබ්බ වශයෙන්ම ඉවත් වෙච්ච කෙනෙක්. එතකොට අර මරණාසන්න මොහොතෙදි ආපු අදහස් ටික තමයි දැන් මේ වැඩ කරන්නෙ. නමුත් ඒ ශක්තිය ගෙවිල ඒ වෙලාවෙදි චුත වුනා නම් ඔහොම අදහස් එන්නෙ නෑ.

සමහර විට යම් කිසි කෙනෙක්ගෙ ඒ මොහොතෙදි ඒ අදහස් බලවත් වෙලා නැගිල ආවොත් ඒකෙන්මත් චුත වෙන්න පුළුවන්. නමුත් මේ කාන්තාවට චුත වෙන්න තරම් අදහසක් ආවෙ නෑ. ජීවත් වෙලා ඉඳෙද්දි තිබිච්ච ස්වභාවික අදහස් ටික තමයි ආවෙ. ඒ අදහසින් තමයි මළේ. දැන් මළාට පස්සෙ මනුස්ස ගන්ධබ්බය අර ගෙදරම පැත්තකින් ඉන්නවා, යන්නෙ නෑ. යොමු කරල බලන කොට මට පේනවා, නොයෙක් විකෘති තත්ත්වයෙන් කියව කියව ඉන්නවා. එතකොට ඒ ගෙදර දැන් ඉන්න තුන් දෙනෙක් එක්ක තමයි මාව හමුවෙන්න ඇවිත් හිටියෙ. දැන් මේ ගන්ධබ්බය අර විදියට කියවල, අන්තිමට අර ඇවිත් හිටපු එක් කෙනෙක්ගෙ ඇඟට මම ඉස්සරහදිම ආවේස වෙලා කෑ ගහන්න පටන් ගත්තා. ''අනේ ස්වාමීන් වහන්ස මුං මට සැලකුවෙ නෑ, මම මහ වද විඳල මළේ. මං මැරෙන කල් මුං බලාගෙන හිටියා, එකෙක්වත් මට සැලකුවෙ නෑ....'' මේ ආදී වශයෙන් බොහොම තරහින් දුඩි විදියට කියන්න ගත්තා. ඒ අඳෝනා දිහා අහන් ඉන්න, බලාගෙන ඉන්න බෑ. ඒ තරම් භයානකයි. නමුත් ඉතින් ඒ විදියට කියවල ඉවර වෙනකල්ම මමත් ඔහෙ බලාගෙන හිටියා.



දැන් එතකොට අර මියගිය කාන්තාව තමයි මේ ගෙදර උදවියට වෛර කරගෙන ඉන්නෙ. නමුත් චුත වෙන්න හේතුවක් ආවෙ නැති නිසා, මස් ලේ කයින් අහක් වෙලා ඒ ගන්ධබ්බය දැනුත් තමන් හිටපු ගෙදරම ඉන්නවා. තිරෝකුඩ්ඩ සූත්‍රයේ පෙන්වන විදියට මේ වගේ අය තමන්ගෙ ගෙදරට යනව එනවා, අගුපිල්වල, දර මැහිවල, බිත්ති මුළුවල ඉන්නවා. මට යන්න තැනක් නෑ, අනේ මං කොහොටවත් යවන්න එපා, මං කොහේ යන්නද?.... මේ ආදී වශයෙන් කිය කියා අඬනවා. තමන්ට සැලකුවෙ නෑ කියල ජීවත් වෙලා ඉන්න උදවිය දිහා දත් මිටි කාගෙන බලාගෙන ඉන්නවා. මම ඉතින් ටික වෙලාවක් අහගෙන ඉඳල මෙහෙම කිව්වා. අපිට සලකල හොඳ ආත්ම ලැබුනෙ කවද්ද? අනන්ත මේ සංසාරෙ එන කාලය තුළ අපි මේ තිරිසන් වෙලා ඉපදිච්ච අවස්ථා කොච්චර නම් තියෙනවද කියල හිතල බලන්න. අපි හැමදාම අනාතයි නේද? ඉතින් අපි අනාත අත්බැවක ඉන්න කොට කාට කියන්නද? අපිට කවුරුවත් සැලකුවෙ නෑ කියල, කවුරු සලකන්නද? සසරෙ හැටි තේරුම් ගන්න එපැයි.

මම මෙහෙම කියන කොට ඒ ගන්ධබ්බයට කර කියා ගන්න දෙයක් නෑ. නිකං අහගෙන හිටියා. මොකද මේ සතර අපාගත පෙරේතියක් නෙවෙයි. සතර අපාගත පෙරේතියකට මේ කියන බණ තේරෙන්නෙ නෑ. මේ පුද්ගලය මනුස්ස ගන්ධබ්බයෙක් නිසා තමයි යමක් කමක් තේරෙන්නෙ. ඒ කියන්නෙ චුත නොවී, හිටපු ආකාරයෙන්ම මස් ලේ කයින් අහක් වෙච්ච කෙනෙක්. මනෝමය සූක්ෂම කය කියන්නෙ ඒකයි. ඊට පස්සෙ ඉතින්, අනේ මට යන්න කියන්න එපා මං කොහේ යන්නද, මට යන්න තැනක් නෑ, අනේ ස්වාමීන් වහන්ස මට කරදර කරන්න එපා, කොහොම හරි මට පිහිට වෙන්න කියල මෙහෙම කියන්න පටන් ගත්තා.

ඉතින් මම යම් කිසි සමාධි ක්‍රමයකින් බැලුවම මට මෙහෙම දෙයක් පේනවා. මේ අය ජීවත් වෙලා ඉන්න කාලෙ මොනව හරි තමන්ගෙ කටයුත්තකට විසාල නුග ගහක් යටට ගිහින් තියෙනවා. ඒ කියන්නෙ යම් කිසි විදියකින් භාර හාරයක් වගේ දේකට. පස්සෙ මම මේ ගැන යොමු කරල බලල ඇහුවා, ඔබට මතකද ජීවත් වෙලා ඉන්න කොට නුග ගහක් යටට ගිහින් මොනව හරි කටයුත්තක් කරපු බව. මෙහෙම අහන ගමන් හිත ක්‍රමයෙන් ඒ පැත්තට යොමු කළා. දැන් ඉතින් කතා කරන්නෙ නැතිව එහෙම්ම කල්පනා කර කර ඉන්නවා. පස්සෙ මම විමානයක් මැවෙන්න අධිෂ්ඨාන කළා. ඒත් එක්කම අවශ්‍ය ඇඳුම් පැළඳුම් ආදී සියල්ලම මැවෙන්න අධිෂ්ඨාන කරල මෙහෙම කිව්වා. මම ඔබ වෙනුවෙන් මෙහෙම දෙයක් අප්‍රමාණ පුණ්‍ය ශක්තියකින් කරල තියෙනවා. ඒ නිසා ඒ ස්ථානය මතක් කර ගන්න බලන්න. එතකොට මේ පුද්ගලය අර කලින් තිබිච්ච කලබැගෑනි මුකුත් නැතිව එහෙම්ම කල්පනාවට වැටුණා. එහෙම ටිකක් වෙලා කල්පනා කර කර ඉඳල අන්තිමට චිත්ත ප්‍රසාදය ඇති වුණා. මේ පුද්ගලය ඒ දිහා යොමු කරල චිත්ත ප්‍රසාදයක් ඇති කර ගත්තු බවත් මට පේනවා. ඊට පස්සෙ මම මෙහෙම කිව්වා. ඔබ සඳහාම තමයි මේව හදල තියෙන්නෙ, මේ ඉන්න තැනක් නැහැයි කියල කෑ ගහන්න දෙයක් නෑ, ඔය ස්ථානයේ ඕන තරම් කල් ඉන්න පුළුවන්, ඔබව පිළිගන්න ඔබට ප්‍රිය මනාප පිරිසකුත් ඔය ස්ථානයේ

එකතු වෙලා ඉන්නවා, ඒ ස්ථානය යොමු කර ගන්න.

එහෙම යොමු කරනවත් එක්කම මට දැනුණා, මෙතනින් රැනක් ටක් ගාල කැඩිල ගියා වගේ, අර ගෙදරත් එක්ක තිබිච්ච සම්බන්ධය නැති වෙලා ගියා. ඒ වගේම ඒ ගෙදර තවත් ගන්ධබ්බ පිරිසකුත් හිටියා. ඒ පිරිසත් ගෙන්නව ගන්න කිව්වම, ඒ අයත් ඒ දිහාවටම ඇදිල ගියා. දැන් මේ සිද්ධිය වෙනවත් එක්කම අර ආවේස වෙච්ච පුද්ගලයට හොඳට සිහිය ආවා. අර තිබිච්ච කරදරත් නැතිව ගියා. කලින් අඬ අඬා දුක් වෙවී අඳෝනා නගපුව මොහොතකින් ඉවරයි. පැහැදිලි වෙනසක්. හැබැයි ඒ උදවිය දන්නෙත් නෑ, මෙච්චර දෙයක් මෙතන සිද්ධ වුනේ කොහොමද කියල. සත පහක්වත් වියදම් වුනෙත් නෑ.

ඉතින් ඒ වගේ දෙයක් නොකර **බැරි අවස්ථාවක එහෙම සිද්ධ කළා මිසක්, මේ රටේ ලෝකෙ ඉන්න අයගෙ ඔය වගේ ප්‍රශ්නවලට මට කර ගහන්න පුළුවන් කමක් දැන් නෑ. ඒ සඳහා ධර්මානුකූලව හේතු - ප්‍රතිකර්ම පෙන්වා දෙන එක විතරයි මට කරන්න පුළුවන්. නමුත් එදා ඒ පිරිස මාව මුණ ගැහෙන්න ආවම සමාධියට ඒ අයගෙ ගැටළුව ක්ෂණිකවම යොමු වෙලා ඒකට ප්‍රතිකර්මයක් ආවා. ඉතින් ඒ අය එදා පත්වෙලා හිටපු අන්ත අසරණ තත්ත්වයත්, අර විදියෙ හේතු සම්බන්ධය නිසාත් ඒකට විසඳුමක් දෙන්න මට අදහසක් එන්න ඇති. එහෙම නැතිව හැමෝටම ඒ වගේ පුද්ගලිකව විසඳුම් දෙන්න පුළුවන්කමක් නෑ. ඒ නිසා ඒ වගේ දේවල්වලට මාව හමුවෙන්න බලාපොරොත්තු වෙන්න එපා. ඒක මගේ නිදහසට ලොකු බාධාවක්.**

දැන් එතකොට බලන්න, අර මියගිය කෙනා ඥාති ප්‍රේතයෙක් විදියට අවුරුදු ගණනාවක්ම ඒ ස්ථානයේ මහ දාහයකින් තමයි හිටියෙ. ඉතින් මේ පුද්ගලයා ජීවත් වෙලා ඉඳෙද්දි, ඒ වගේ එදත් තිබිච්ච අමනුස්ස ප්‍රශ්නයක් විසඳ ගන්න ගිහින් එක්තරා කපු මහත්තයෙක් කිව්වලු, ඒ ඉස්සර හිටපු අමනුස්ස පිරිසත් බාර දෙන්න ඒ අමනුස්සයො සියල්ලම මෙහේ නවත්ත ගන්න ඒ අයට කරදර නොකර අපිත් එක්ක ඉන්න පුළුවන් කියල. එතකොට ඒ ස්ථානයට යන එන හාමුදුරු නමකුත් හිටිය නිසා, පොඩි දානයක් හදා ගෙන උන් වහන්සේට පිරිකරක් පූජ කරල පිං දුන්නම ඒ අමනුස්සයින්ට කරදර නොවී එහේ ඉන්න පුළුවන් කියලත් කිව්වලු. කොහොම හරි ඒ උදවියට ඒ කියපු විදියට ඒක කරගන්න බැරි වුනාලු. පස්සෙ දවසක ගිහින් බලන කොට ඒ කපු මහත්තයත් එතනින් ගිහිල්ලලු.

එතකොට එදා ඒ ස්ථානයට මේ මියගිය කාන්තාවත්, දැන් මේ ජීවත් වෙලා ඉන්න පිරිසත් එක්කම ගිහින් තියෙනවා. ඒ තමයි අර කියපු නුග ගහත් එක්ක තිබිච්ච මොනව හරි දේවාලයක් වගේ තැන. එහෙම ගිහින් තියෙන්නෙ අර හිටපු අනිත් අමනුස්සයො ටික බාර දීල, අර කියපු විදියට දානයක් දෙන්න හිතාගෙන. නමුත් ඒක කර ගන්න බැරිවුණා. ඊට පස්සෙ ඉතින් දානෙ නොදී නිකං හිටියා. ඒ නිසා ඒ අවස්ථාව ගිලිහිලා ගියා. ඒ හේතුවෙන් ඒ ගියපු අමනුස්ස පිරිස නැවතත් අර ගෙදරටම ඇවිත් තියෙනවා. ඊට පස්සෙ තවත් තැනකින් සාස්තරයක් ඇහුවම කිව්වලු, මේ අමනුස්ස පිරිස මෙහෙම තැනකට යවල තියෙනවා, නමුත් එතන ඉන්නෙ නැතිව ආපහු ඇවිත් තියෙනව කියල. ඉතින් මම ඇහුව, ඇයි දානෙ දුන්නෙ නැත්තෙ කියල. ගිහින් බලන කොට කපු මහත්තය එතන හිටියෙ නැති නිසා වැඩේ අතහැරල දාල ආව කිව්වා. දැන් එදා වෙච්ච ඒ අඩුපාඩුව තමයි මම නැවත වරක් යොමු කරල බලල හදල දුන්නෙ. ඉතින් මේ මියගිය කාන්තාවත් එදා මනුස්සයෙක් වශයෙන් ඒ කටයුත්තට සම්බන්ධ වෙලා තිබුණ නිසා, මොනව හරි චිත්ත ප්‍රසාදයක් මතු කරල දෙන්න පුළුවන් බව මට වැටහුණා. ඒ නිසා තමයි අර විදියට අවශ්‍ය දේවල් මවල දීල, ඒ සම්බන්ධය මතක් කරල දෙන කොට අර දුක්ඛිත තත්ත්වයෙන් මිදෙන්න පුළුවන් වුනේ.

දැන් එතකොට මේ මියගිය කාන්තාවත් එක්ක ඒ ගෙදර හිටපු අනිත් ගන්ධබ්බ පිරිසත් මැරෙන කොට චුත වෙච්ච අය නෙවෙයි. මනුස්ස ගන්ධබ්බයො. බුදුන් වහන්සේ තිරෝකුඩ්ඩ සූත්‍රයේදි පෙන්වා දීල තියෙන විදියට පාරවල්වල, අගුපිල්වල, ගෙවල්වලට ඇතුල්වන පිටවන... ආදී වශයෙන් ඉන්නෙ මේ වගේ අය. ඉතින් මේ වගේ අවස්ථාවක ඒ ගන්ධබ්බයො සැහෙන්න දුක් වේදනාවකින්, අසහනයකින් තමයි ඉන්නෙ. සතර අපාගත නොවුනට මහා දුකක් විඳ ගෙන කොච්චර කාලයක් නම් ඉන්නවද? නිදහස් වෙන කල්ම එදා හූල්ල ගත්තු ගමන්මයි. එතකොට ඇයි එහෙම වෙන්න හේතුව? **මේ ලෝකයේ තියෙන මොනව හරි දේවල්වලට, එහෙම නැත්නම් පුද්ගලයින්ට ලෝභයෙන් ඇලුම් කරල ඉඳල ඒවට ආසාවෙන් මැරුනම, ජාති ආගම් කුල මල භේදයක් නැතිව කාටත් සිද්ධ වෙන්නෙ ඔය වගේ තත්ත්වයන්ට පත් වෙන්න. විවිධ ආගම්, මතවාද දරන පුද්ගලයන් පිටින් බලල මොනව කිව්වත් ඕක තමයි අන්තිමට සිද්ධ වෙන්නෙ.** ඉතින් යම් කිසි සමාධියක්, දිවැසක් වඩා ගත්ත කෙනෙකුට නම් මේ කියන කාරණාවල සත්‍ය අසත්‍යතාවය කාගෙන්වත් අහන්නෙ නැතිව තනියම දැක බලා ගන්න පුළුවන්, ඒ වගේම නුවණින් වටහා ගන්න පුළුවන්. නමුත් ඒ විදියට බණක් භාවනාවක් කරල යම් කිසි ශක්තියක් වඩා ගන්න ක්‍රමවේද අද බොහෝ කොටම යටපත් වෙලා තියෙන නිසා, එහෙම නැත්නම් ඒ ගැන උත්සාහයක්, වීර්යක් නැති නිසා, ඒ ගැන විශ්වාසයක් නොකර නොයෙක් දෘෂ්ටිවලට බැහැල කටයුතු කරන්න ගිහින්, අද ජීවත් වෙන අයත් හුඟ දෙනෙක් අන්තිමට ලොකු අමාරුවක වැටෙනවා. ඒ නිසා ඒ යටගිය කාරණාවන් නැවතත් මේ විදියට මතු කරල දෙන කොට, තම තමන්ට පුළුවන් විදියට වටහ ගෙන මේ මහා භයානක සසරින් මිදෙන්න උත්සාහ කරන්න.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

---

| | |
|---|---|
| **ච**ඳනින් අම නිවන් ගෙන යළි | සැනසෙන්න |
| **හ**රයෙන් දහම් දෙසුවේ පටි | බිඳලන්න |
| **ර**සයෙන් උතුම් දම් රස මේ යැයි | යන්න |
| **ක**වියෙන් කියා දුනි සසරින් ගැල | වෙන්න |
| | |
| **අ**සාර වූ අනත බව කියලා | දුන්න |
| **භ**ය යනු දුකට දුන් අරුතක් යැයි | යන්න |
| **ය**මක් කැමති සේ නැති බව දැන | ගන්න |
| **ර**සයෙන් පිරි දහම් දෙසුවේ | මෙලෙසින්න |
| | |
| **ත**රඟෙට වැටී පොර පිටියේ දුව | පැන්න |
| **නා**හෙට නාහ හිටි ලෝ සත ගොඩ | ගන්න |
| **ළං** වී එළිය දුන් මිණි පහනක් | වැන්න |
| **කා**ලය එයි යළිත් නිවනින් සැන | සෙන්න |
| | |
| **ර**හතුන් වැඩි නියම මග එළි කර | යන්න |
| **නා**මය තුණුරුවන් හදවතටම | දුන්න |
| **හි**රු සඳු විලස ලොව ගනඳුර දුර | ලන්න |
| **මි**යෙනට කලින් දෙසු බණ ඇත | සැනසෙන්න |

පබැඳුම: **ප්‍රියන්ත අරුණ කුමාර - හෝමාගම**

# නහර ගැට ගැසීමේ සහ දත් මුල් දියවීමේ රෝග සඳහා ප්‍රත්‍යක්‍ෂ සමාධි ඔසු ...

නහර ගැට ගැසීමේ රෝගය නිසා බලවත් පීඩා විඳින පිරිසක් සමාජයේ මේ වෙන කොටත් ඉන්නවා. ඒ සඳහා වහරක අභයරතනාලංකාර හිමියන්ගෙ බේත් සමාධියට හසු වෙච්ච ප්‍රත්‍යක්‍ෂ ඖෂධයක් තමයි මේ හෙළිදරව් කරන්නෙ.

මේ රෝගී තත්ත්වය බොහෝ කොටම ඇති වෙන්නෙ කකුල්වලට. ශරීරයේ ඉහළ තියෙන අපද්‍රව්‍ය පහළට එන එක්තරා ක්‍රමවේදයක් තියෙනවා. කකුල්වල තියෙන ධමනි හෙවත් නාඩිවලින් තමයි පිරිසිදු ලේ අරගෙන යන්නෙ. එහෙම ගෙනිහින් ධමනි කේශනාලිකා හෙවත් නාඩි කේශනාලිකාවලට බෙදෙනවා. ඒවා අවසන් වෙනවත් එක්කම ශිරා කේශනාලිකා ආරම්භ වෙනවා. අන්න ඒ පුංචි පුංචි ශිරා කේශනාලිකා එකතු වෙලා මහ ශිරාවක් බවට පත් වෙනවා. එතකොට ඒ නාඩි කේශනාලිකා සහ ශිරා කේශනාලිකා හමුවෙන ප්‍රදේශය තමයි නිල කියන්නෙ. මේ නාඩි කේශනාලිකාවලින් පිරිසිදු ලේ අරගෙන යනවා. ශිරා කේශනා-ලිකාවලින් අපද්‍රව්‍ය එකතු කරගෙන ඒවා ඉවත් කරන්න ඉන්ද්‍රියන් කරා ගෙනියනවා. මෙතනදි ලේ ගෙනියන එක්තරා ක්‍රමයක් තියෙනවා.

හෘදය වස්තුවේ ධමනියට තමයි ඉස්සෙල්ලම කම්පනය දෙන්නෙ. ඒ කම්පනය දුන්නට පස්සෙ තමයි නහරවල ලේ ගමන් කරන්නෙ. ඒ කම්පනය මගින් නිල හරහා ලේ ගමන් කිරීමත් පහසු කරනවා. ඒ කියන්නෙ අපද්‍රව්‍ය එකතු කර ගෙන ලේ ගමන් කිරීම පහසු කරනවා. යම් කිසි විදියකින් මේ නිලවල (කේශනාලිකාවල) අපද්‍රව්‍ය එකතු වීමක් සිදුවෙන්න පුළුවන්. ඒ විදියට කැල්සියම්, කොලෙස්ටරෝල් බැඳීමක් වෙන්න පුළුවන්. එතකොට ඒවායින් ඇති වන අවහිරය නිසා ලේ ගමනාගමනය හරියට සිද්ධ වෙන්නෙ නැතිව යනවා. අපද්‍රව්‍ය එකතු කර ගැනීමත් හරියට සිද්ධ වෙන්නෙ නැතිව යනවා. ඒ වගේ අවස්ථාවකදි ශරීරය බොහෝකොටම අලුත් කේශනාලිකා වර්ධනය කර ගන්න පෙළඹෙනවා. නමුත් එහෙම වර්ධනය කළාට නියම විදියට ලේ ගමනාගමනය කරන්න බැරිව යනවා. මේ විදියට ශිරාව හරහා අපද්‍රව්‍ය රැගෙන යන්න බාධා පැමිණෙන කොට කපාට අවහිර වෙනවා. එතකොට නාඩියෙන් දෙන ශක්තියෙන් අපද්‍රව්‍ය ගෙනියන්න අපහසුයි. තවත් කාලයක් යන කොට නහර ගැට





ගැහිල ඇදෙන්න පටන් ගන්නවා. එතකොට අපද්‍රව්‍ය තවත් වැඩි වෙනවා.

ඒ නිසා ශිරාවලට අපද්‍රව්‍ය තල්ලු කරගෙන යන්න තරම් ශක්තියක් නෑ. ඒ නිසා ඒ අපද්‍රව්‍ය සියල්ලම වගේ කකුල්වල ඉතිරි වෙන්න බලනවා. එතකොට ඒව එකතු වෙලා නහර තව තවත් පිම්බෙනවා. මෙතනදි නාඩි ගැස්සෙමින් පිම්බෙනවා. ශිරා ඊට අනුකූලව නොගැස්සී පිම්බෙනවා. නාඩි පිම්බෙනකොට වේදනාවත් සමග ඇදුම් දෙනවා. ශිරා පිම්බෙනකොට නිරන්තරයෙන් පවතින වේදනාවක් එනවා. ඒත් එක්කම ඇති වන්නා වූ අපද්‍රව්‍ය රැඳීමෙන් ඒවා පිම්බිලා ඇදිල ගුලියක් වගේ ගැට ගැහෙනවා. ඒව තමයි මේ නහර ගැට ගැහෙනවයි කියන්නෙ. ඊට පස්සෙ නහර නියම විදියට වැඩ කරන්නෙ නැතිව යනවා. ඒකෙ ප්‍රතිඵල විදියට අත පය හොල්ලල වැඩක් පළක් කරගන්න බැරිව යනවා, කකුල් කැක්කුම්, හිරි වැටීම් එනවා. හරියට වේදනා විඳින්න වෙනවා. මේ තත්ත්වය වෛද්‍ය විද්‍යාවෙදි වෙරිකෝස් (varicose) කියල හඳුන්වනවා. මේ වගේ අවස්ථාවකදි දැනට වෛද්‍ය විද්‍යාවෙන් කරන්නෙ සැත්කමක් කරල ගැට ගැහිච්ච නහර ඉවත් කරන එක. එහෙම නැත්නම් එන්නතක් විඳින එක. නමුත් ඒක කළාට සාර්ථක නෑ, තාවකාලිකයි. නිට්ටාවට සුව වීමක් වෙන්නෙ නෑ. ඒ වගේම ආයුර්වේදයෙත් මේ රෝගයට බේත් දුර්ලභයි.

දැන් මේ සමාධියට හසු වෙච්ච බේතට යොදා ගන්නෙ අමු ඊතණ ග්‍රෑම් 250 යි, අමු බැලතණ ග්‍රෑම් 250 යි, අමු පුවක් කොළ ග්‍රෑම් 250 යි, අමු බෙලි කොළ ග්‍රෑම් 250 යි, සුද්ධ තල තෙල් බෝතල් 1 1/2 යි. (මිලි ලීටර් 1125 ක් පමණ) හැබැයි මෙතනදි සුද්ධ තල තෙල් හොයා ගන්න බැරි නම්, තල අරගෙන ඒකෙන් තෙල් හිඳ ගන්න පුළුවන් නම් වඩා හොඳයි. මොකද හේතුව සමහරු තල තෙල්වලට රට කජු තෙල් මිශ්‍ර කරල වංචා කරන අවස්ථා මේ කාලෙ බොහෝ කොටම තියෙනවා. ඒ වගේම මේවායේ අඩංගු ඖෂධීය ශක්ති ගැන මීට පෙර ලිපි පෙළකින් පැහැදිලි කරල තියෙනවා. නමුත් ඒ විදියට නොකියවෙච්ච කිහිපයක ඖෂධ ශක්ති දැන ගැනීම යම් කිසි ආකාරයකට වැදගත්. තණකොළ හෙවත් තෘණ කිව්වම තරුණ බවට සම්බන්ධ ශක්තිය තමයි ඒවායේ තියෙන්නෙ. තරුණ බවට ඊර්ෂ්‍යා කිරීම නිසා යම් කිසි විදියකින් ඊට ප්‍රිය කරන්නෙ නැති ස්වභාවයක් පෙන්වන්න පටන් ගත්තම, පෙර තරුණ බවට ඊර්ෂ්‍යා නොකරන කොට තිබිච්ච හොඳ ශක්තිය පිටවෙලා ගිහින් ඊතණ විදියට තැන්පත් වුණා.

ඊළඟට තරුණ භාවය තියෙන අයගෙන් අතපය හොල්ලල වැඩ පළ කරපියව් කියල බැලමෙහෙවරකම් ගන්න පටන් ගත්තා. ඒකත් ඊර්ෂ්‍යාවත් එක්කම ආපු දෙයක්. එතකොට ඊට පෙර බැලමෙහෙවරකම් නොගන්නකොට තිබිච්ච හොඳ ශක්තිය තමයි ☞

පිටවෙලා ගිහින් බැලතණ විදියට තැන්පත් වුණේ. ඉතින් ඒ තරුණ ශක්තිය තියෙනකල් නහර හොඳට වැඩ කරනවා. ඒ ශක්තිය නැති නිසා තමයි දුර්වල වෙන්නෙ. ඒ නිසා ර්තණ සහ බැලතණවලින් ඒ ශක්තිය නැවත ලබා දීමක් වෙනවා. ර්ළඟට පූ කියන්නෙ ආහාරය. මෙතනදි ආහාරයේ තියෙන අපද්‍රව්‍ය වක් කරල ඇද ගැනීමේ ශක්තිය තමයි පුවක් කොළවලින් ලැබෙන්නෙ.

දැන් මේ කොළ වර්ග 4 ග්‍රෑම් 250 බැගින් අරගෙන හීනියට කපල කොටා ගෙන තල තෙල් බෝතල් 1 1/2 එක්ක මිශ්‍ර කරල සාමාන්‍ය ගින්දරින් (අධික ගින්දර නොදමා) පැය 3 - 4 ක් පමණ තෙතමනය බහින කල් කර කරගන්නවා. ර්ට පස්සෙ රොඩු ටික පෙරළ ඉවත් කරල තෙල් ටික ගන්නවා. මෙන්න මේ තෙල දිනපතා උදේ හවස නහර ගැට ගැහිච්ච තැන්වල, කැක්කුම් හිරි වැටීම් තියෙන තැන්වල ආලේප කරල හොඳට පිරිමදිනවා. හැබැයි එහෙම ආලේප කරල පිරිමදින කොට පළවෙනි දෙවෙනි දවස්වල කැක්කුමක් එනවා, ඇදුම් දෙනවා. මොකද මේ තෙලට අර ගැට ගැහිල තිබ්ච්ච කේශනාලිකා දිග ඇරෙන්න පටන් ගන්නවා. එහෙම දිග ඇරිල හිර වෙච්ච අපද්‍රව්‍ය දිය කරල ඉවත් කරන කොට වේදනා එනවා. නමුත් ඒක එච්චර ගණන් ගන්නෙ නැතිව මේ ප්‍රතිකාරය දිගටම කරන්න ඕන. එහෙම දවස් 2 - 3 ක් ආලේප කරල පිරිමදින කොට ලේ නහර සුද්ධ වෙලා යථා තත්ත්වයට පත් වෙන්න පටන් ගන්නවා. ඒ විදියට දිගටම මාසයක් විතර පාවිච්චි කළාම ප්‍රමාණවත්. ඒ වගේම මේ ප්‍රතිකාරය කරල පැය භාගයක් විතර ගියාට පස්සෙ වතුරට තෙමුනයි කියල කිසි ගැටළුවක් නෑ. ඒ නිසා නාන්න, ඇඟ හෝදන්න කිසි බාධාවක් නෑ. දැනටමත් මේ ප්‍රතිකාරය අත් හදා බලල සම්පූර්ණයෙන්ම සුව වෙච්ච රෝගීන් කිහිප දෙනෙක්ම ඉන්නවා. වැඩි වියදමක් යන්නෙත් නෑ, කිසිම අතුරු ආබාධයක් එන්නෙත් නෑ. ශරීරය කිසිම සැත්කමකට භාජනය නොකර මාසයක් පමණ ඇතුලත යථා තත්ත්වයට පත් කර ගන්න පුළුවන්.

ර්ළඟට විදුරු මස් දියවීම, එහෙම නැත්නම් දත් මුල් දියවීම කියන්නෙත් අද කාලයේ බහුලව තියෙන රෝගී තත්ත්වයක්. මේ රෝගයටත් අද වෙන කොට හරි හැටි ප්‍රත්‍යක්ෂ ඖෂධයක් හොයා ගෙන නෑ. ඒ සඳහා ප්‍රත්‍ය වෙන සමාධි ඔසුවක් තමයි දැන් මේ හෙළිදරව් කරන්නෙ. මේ දත් මුල් දියවීමේ රෝගය, හිස ඇතුලෙ තියෙන සිවියක අපද්‍රව්‍ය බැඳීම මුල් කර ගෙන හට ගන්නා තත්ත්වයක්. හැබැයි ඒ කාරණය වෛද්‍ය විද්‍යාවට තවමත් අහුවෙලා නොතිබෙන්න පුළුවන්. නමුත් සමාධියට දර්ශනය වෙන දෙයක්.

මේ මොළය වටා සිවි කිහිපයක් තියෙනවා. හිස් කබලට ඇතුලින් මොළයට පිටින්ම තියෙන සිවියක් තමයි මේකට සම්බන්ධ වෙන්නෙ. අන්න ඒ සිවිය දත්වලට, විදුරුමහට වගේම ඇස්වලටත් සම්බන්ධයි. ඒ වගේම ස්නායු පද්ධතිය වටේ පිහිටන සිවියක් තියෙනවා. ශරීරය හැම තැනම ස්නායු වට කරපු පළවෙනි සිවියක් තියෙනවා. දතට සම්බන්ධ ස්නායු ගත්තොත් ඒ ස්නායු වට කරල සිවියක් තියෙනවා. අන්න ඒ සිවිය සම්බන්ධ කරන තැනක් තමයි දත් මුල් කියන්නෙ. දතට එන



හැම ස්නායුවක් එක්කම සම්බන්ධ වන ඒ සිවිය විදුරුමහ අස්සෙන් ගිහින් දතේ මුල සිවියට ආසන්නයෙන්ම සම්බන්ධ වෙනවා. එතකොට විදුරුමහ අතර තියෙන යම්කිසි ඉඩ ප්‍රමාණය ගම් එකක් වගේ කාරමකින් තමයි හෙල්ලෙන්නෙ නැති වෙන්න වැහිල තියෙන්නෙ. ඒක යළි යළිත් වැඩෙනවා.

අන්න ඒක අතරින් තමයි කන බොන ආහාරවල තියෙන රසායන වගේම විසබීජ ආදියත් ඉහළට ගිහින් මොළය වටා තියෙන අර සිවියට සම්බන්ධ වෙන්නෙ. බුලත් විටක් වගේ දෙයක් හැපුවම වෙන්නෙත් ඒ වගේ දෙයක්. ඒ බුලත් විටේ සාරය අර සිවිය වටා යනවා. අන්න ඒ සම්බන්ධය නිසා තමයි ස්නායු උත්තේජනය වෙලා එක්තරා ප්‍රබෝධයක් එන්නෙ, එහෙම නැත්නම් මත් වෙන්නෙ. දුම් කොළ වගේ දෙයක් ගත්තමත් හොඳ නරක දෙකක් තියෙනවා. එකක් විසබීජ නසන ඖෂධීය පැත්ත. ඒ වගේම ඒක ඕනවට වඩා තැන්පත් වුනොත් ශරීරයට විසයි. නමුත් දාඩිය මහන්සියෙන් වැඩ කරන අයට දුම් කොළ කෑවට අමාරුවක් නෑ. මොකද ඒ විස ගතිය දාඩියත් එක්ක පිච්චිලා යනවා. ඒ වුනත් නිතර නිතර වැඩිපුර පාවිච්චි කිරීම සුදුසු නෑ. නමුත් අත පය හොල්ලල වැඩ නොකර නිකං ඉන්න අය ඒ විදියට දුම් කොළ හපන්න ගියොත් ඒ අයට ඒක සැර වැඩියි, දරා ගන්න බෑ. මොකද ක්‍රමයෙන් ඒ සිවිය වටා රසායනයන් බැඳෙනවා. හැබැයි නාන කොට, දාඩිය දාල වැඩ කරන කොට ඒ සිවියෙ අපද්‍රව්‍ය කෙලින්ම හමේ තියෙන රුධිර නාලිකාවලට යවල සුද්ධ කරන ක්‍රමයක් තියෙනවා.

ස්නායු සහ මාංශය අතර සම්බන්ධය තියෙන්නෙ එක්තරා කාන්දමක් වගේ කිරණ ශක්තියකින්. එහෙම නැතිව ඒක එකින් එකට ගෑවෙන්න තියෙන සම්බන්ධයක් නෙවෙයි. අන්න ඒ සම්බන්ධයෙන් තමයි අර අපද්‍රව්‍ය හම ආසන්නයට විදින්නෙ. ඒ කියන්නෙ හම වටා තියෙන රුධිර නාලිකාවලට. ර්ට පස්සෙ දාඩිය ඔස්සේ ඒවායින් කොටසක් පිට කරනවා. එතකොට මේ මාංශ පේශිවල තියෙන සෛල ගත්තම, සෛලයෙන් සෛලයට පෝෂණය ළං කරල ගෙනිහින් දෙනව වගේ දෙයක් වෙන්නෙ නෑ. අර කියන කිරණමය ක්‍රමයකට තමයි ඒක සිද්ධ වෙන්නෙ. එතකොට මේ ස්නායු පද්ධතිය වටා තියෙන සිවියකින් තමයි ඒක ආවරණය කරල තියෙන්නෙ. අන්න ඒ සිවිය පිටතට විවෘත වන ආසන්නම තැන තමයි දත් මුල් කියන්නෙ. ඒ වගේම මේ සිවිය මොළය වටා විතරක් නෙවෙයි බෙල්ල, පපුව ආදී වශයෙන් ශරීරයේ හැම තැනකටම සම්බන්ධ වෙනවා. සමහර විට හක්කෙ දතක් පණුවො කාල (විස බීජ ඇතුල් වෙලා) තිබිල ඒ විස බීජ මේ සිවියට ඇතුල් වුනොත් ඒ පැත්ත හිරි වැටෙන්න පුළුවන්, අත පය කැක්කුම් එන්න පුළුවන්. ඒ අර විස බීජ ඇතුල් වෙලා සිවිය වටා යෑම නිසා. ඒ වගේ වෙලාවක සමහර අයට ඒ නරක් වෙච්ච දත ගැලෙව්වම ඒ තත්ත්වය මග හැරිල යනවා. එතකොට එහෙම වෙන්නෙත් මේ දත් මුල් එක්ක මොළය

වටා තියෙන සිවියට සම්බන්ධයක් තියෙන නිසා.

එතකොට දත් වටේ තියෙන විදුරුමස අස්සෙන් මොළය වටා තියෙන ඒ සිවියට පෝෂණය ඇද ගැනීමේ යම් කිසි සම්බන්ධයක් තියෙනවා. ඒක මොළය වටා පිහිටි ස්වභාවික සිවියක්. කන බොන ආහාරවලින් පෝෂණය ඇදගන්න එක ක්‍රමයක් තමයි ඒ. අපි කන බොන ආහාරවලින් කොටසක් ඒ විදියට පෝෂණය සඳහා යනවා. එතකොට ඉස්සෙල්ලම මුඛයට අරගෙන හපන කොටසක් තමයි ශරීරගත වෙන්නෙ. ඒ කොටස තමයි හක්කෙ දෙපැත්තට අහුවෙන්නා වූ ග්‍රන්ථි දෙකකින් සම්බන්ධයක් ඇතිවෙලා ඒකෙන් පෝෂණ පදාර්ථවලට එකතු වෙන්නෙ. ඒ එකතු වෙන කොටස, කන දෙපැත්තෙන් දත් අතරින් විදුරු මස හරහා ගිහින් මොළයේ පිට තියෙන අර සිවියට සම්බන්ධ වෙනවා. ඒ සිවිය ඇස්වලටත් එක්තරා සම්බන්ධයක් තියෙනවා. ඒ නිසා තමයි දත්වල ආබාධ ආවම ඇස් අමාරුව හැදෙනවයි කියන්නෙත්. ඇස් පෙනීම අඩු වෙන්න ඒකත් එක්තරා විදියකින් බලපානවා. විශේෂයෙන් උඩු ඇන්දෙ තියෙන දත් ගලවන්න එපා කියන්නෙත් ඒකයි. ඇස් සහ හිස්මොලවලට වේදනාකාරී බලපෑම් ඇති කරන්න සම්බන්ධ වෙන්නෙ උඩු ඇන්ද. එතකොට කෑම කාල නිතර හපන දේකින් මේ වගේ රෝගී තත්ත්වයකට ප්‍රතිකාර දෙන්න පුළුවන්.

මේ විදුරුමහේ අපද්‍රව්‍ය එකතු වුනාම ඒක විසකර වෙලා බැක්ටීරියා හැදෙනවා. ඒ හැදෙන බැක්ටීරියාවලින් නිතරම විස කරන්න පටන් ගන්නවා. එතකොට විදුරු මසින් ගෙනියන පෝෂණය අපද්‍රව්‍ය බවට පත් වෙලා අජීර්ණ කරනවා. ඒක තමයි ඊළඟට අර මොළය වටා තියෙන සිවියට ගිහින් සම්බන්ධ වෙන්නෙ. ඒක පීනස් අමාරුවලටත් එක්තරා මූලක් වෙනවා. දත් මුල් දියවීම සහ පීනස අතර ඒ විදියට සම්බන්ධයකුත් තියෙනවා.

දැන් එතකොට මේ ප්‍රතිකාරයට අවශ්‍ය වෙන්නෙ අරළු විතරයි. මෝරපු අරළු ගෙඩි තලල කුඩු කර ගෙන රන් වන් පාට වෙන කල් කබලක දාල බැද ගන්නවා. එහෙම නැත්නම් අරළු ගෙඩි තලල බැදගත්තට පස්සෙ කුඩු කරගත්තත් කමක් නෑ. අන්න ඒ කුඩු ටික තියාගෙන රෑට නින්දට යන්න පෙර ඒකෙන් දිනපතා දත් මදිනවා. හැබැයි මෙතනදි අරළු කුඩුවලින් දත් මදින්න ඉස්සෙල්ල සාමාන්‍ය විදියට දත් මැදගෙන ඉන්නව නම් වඩා හොඳයි. ඊට පස්සෙ අරළු කුඩුවලින් දත් මදින කොට ඒ සඳහා දත් බුරුසුවක් පාවිච්චි නොකර ඇඟිල්ලෙන් විදුරුමහත් එක්කම පිරි මදිමින් දත් මදින්න පුළුවන් නම් වඩාත් හොඳ ප්‍රතිඵල ගන්න පුළුවන්. ඒ වගේම ඒ විදියට අරළු කුඩුවලින් දත් මැද්දට පස්සෙ, සාමාන්‍ය විදියට කට හෝදන්නෙ නැතිව ඉන්න පුළුවන් නම් තවත් හොඳයි. මොකද





එතකොට අරළුවල තියෙන ඖෂධීය කහට ගතිය ඉක්මනින් කා වැදිල අල්ල ගන්නවා. නමුත් ඉතින් තිත්ත ගතිය වැඩි නම් යන්තමට කට හෝදල දැම්මට කමක් නෑ. ඒ විදියට මාසයක් විතර එක දිගටම කරල, ඊට පස්සෙ සතියකට දින 3 - 4 ක් විතර අවුරුද්දක් තිස්සෙ පුරුද්දක් වශයෙන් කරන්න ඕන. මොකද මේ තත්ත්වය සමහර විට පීනස් රෝගයත් එක්කත් සම්බන්ධයක් තියෙන නිසා එක පාරටම සුද්ද වෙන්නෙ නෑ. යම් කිසි කාලයක් යනවා. එතකොට ඒ විදියට දිගටම කරන කොට අරළු රසය විදුරුමහ ඔස්සේ ඇදිල ගිහින් මොළය වටා තියෙන සිවියට ගමන් කරල, අර විස බීජ ඇදල විනාස කරල දානවා. ඉස්සර හිටපු මිනිස්සු නිතර අරළු ගෙඩියක් පුරුද්දක් වශයෙන් හක්කෙ තියාගෙන හිටියයි කියන්නෙත් ඒකයි. අරළුවල විශාල ඖෂධීය ශක්තියක් තියෙන නිසා දත් මුල්වලින් ඒ රසය ඇදිල ගිහින් අපද්‍රව්‍ය සුද්ද කරනවා.

ඉතින් ඒ විදියට අවුරුද්දක් හෝ වැඩි කාලයක් කරන කොට තමයි ඒ විස බීජ සම්පූර්ණයෙන්ම නැති වෙන්නෙ. එතකල් ඒ සිවියෙ අපද්‍රව්‍ය ටික ටික තියෙනවා. හැබැයි මාසයක් විතර යන කොට ප්‍රතිඵල අත්දකින්න පුළුවන්. අවුරුද්දක් - 1 1/2 ක් විතර ගියාට පස්සෙ ඒ ප්‍රතිකාරය නැවැත්තුවට කමක් නෑ. එතකොට ක්‍රමයෙන් දත් මුල් හයි වෙලා ඒ තිබ්බිච්ච අපද්‍රව්‍ය ඉවත් වෙලා යනවා. ඒ විදියට ක්‍රමයෙන් දත් සෙලවීමත් අඩු වෙලා යථා තත්වයට පත් වෙනවා. හැබැයි දත් මුල් දියවීම 30% දක්වා හෝ ඊටත් අඩු වෙන කල්ම සිද්ධ වෙලා තියේ නම් ඒ මට්ටමින්ම නවතිනව මිසක් නැවත විදුරුමහ වැඩීමේ සම්භාවිතාව අඩුයි. නමුත් විදුරුමහ 30% කට වඩා ඉතිරි වෙලා තියේ නම්, තවදුරටත් දියවීම වැළැක්වෙනවට අමතරව විදුරුමහ නැවත වැඩීමත් සිද්ධ වෙනවා.

ඒ වගේම මේ අරළු කුඩුයි, කරුංක කුඩුයි මිශ්‍ර කරල ඉතාමත් වටිනා ඖෂධීය දත් බෙහෙතක් හදා ගන්නත් පුළුවන්. එතනදි අර කලින් කියපු විදියටම අරළු කුඩු කරල රන්වන් පාට වෙනකල් බැදගන්නවා. ඊට පස්සෙ කරුංක ගෙඩි (ලෙලි ඉවත් කරල) කබලක වෙනම දාල අඟුරු වෙනකල් පුච්ච ගෙන කුඩු කර ගන්නවා. ඒ දෙක සම අනුපාතයට මිශ්‍ර කර ගත්තම දත් මදින්න ගන්න පුළුවන් හොඳම ඖෂධීය දත් බෙහෙතක් වෙනවා. ඒකෙන් දත් සුද්ද වෙනව විතරක් නෙවෙයි, දත් මුල් හයි වෙලා හෙලවෙන දත් පවා හොඳින් ශක්තිමත් වෙනවා. ඒ වගේම මේ දත් බේතෙන් දිනපතා උදේ හවස මාස 2 ක් විතර දත් මැද්දොත් ඉරුවාරදය කියන රෝගී තත්ත්වය පවා සුව කර ගන්න පුළුවන්.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෘතජ්ජනයින්ට සහ මගඵල ලාභීන්ට ඇති වන කාම රාග, ව්‍යාපාදයන්ගේ වෙනස....

(පසුගිය කලාපයෙන්: පෘතජ්ජනයින්ට සහ මග ඵල ලාභීන්ට ඇති වන මානයේ වෙනස....)

සත්වයෙක් සසරට බැඳිල තියෙන සංයෝජන ධර්ම දහයෙන් සත්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස, මාන කියන සංයෝජන ධර්ම හතර ගැන මීට පෙර විග්‍රහ කළා. තවත් සංයෝජන ධර්ම 2 ක් වන කාම රාග සහ ව්‍යාපාද පෘතජ්ජනයින්ට සහ මගඵල ලාභීන්ට පිහිටන ආකාරය තමයි මේ විස්තර කරන්නෙ. අම හෙවත් නිවන කා දමන දේවල් අග්‍ර කර ගැනීම තමයි කාම රාග කියන්නෙ. වැය වෙන පැත්ත තමයි ව්‍යාපාද කියන්නෙ. කාම රාග සහ ව්‍යාපාදය ගත්තොත් පෘතජ්ජනයින්ට ඒක නීවරණ මට්ටමින් පිහිටනවා. උදාහරණ විදිහට කාම රාගය ගත්තොත් ඒකෙ බලවත්ම අවස්ථාව වන කාමච්ඡන්දය කියන නීවරණය තමයි පෘතජ්ජනයින්ට තියෙන්නෙ. වෙනත් විදියකින් කියනව නම් කාමය නිසා සිතේ ඇති වන අන්ධ භාවය, කාමය නිසා මත් වීම. හැබැයි මේ කාමය කියන්නෙ අද හිතාගෙන ඉන්නව වගේ ස්ත්‍රී පුරුෂ සම්බන්ධයෙන් ඇති වන කාමය විතරක් නෙවෙයි. ඒක ප්‍රධාන කාරණය තමයි. නමුත් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන මේ සියල්ලම කාමයට අයිතියි. ඒක තමයි පංච කාමය කියන්නෙ.

පෘතජ්ජනයින්ගෙ කාම-ච්ඡන්දයක් ඇත්නම් ඒ තුළ සමහර විට සතර අපාගත වෙන්න හේතු වෙන කාරණා යෙදෙනවා. ඒ කියන්නෙ යම් කිසි ආකාරයක නිරය ගති, තිරිසන් ගති, ප්‍රේත ගති, අසුර ගති කියන මේ හතර ගතියෙන් වැඩ කළොත් සතර අපායට යන්න හේතු වෙනවා. කාමයෙන් මත් වුනාම බොහෝ කොටම තිරිසන් සහ ප්‍රේත ගති දෙක තමයි ඇති වෙන්නෙ. ඊට අමතරව අසුර ගතියත් කාමය මුල් කර ගෙන ඇති වන අවස්ථා තියෙනවා. නිරය ගතිය ඇති වෙන්නෙ දිට්ඨි උපාදානය සහ ද්වේශය මුල් කරගෙන. විශේෂයෙන් කාමයෙන් මත් වුනාම තිරිසන් විදියට තමයි මිනිස්සු ක්‍රියා කරන්නෙ. ඒ කියන්නෙ තිරිසනෙක් වගේ හැසිරෙනවා. කාම අරමුණක් ආවම දෙමවුපියෝ ඉන්නවද, වැඩිහිටියෝ ඉන්නවද, තැනට ඔබිනවද කියන මේ කිසිම දෙයක් බලන්නෙ නෑ. ඒ අරමුණ කොහොම හරි ක්‍රියාත්මක කරන්න බලනවා. කාම අරමුණක් අල්ල ගෙන ඒකෙන් මත් වෙච්ච පෘතජ්ජන පුද්ගලයෙකුට තැනක් නොතැනක් තේරෙන්නෙ නෑ, ගුණ ධර්මයක් හොඳ නරකක් තේරෙන්නෙ නෑ,



ලැජ්ජාවක් බයක් නෑ. එතකොට හොඳ සිහිය වැහිල යනවා. ඊට පස්සෙ ඕන තැනක නිකං මන්ද බුද්ධිකයෙක් වගේ තමයි හැසිරෙන්නෙ. අදත් ඔය දෙනෝ දාහක් බලං ඉඳෙද්දි කිසිම ලැජ්ජාවක් බයක් නැතිව අල්ලගෙන බදාගෙන විවිධාකාරයෙන් කාමුක විදියට හැසිරෙන අය ඕන තරම් ඉන්නවා. කවුද එතැන ඉන්නෙ, තැන නොතැන ඒ මුකුත් බලන්නෙ නෑ. අන්න ඒ වගේ පිරිසකුත් මේ පෘතජ්ජනයින් අතර ඉන්නවා. ඒ තමයි කාමයෙන් මත් වෙච්ච අයගෙ හැටි. ඉතින් මේ මත්වීම ස්පර්ශයට විතරක් නෙවෙයි රූප, ශබ්ද, ගන්ධ, රස කියන අනික් ඒවටත් අදාලයි. නමුත් ස්පර්ශය ප්‍රධාන නිසා තමයි විශේෂයෙන් විග්‍රහ කළේ.

ඒ වගේම සමහරු විවිධ කාමුක ශබ්ධවලින් මත් වුනාමත් මොකක් හරි ශබ්ද යන්ත්‍රයක් කනේ ගහගෙන හරි දවසෙම ඉන්නවා. ඒකම නැවත නැවත ඇසුරු කරනවා. මොනව වෙනවද කියල දන්නෙත් නෑ. කන්න බොන්න ගියත්, නිදා ගන්න ගියත් මොකක් හරි කාම අරමුණකට සම්බන්ධ ශබ්දයක් අහන එකමයි කරන්නෙ. රූප කාමයෙන් මත් වුනාමත් එහෙමයි. අනෙක් ඔක්කොම වැඩ පාඩු කරගෙන ඒවමයි බලන්නෙ. එතකොට පෘතජ්ජන බොහෝ අයට කාම අරමුණක් ආවම තැනක් නොතැනක්, කාලයක් නෑ. විශේෂයෙන් ස්පර්ශ කාමයෙදි තිරිසන්නු වගේ තමයි හැසිරෙන්නෙ. මේ තිරිසන් විදියට හැසිරීමට හොඳ උපමාවක් තමයි බල්ලන්ගෙ සංවාසය. උන් සංවාසයෙ යෙදෙන කොට උන්ට කිසිම තැනක් නොතැනක් නෑ, ලැජ්ජාවක් බයක් නෑ. කොච්චර සෙනග මැද්දෙදි වුනත් උන්ගෙ වැඩේ උන් කරගන්නවා. ඒ වගේ අවස්ථාවක් ආවොත්, එහෙම හැසිරෙන ඔය ජාතියෙ මිනිස්සුත් ඉන්නවා. කාමච්ඡන්දයෙන් මත් වෙච්ච බොහෝ පෘතජ්ජනයෝ ඒ වගෙයි.

ව්‍යාපාදයත් ඒ වගේමයි. මෙතනදි ව්‍යාපාද නීවරණය කියන්නෙ එකක්, ව්‍යාපාදය කියන පාපය තව එකක්. පෘතජ්ජන අයට තියෙන්නෙ නීවරණ මට්ටමේ ව්‍යාපාදය. ඒක මහ බලවත්. නමුත් මගඵල ලාභීන්ට තියෙන ව්‍යාපාදය ඊට වඩා අඩු පාප ගතියක්. වැය වෙන පැත්ත තමයි ව්‍යාපාදයෙන් කියන්නෙ. ගුණ ධර්ම තමයි වැය වෙන්නෙ. අයවැය කියල ලෝක සම්මතයක් තියෙනවා. අය කියන්නෙ හැම විටම යහපත් දේ. වැය කියන්නෙ අයහපත් දේ. වැය වෙන පැත්තට පත්වීම අයහපත්. කෙනෙක්ගෙ මානසිකත්වය අයහපත් පැත්තට වැඩෙනව නම් ඒක තමයි ව්‍යාපාදයේ ලක්ෂණය. ව්‍යාපාදය ☞

බලවත් පෘතජ්ජනයෙකුට තරහ ආවම අම්මද, තාත්තද, ගුරුවරයද, වැඩිහිටියද කියල ඒ එකක්වත් බලන්නෙ නෑ. මා විසින් බැනිය යුත්තෙක්ද, එහෙම නැත්නම් ගරු කළ යුත්තෙක්ද කියන ඒ එකක්වත් හොයන්නෙ බලන්නෙ නෑ. ඒ පුද්ගලයට බල්ලත් එකයි, මනුස්සයත් එකයි. බනින්න හිතුනොත් පහත් විදිහට බනිනවා, නින්දා අපහාස කරන්න ඕන වුනොත් ඒකත් කරනවා. අන්න ඒ ජාතියෙ ස්වභාවයක් තමයි ව්‍යාපාදය බලවත් පෘතජ්ජනයින්ට තියෙන්නෙ. මානසිකත්වය වැය වෙලා තියෙන්නෙ ඒ විදියට. තරහ ආවම ගුණධර්මයක් හිතා ගන්නත් බෑ. ව්‍යාපාදය කියන නීවරණයෙන් මනස වැහෙනවා. එතකොට සතර අපාගත වෙන්න හේතු වෙන මහ ගිනි දෙන දේවල් පවා කරන්න පෙළඹෙන්න පුළුවන්. ''මට අහුවුනොත් ඕකුන්ගෙ පරම්පරාවම විනාස කරනවා.'' ව්‍යාපාදය මුල් කරගෙන සමහර පෘතජ්ජනයින්ට ඒ විදියෙ මහ විසාල දාහයක් එනවා. ඒකෙන් නිරයගාමී පාප කර්ම පවා කර ගන්නවා. අනුන්ට ගිනි දෙනව කියන එක තමයි මේ පෙන්වන්නෙ. ඒකෙන් තමන්ට ගිනි අපායෙ ඉපදෙන්න හේතු වන්නා වූ සංඛාර කොටසක් ඇති කරනවා. අද කාලෙ මේ වගේ දේවල් රටේ ලෝකෙ බහුලව අහන්න ලැබෙනවා. මේ එක පැත්තක්.

ඒ වගේම සමහර පෘතජ්ජනයින් කාමච්ඡන්දය මුල් කරගත්තම විවිධාකාරයේ බොරු කියල, අනුන් රවට්ටල අනුන් සීතල කරල හරිනවා. ඒ හේතුවෙන් සීතල අපායෙ ගිහින් උපදිනවා. මේ ඔක්කොම පහත් පැත්තට තියෙන ගති. කාමයෙන් මත් වුනාම තිරිසන් වෙනවා, කාමය නිසා ද්වේශය නැගිල ගිනි අපායට යනවා, කාමයන් භුක්ති විඳින්න බොරු කපටිකමින් රවට්ටල අසාධාරණකම් කරල සීතල අපායට යනවා. උදාහරණ විදියට කෙනෙක් පිටින් පේන්න, තමන් කවදාවත්ම භාර්යාව අතරමං කරල දාල යන කෙනෙක් නෙවෙයි කියල අඟවන්න පුළුවන්. නමුත් අන්තිමට දරුවෙකුත් දීල මග හැරල යනවා. ගිහින් මොකද කරන්නෙ, වෙන මොකක් හරි පිස්සුවක් නටනවා, රඟපානවා. පිස්සු හැදිල වගේ, නිච්චි නැතිව වගේ රඟපාල මුකුත් නැති ගානට ඉන්නවා. දැන් අර කාන්තාව මෙහෙම කල්පනා කරනවා. ''අනේ ඒ මනුස්සය කවදාවත් එහෙම දාල යන කෙනෙක් නම් නෙවෙයි, මොනව හරි කරදරයක් වෙන්න ඇති, මගදි අනතුරක් වෙන්න ඇති. කවුරු මොනව කිව්වත් එයා නම් කවදාවත් එහෙම කරන්නෙ නෑ.'' දැන් මෙහෙම කිය කියා දුක් වෙවී අඬනවා. නමුත් ඇත්තටම ඒ මිනිහ වංචාවට කපටිකමට රවට්ටල සීතල ගණන් දාල පැනල ගිහින්. ඒ ජාතියෙ අය තමයි මරණින් මතු සීතල අපායෙ ගිහින් උපදින්නෙ. හැබැයි පෘතජ්ජනයො ඒ වගේ දේවල් කළාට මගඵල ලාභීන් කවදාවත් ඒ ජාතියෙ වැඩ කරන්නෙ නෑ. ඒක තමයි වෙනස.

සත්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස කියන මේ සංයෝජන 3 ඉවත් වෙන කොට පෘතජ්ජනයින්ගෙ මට්ටම මගඵල ලාභීන්ට එන්නෙ නෑ. සතර අපාගත වෙන්න හේතු වෙන සංයෝජන මට්ටම අහක් කළාම ඉතිරි



වෙන කාම රාග, ව්‍යාපාද මට්ටමින් අර වගේ ස්වභාවයක් ඇති වෙන්නෙ නෑ. එතකොට පෘතජ්ජනයින්ට තියෙන කාමච්ඡන්දය කියන මහ බලවත් නීවරණය වෙනුවට සෝවාන් අයට තියෙන්නෙ කාම රාග කියන ඊට වඩා බලවත් බවින් අඩු කොටස. සෝවාන් කෙනෙක් කවදාවත් ඒ ජාතියේ තිරිසන් මට්ටමේ වැඩ කරන්නෙ නෑ. තිරිසන් මානසිකත්වයක් කවදාවත් එන්නෙ නෑ. නමුත් කාමය තියෙනවා. උදාහරණ විදියට සුචරිත කාමයක් ගත කරන ක්‍රමයක් තියෙ නම්, ඊට අනුකූල ජීවිතයක් ඒ පුද්ගලයා ගත කරන්න පුළුවන්. ගෙදරක හිටියත් කාමයන්ගෙන් මුසපත් වෙලා, දෙමවුපියො වැඩිහිටියො ඉස්සරහ තිරිසන් විදියට, නොහොබිනා විදියට හැසිරෙන්නෙ නෑ. ලැජ්ජාව බය කියන දෙක තියෙනවා. නමුත් කාමය විඳිනවා. හැබැයි ඒ අර ජාතියේ නීච විදියට නෙවෙයි. සතර අපාගත බවට පත් වෙන, තිරිසන් බවට පත් වෙන කාම උපාදානයක් ඒ අයට නෑ.

ව්‍යාපාදයත් ඒ වගේමයි. ව්‍යාපාදය තිබුනත් යුක්තිය අයුක්තිය තේරෙන්නෙ නැති, සමහර පෘතජ්ජනයින්ට තියෙන මට්ටමේ ව්‍යාපාදයක් එන්නෙ නෑ. තරහ එනවා. හැබැයි අනුන්ට ගිනි දෙන ස්වභාවයේ එකක් කවදාවත් එන්නෙ නෑ. ඕන නම් කෙනෙකුට සාමාන්‍ය විදියට බනින්න පුළුවන්. පාරක් ගැහුවත් සිහි බුද්ධියෙන් ගහනව මිසක් මාරාන්තික වෙන්න ගහන ද්වේශමය බලාපොරොත්තු සහගත හිතක් නෑ. ඒ වගේ චේතනාවක් සම්පූර්ණ වෙන්නෙ නෑ. ටිකක් රිදෙන්න ගහන්න පුළුවන්. හැබැයි අල්ලගෙන අතපය කඩල තුවාල වෙන්න තරම් චේතනාන්විතව ගහන දෘෂ්ටිගත හිතක් සෝවාන් අයට එන්නෙ නෑ. හැබැයි ඒ වගේ ක්‍රියා කරන අවස්ථාවකදි යම් යම් අනතුරු ආපදා වෙන්න පුළුවන්. නමුත් එතනදි දෘෂ්ටිගත සිතක් නැති කාරණය තමයි වැදගත් වෙන්නෙ.

සකෘදාගාමී අය ගත්තම මේ කාම රාග, ව්‍යාපාද දෙක තවත් අඩු වෙනවා. සමහර විට කෙනෙකුට ගහන්න තරම්වත් දෙයක් නොකර නිකං අවවාදයක් විතරක් කරල ඉන්න පුළුවන්. ඒ වගේම කෙනෙක් කරපු කටයුත්තකට රුස්සන්නෙ නැති අමනාප ස්වභාවයක් පෙන්වන්න පුළුවන්. කාම රාගය ගත්තමත් සෝවාන් අයට වඩා අඩුයි. ඒකත් ඒ අවස්ථාවට විතරයි. අවස්ථාව ඉක්මවා ගිහින් යලි යලිත් ඒ ගැන හිත හිතා, ඒ පසු පසම හඹා යන ගති ස්වභාවයක් නෑ. ඒ ගැන නැවත ආවර්ජනය කරනව අඩුයි. ඒ අවස්ථාවෙ ස්වභාවය, ආදීනව නිතර දකිනවා. කාමය වුනත් ශරීරයට අවශ්‍ය නිසා යෙදෙනව මිසක් යළි යළිත් නිර්මාණය කර කර විඳින බලාපොරොත්තුවක් නෑ. නමුත් අවශ්‍යතාවය ඉටු කර ගන්නවා. හැබැයි සකෘදාගාමී පුද්ගලයා දන්නවා, ඒක පත පතා ඉන්න තරම් වටින දෙයක් නෙවෙයි කියල. දහම් අවබෝධය නිසා එහෙම අදහස් එනවා.

උදාහරණ විදියට දදයක් කහන නිසා කහනව මිසක්, හොඳ නිසා කහනව නෙවෙයි. රසට කන්න ඕන නිසා කනව මිසක් හොඳ නිසා කනව නෙවෙයි. ඒක

ප්‍රිය මනාපයෙන් භුක්ති විඳීමත් කරනවා. හැබැයි හොඳයි වටිනවයි කියල නිගමනය කරන්නෙ නෑ. කාම සම්පත් භුක්ති වින්දත් ඒවායේ ඇලිල ගැලිල ඉන්න වටින්නෙ නෑ කියන අදහස එනවා. ගැටීමක් ආවත් ඒකෙ එල්ලිලා ඉන්න වටින්නෙ නෑ, යළි යළි පවත්වන්න වටින්නෙ නෑ කියන අදහස එනවා.

සකින් ආ ගාමී හෙවත් සකෘදාගාමී කියන්නෙ වරක් එන්නා කියන අදහස. සකි කියන වචනයේ එක අදහසක් තමයි වරක් කියන්නෙ. ඒ කියන්නෙ තරහක් ආවත් එකම කාරණයට දෙපාරක් එක දිගට තරහ එන්නෙ නෑ, එක පාරයි. කාම අදහසක් ආවත් ඒ පස්සෙ දෙපාරක් ගිහින් වැළඳ ගන්න තරම් අදහසක් එන්නෙ නෑ. ඒවාට හැපෙන්න යන්නෙ නෑ. ඒ කියන්නෙ අවශ්‍ය හේතුවට යෙදුන මිසක් ඒක හොඳයි, වටිනවයි කියල පිළිගන්නෙ නෑ. ඒක තමයි ස්වභාවය. නමුත් සකෘදාගාමී කිව්වම, අද එක වරක් එනව කියන අදහස පටු විදියට අර්ථ නිරූපනය කරනවා. ඒ කියන්නෙ සකෘදාගාමී කෙනෙක් මරණින් මතු දිව්‍ය ලෝකෙ ඉපදිලා, එතනින් චුත වෙලා නැවත වරක් මනුස්ස ලෝකෙ ඉපදිලා පිරිනිවන් පානව කියන අදහසක් තමයි අරන් තියෙන්නෙ.

නමුත් නැවතත් මනුස්ස ලෝකයටම එනවයි කියල නියමයක් නෑ. මනුස්ස හෝ දේව කියන කාම ලෝකයේ වරක් උපදින්න එන්න පුළුවන් කියල ඒකෙන් අදහස් කරන්නෙ. ඒ විදියට අර්ථය ගන්න පුළුවන් වුනත්, ඒ අර්ථයෙන් විතරක් සකෘදාගාමී කියන එක අර්ථ නිරූපනය කළොත් ඒක පටු අදහසක් වෙනවා. වරක් කියන අවස්ථාවට ආවට පස්සෙ ඒකෙ විපාකය විඳවන කොට ඒ පිළිබඳ යළි යළිත් බලාපොරොත්තු අත් හැරිල යනවා. ඒ කියන්නෙ අයහපත් දෙයක් එක වරක් හරි හිතුව නම්, ඒ පිළිබඳව විදර්ශනාව නැගිල ඒකත් අත් හැරිල යනවා. ඒ නිසා තමයි එක වරකින් ඒ දෙය අත් හරිනව කියන්නෙ. එතකොට කාම ලෝකයේ තව තවත් සිත් ගන්න තියෙන උපාදාන ශක්තිය අඩු වෙනවා. ඒක අත්දැකීමෙන් තමයි ලබන්නෙ.

හරියට රෑ වැටිච්ච වලේ දවල් වැටෙන්නෙ නෑ වගේ. දවල්ට එළියයි. ඒ වගේ දහම් එළිය පහළ වෙලා තියෙන්නෙ. රෑ වැටිච්ච වල කියන්නෙ අවිද්‍යාවෙන් කරපු දේවල්. අවිද්‍යාව අඳුරුයි. ඒ කියන්නෙ කාම ලෝකය හොඳයි කියල නිගමනය කරපු එක. හැබැයි ඒ නිගමනය ගත්තට, දහම් ඇස පහළ වෙලා තියෙන නිසා, ඒත් පූර්ණ නැති නිසා වරක් එනව කිව්වම, ඒ පුද්ගලය බලාපොරොත්තු වෙච්ච පරිදි කරපු පිං කුසල්වලින් නැවතත් කාම ලෝකයේම සුගතියක උපදින්න පුළුවන්. නමුත් උපන්නට පස්සෙ අර අත්දැකීම් මනස තවත් වැඩෙන්න ගන්නවා. බැඳීමේ මට්ටම අනුව එතනදිත් මේ කාම ලෝකෙ නම් හරයක් ඇත්තෙම නෑ කියල නැවතත් අත්දැකීමක් ලබනවා. ඒ නිසා එතනදි ඒ අත්දැකීම පූර්ණ කරනවා. එතකොට ඒ පුද්ගලය රෑ වැටුනු වලේ දවල් වැටෙන්න යනව කියල අත්දැකීමෙන්ම ඒ කාරණය දකිනවා. නමුත් කලින් දැක්කෙ



අත්දැකීමෙන් නෙවෙයි. එක වතාවක් හිතට වැදුනම තමයි අත්දැකීමක් ලබන්නෙ. ඊළඟට තමයි ඒක අත්හැරිල යන්නෙ.

උදාහරණ විදියට කෙනෙක් වාහනයක් පදව ගෙන යන කොට, ඒ වාහනය අධික වේගයෙන් ගියොත් පාලනය කර ගන්න බැරි වෙලා අනතුරක් වෙන බව අනුමානයෙන් දන්නවා. හැබැයි දැනගත්තට වේගයෙන් යනවා. මොකද අත්දැකීම එනකල් තමන්ගෙ පාලනය තමන්ට තේරෙන්නෙ නෑ. ඔහොම ගිහින් කොයි වෙලාවක හරි අනතුරක් වෙලා යම් අත්දැකීමක් ලැබුවොත්, ඊට පස්සෙ ඒ පුද්ගලයට වැටහීමක් එනවා. ''මම කලිනුත් මේක වැරදි බව දැන දැනත්, එහෙම අනතුරක් වෙන එකක් නෑ කියල හිතාගෙන කළා. ඒ වුනාට මට පාලනය කරගන්න බැරි වුණා. ආයෙ නම් එහෙම යන්නෙ නෑ.'' දැන් අර අත්දැකීම නිසා නිගමනයකට එනවා. ඒ වගේ මුල් මට්ටමේ මගඵල ලාභීන්ට දහම් ඇස පහළ වෙලා තිබුණත්, පූර්ණ නැති නිසා රෑ වැටිච්ච වලේ දවල් වැටෙන්න පුළුවන්. මොකද චක්ඛුං උදපාදි වුනාට ඥානං උදපාදි, පඤ්ඤා උදපාදි, විද්‍යා උදපාදි, ආලෝකෝ උදපාදි කියන තත්ත්වයන්ට පූර්ණව පත් වෙලා නෑ. ඒ තැනට අනුපිළිවෙලින් නැගෙන්න ඕන. ඒ සඳහා තවත් එහාට විදර්ශනා වඩාගෙන යන්න ඕන. එතකල් උපාදානයෙන් මිදෙන්න බෑ. චක්ඛුං උදපාදි වුනාට පස්සෙ ලැබෙන්නෙ සෝවාන් ඵලය. ඥානං උදපාදි වුනාට පස්සෙ සකෘදාගාමී ඵලය. පඤ්ඤා උදපාදි වුනාට පස්සෙ අනාගාමී ඵලය. එතනදි තමයි ප්‍රඥාව පහළ වෙලා කාම ලෝකයේ උපාදානය සම්පූර්ණයෙන්ම අත හැරිල යන්නෙ. විද්‍යා උදපාදි වුනාම අරිහත් ඵලය. ආලෝකෝ උදපාදි කියන්නෙ අරිහත් ඵලයත් එක්ක ලැබෙන නුවණ. ඒ නිසා පඤ්ඤා උදපාදි වෙන කල් තවදුරටත් කාම ලෝකය ඇසුරේ ඉන්නවා. නමුත් ප්‍රකාරය දකින්න නම් අර වගේ අත්දැකීමක් ලබන්න ඕන.

ඒ නිසා වරක් එනවයි කිව්වම, වරක් එන්නෙ මොකටද කියන කාරණය දකින්න ඕන. යම් කිසි විදියකින් පහත් පැත්තට ගමන් කරන්නෙ නෑ කියන අදහස තමයි එතනදි මූලික වශයෙන් ගන්න ඕන. නමුත් ඕරම්භාගීය සංයෝජන (කාමරාග, ව්‍යාපාද) තවමත් ප්‍රහීණ කරල නැති නිසා ඒ මට්ටමේ පාපයක් සිද්ධ වෙන්න පුළුවන්. හැබැයි ඒ මට්ටමට වඩා පල්ලම් බහින්නෙ නෑ. නැවත නැවතත් ඒ පස්සෙ හඹා යන්නෙ නෑ.

උදාහරණ විදියට තමන්ට යම් කිසි කෙනෙක් පහරක් ගැහුවත්, ඒකට ඒ වෙලාවෙදි මොනව හරි අප්‍රසාදයක් පළ කරනව මිසක්, ඕක මට ගැහුවනෙ කිය කියා පලිගන්න හිතේ තියාගෙන ඉන්නෙ නෑ. ඒක සංසිඳව ගන්න බලනවා. එහෙම දෙයක් වුනා නම්, නැවතත් එහෙම දේකට මම ඉඩ තියන්නෙ නෑ කියල අදහස් ගන්නවා. සමහර විට මේ වගේ

මගඵල ලාභීන් තුලිනුත් සසර පුරුදු නිසා හෝ තමන් ජීවත් වෙන ගෙදර දොරේ වට පිටාවෙ තියෙන ස්වභාවය නිසා හෝ එහෙම අඩුපාඩු වෙන්න පුළුවන්, යම් කිසි වැරදි පුරුදු එන්න පුළුවන්. නමුත් එක පාරක් අත්දැකීමක් ලැබුවොත් ඒ පුද්ගලය ඒකෙන්ම හොඳ පාඩමක් ඉගෙන ගන්නවා. නැවතත් ඒ වගේ දේකට පෙළඹෙන්නෙ නැති වෙන්න මනස හදා ගන්නවා. පෘතග්ජනයො වගේ පළි ගන්න ගැටි ගැටී යන ස්වභාවයක් නෑ. ඒ පුද්ගලය ඒකෙන් ආදර්ශයක් ලබා ගන්නවා. තමන්ට ගැහුව බැන්න කියල දැඩි විදියට දැවෙන්නෙ තැවෙන්නෙ නෑ. මගේ අහවල් වරද නිසානෙ මේක සිද්ධ වුනේ, මේ මුලා වැඩේට මං බැහැපු නිසානෙ මට මෙහෙම වුනේ.... මේ ආදී වශයෙන් ඒ වෙලාවෙ අදහස් එනවා. ඒ කියන්නෙ තමන්ගෙනුත් වරදක් වුනානම්, වරද වරද හැටියට දකිනවා. හංගන්නෙ නෑ. එහෙම දැකල ඒකෙන් මිදෙන්න උත්සාහ කරනවා. එතනින් එහාට පෘතග්ජනයො වගේ දුර දිග ගෙනියන්නෙ නෑ.

ඊළඟට අනාගාමී වෙන කොට මේ සංයෝජන දෙකෙන් ව්‍යාපාදය සම්පූර්ණයෙන්ම පහ වෙනවා. නමුත් කාම මාත්‍රයක් තියෙනවා. හැබැයි ඒ කාම රාග නෙවෙයි. කාම රාග කියන්නෙ කාමයේ සැරි සැරීම අග්‍ර කිරීම. කාම රාගයන් සඳහා යම් යම් දේවල් මම, මගෙ කරගෙන පවත්වගෙන යන්න අදහසක් නෑ. ඒ නිසාම තමයි අනාගාමී කෙනෙක් කාම ලෝකයේ උපාදානයෙන් මිදෙන්නෙ, මරණින් මතු නැවතත් කාම ලෝකයේ උප්පත්තියට නොඑන්නෙ. මමෙක් හදාගෙන කාම රාගය විඳිනවා කියන බලාපොරොත්තුවක් තියා ගන්නෙ නෑ. හැබැයි කාම හැඟීම් නෑ කියන එක නෙවෙයි මේ කියන්නෙ. රහතුන් වහන්සේලාට තමයි එහෙම හැඟීම් (සංඥා, චිත්ත දෙකම) නැත්තෙ. නමුත් අරිහත් මාර්ගයේ ඉන්න කෙනාටත් කාම කියන කොටස තිබුණට, උපාදානයක් නැති නිසා කාම ලෝකයේ උපදින්නෙ නෑ. කාම ලෝකයට අදාල වන කාම රාගය තමයි නැති වෙන්නෙ.

හැබැයි කාමය කිව්වම මනුස්ස ලෝකෙ පංච කාමයට සම්බන්ධ මානසිකත්වය තමයි ධර්ම කාමය විදියට තියෙන්නෙ. එතකොට කාම කියන කොටස සුළු වශයෙන් තිබුනට ඒක දෙවෙනි වෙනව මිසක් අග්‍ර වෙන්නෙ නෑ. ධර්ම කාම කියන්නෙ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන දේට ඇති, මතුවටත් පවත්වන බලාපොරොත්තු රහිත කැමැත්ත. අනාගාමී කෙනාට ධර්ම කාම තිබුණට ධර්ම කාම රාග නෑ. ඒ කියන්නෙ ධර්ම කාමය අග්‍ර වෙන්නෙ නෑ. ධර්ම කාම රාග කියන්නෙ ඒ විදියට මතු මතුත් පවත්වන බලාපොරොත්තු සහිත කැමත්ත. රූප රාග, අරූප රාග කියන්නෙ කාම කොටසක් නෙවෙයි. ඒක ධර්ම රාගයට අයිති වෙන්නෙ. එතකොට ධර්ම කාම කියන්නෙ එකක්, ධර්ම කාම රාග කියන්නෙ තව එකක්. ධර්ම රාග කියන්නෙ තවත් එකක්. ධර්ම රාගය තියෙන නිසා තමයි අනාගාමී අය රූප, අරූප ලෝක දෙකට සම්බන්ධ වෙන්නෙ. නිවන් දකින්න අවශ්‍ය ආර්ය මාර්ගය ගැන කතා කරන සම්මා දිට්ඨි, සම්මා සංකප්ප සම්බන්ධ සියල්ල අයිති වෙන්නෙ ධර්ම රාගවලට. අනාගාමී කෙනාට ඒ ටික තියෙනවා. ධර්ම කාම කිව්වම ධම්මායතන පරියාපන්න රූප කියල හඳුන්වන අනිදස්සනං අප්පටිගං, සනිදස්සනං අප්පටිගං, සනිදස්සනං සප්පටිගං.... ආදී වශයෙන් කියන කොටස්



පවා අයිති වෙනවා. ඒ කියන්නෙ දැනට පේන දේවල් පිළිබඳ මතකයන්.

උදාහරණ විදියට සනිදස්සනං අප්පටිගං කිව්වම ඇහෙන් දර්ශනය කරන්න පුළුවන් වුනාට භෞතිකව ස්පර්ශ කරන්න බෑ (ද්‍රව්‍යයක් ද්‍රව්‍යයකට බැඳීම වගේ ස්පර්ශ කරන්න බෑ.) කනට ශබ්දයක් භෞතිකව ස්පර්ශ කරන්න බෑ (ශබ්ද රූප ස්පර්ශය නෙවෙයි මේ කියන්නෙ) අනිදස්සනං අප්පටිගං කිව්වම ඒවත් ධම්මායතන පරියාපන්න රූප. හැබැයි ශබ්ද පිළිබඳ මතකයන් තමයි ඒවාට ගෝචර වෙන්නෙ. ශබ්ද පිළිබඳ මතක් කරල ගන්න, යළි යළි හිතෙන් අහන්න පුළුවන් ස්වභාවය තමයි මේ කියන්නෙ. මනංච පටිච්ච ධම්මේච උප්පජ්ජති මනෝ විඤ්ඤාණං කියන කොට, මනසට හැම වෙලාවෙම ධර්මය ගැටෙනව මිසක් වෙන එකක් ගැටෙන්නෙ නෑ. එතකොට බුදු දහම ගැන බලාපොරොත්තු සහගත කැමැත්තක් ඇතිවෙනව නම්, ඒක ධර්ම රාගයක්. නමුත් ලෝකානුකම්පාවෙන්, දයානුකම්පාවෙන් ධර්මය දේශනා කිරීම, කතා කිරීම ධර්ම රාගයක් නෙවෙයි, නිකං ක්‍රියාවක් විතරයි. ඒ නිසා තමයි රහතන් වහන්සේට ධර්ම රාගයක් නැත්තෙ, ක්‍රියා සිත් විතරයි තියෙන්නෙ. ධර්ම කාම කියන්නෙ ඊට පහළ තියෙන පංචේන්ද්‍රිය ගෝචර කොටස් පිළිබඳ මනසට ඇති වෙන්නා වූ උපාදානය නොවන ආස්වාද හැඟීම. නමුත් අනාගාමී කෙනාට පංචේන්ද්‍රියන්ගෙන් ගන්න අරමුණුවලට කැමැත්ත තිබුණට ඒවා අග්‍ර කරන්නෙ නෑ. ඒ නිසා ධර්ම කාම රාග නෑ. ධර්ම කාම රාග තිබුණොත් තමයි උපාදාන වෙන්නෙ.

ඒ නිසා ධර්ම කාමයත්, ධර්ම රාගයත් තියෙනවා. දිව, නාසය, ශරීරය කියන ඉන්ද්‍රියන් තුළින් ආස්වාද විඳින බලාපොරොත්තුව අග්‍ර කළොත් තමයි කාම රාග වෙන්නෙ. නමුත් අනාගාමී කෙනා ඇහින්, කනින්, මනසින් බුදුන් සඟුන් දකින්න, ධර්මය අහන්න, ධර්මය මෙනෙහි කරන්න කැමති නිසා ඒ තුනෙන් ගන්න අරමුණු ධර්ම රාග මිසක් කාම රාග නෙවෙයි. දිව, නාසය, ශරීරය කියන ඉන්ද්‍රියන් තුනෙන් ගන්න අරමුණු පිළිබඳ මතකය උපාදානයෙන් තොරව මනසින් ගන්න කොට ඒව තමයි ධර්ම කාම කියන්නෙ. ඇස, කන, දිව, නාසය, ශරීරය කියන පහෙන් දිව, නාසය, ශරීරය පිනවීම පිළිබඳ යමක් ගන්නව නම්, ඒ පිළිබඳව මතක සටහන් ක්‍රියාත්මක වෙන්න ප්‍රියමනාපයක් තියේ නම් ඒව ධර්ම කාමවලට අයිතියි. එතකොට අනාගාමී කෙනාට ධර්ම කාම රාග නෑ. ඒ නිසා තමයි කාම රාග නෑ කියන්නෙත්. ඒ නිසා කාම රාගයි, කාමයයි කියන්නෙ දෙකක්. පංචේන්ද්‍රියන්ගෙන් ගන්න ආස්වාද අග්‍ර කිරීම තමයි කාම රාග කියන්නෙ. ඒ නිසා අනාගාමී කෙනාට ධර්ම කාම තිබුණට ධර්ම කාම රාග නෑ. ඒ කියන්නෙ කාමය ගැන ඉදිරි බලාපොරොත්තු සහිතව හිතන්නෙ, කියන්නෙ, කරන්නෙ නෑ. ඒව අග්‍ර කරන්නෙ නෑ. මේ ධර්ම කාම නැතිවෙන්නෙ අරිහත් ඵලයෙදි. එතකොට ධර්ම කාම, ධර්ම රාග කියන මේ සියල්ලම ප්‍රහීණයි. ධර්ම රාග නැති වෙන කොට තමයි රූප, අරූප ලෝකවලට තියෙන කැමැත්තත් නැති වෙන්නෙ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අනාගාමී ආර්ය උත්තමයන්ට අදාළ වන අන්තරා පරිනිබ්බායී අවස්ථාව

*(පසුගිය කලාපයෙන්: මගඵල ලාභීන්ගේ මරණාසන්න මොහොත....)*

මරණය සම්බන්ධයෙන් ලිපි පෙළ ආරම්භ කරන්න කලින් 24 වන කලාපයෙන් පටන් ගෙන ''ගන්ධබ්බයා හෙවත් අන්තරාභවිකයා සම්බන්ධ ගැටළුව දහම් ඇසින්'' කියන මාතෘකාව යටතේ ලිපි පෙළක් ඉදිරිපත් කළා. අන්න ඒ ලිපි පෙළට සම්බන්ධ තවත් කොටසක් තමයි මේ මරණය ගැන කියවෙන ලිපි පෙළින් විස්තර වෙන්නෙ. එතකොට එදා අන්තරාභවිකයා ගැන කරපු විස්තරයට සම්බන්ධ තවත් වැදගත් කොටසක් තමයි මේ විග්‍රහ කරන්නෙ. ඒ තමයි අනාගාමී ඵලයෙන් අරිහත් ඵලය කරා ගමන් කරමින් ඉන්න සමහර මගඵල ලාභී උතුමන්ගෙ අන්තරා පරිනිබ්බායී අවස්ථාව හෙවත් භවය අතර සිදුවන පිරිනිවන් පෑම. එතකොට මේ අන්තරා පරිනිබ්බායී ආර්ය උතුමන්ගෙ පිරිනිවන් පෑම කොතැනක කොහොම සිද්ධ වෙනවද කියල විමසල බලන්න ඕන.

අර්ථකථාචාර්යවරුන්ගෙ අදහස තමයි සුද්ධාවාස බඹ ලොව ඉපදිලා ඒ ආයුසෙන් අඩක් පමණ ගෙවල පරිනිවන්පාන බව. නමුත් සූත්‍ර පිටකයේ ඒ වගේ කරුණක් පෙන්වපු සූත්‍ර පාඨයක් නෑ. **මාර්ගඵල ලාභී උතුමෙක් යම් බඹ ලොවක උපන්න නම්, නැවතත් කාම ලෝකයට (දේව, මනුස්ස) නැවිත් ඒ බඹ ලොව ඒ අත්බැවට හිමි සම්පූර්ණ ආයුස ගෙවල හෝ එතනින් පසු වෙනත් බඹ ලොවක හෝ කිහිපයක හෝ ඉපදිලා අවසානයේ එහිදීම පිරිනිවන් පාන බව** තමයි ධර්මයේ සඳහන් වෙන්නෙ. යම් අත්බවයක මරණයෙන් පසුව තවත් අත්බවයක උපතක් අතර කාලයක යම් පැවැත්මක් පිළිගත්තොත්, අන්තරාභව සංකල්පය අනුමත කළා වෙනව කියන බිය නිසා, අන්තරා භව අවස්ථාවක් පිළි නොගත්තු පැරණි ආචාර්යවරු, අන්තරා පරිනිබ්බායී පුද්ගලයටත් බඹ ලොව උපතක් පනවල තියෙන බව තමයි මේකෙන් පැහැදිලි වෙන්නෙ. ඒ නිසා මේ කරුණු ඉදිරිපත් කරන්නෙ යථාර්ථය මොකක්ද කියල විමසල බලන්න. අනාගාමී පුද්ගලයා ප්‍රහීණ කරල තියෙන සංයෝජන අනුව තමයි අන්තරා පරිනිබ්බායී පුද්ගලයා තීරණය වෙන්නෙ. පොදුවේ සංයෝජන ප්‍රහීණ කරපු පුද්ගලයන් කොටස් 4 ක් ගැන අංගුත්තර නිකාය 2 වන පොතේ (258 පිටුව) චතුක්ක නිපාතයේ පුද්ගල වර්ගයේ **සංයෝජන පුද්ගල සූත්‍රයේ** දක්වෙනවා.

1. ඕරම්භාගීය සංයෝජන අප්‍රහීණ, උප්පත්ති පටිලාභී සංයෝජන අප්‍රහීණ, භව පටිලාභී සංයෝජන අප්‍රහීණ. (මේ පළමු කොටසින් සකෘදාගාමී පුද්ගලයා හඳුන්වා තියෙනවා)

2. ඕරම්භාගී සංයෝජන ප්‍රහීණ, උප්පත්ති පටිලාභී සංයෝජන අප්‍රහීණ, භව පටිලාභී සංයෝජන අප්‍රහීණ (මේ දෙවන අවස්ථාවෙන් උද්ධංසොත අකනිට්ඨගාමී කියන අනාගාමී පුද්ගලයා හඳුන්වා තියෙනවා.)

3. ඕරම්භාගී සංයෝජන ප්‍රහීණ, උප්පත්ති



පටිලාභී සංයෝජන ප්‍රහීණ, භව පටිලාභී සංයෝජන අප්‍රහීණ (මේ අවස්ථාවෙන් අන්තරා පරිනිබ්බායී පුද්ගලයා හඳුන්වා තියෙනවා)

4. ඕරම්භාගී සංයෝජන ප්‍රහීණ, උප්පත්ති පටිලාභී සංයෝජන ප්‍රහීණ, භව පටිලාභී සංයෝජන ප්‍රහීණ (අරිහතුන් වහන්සේ)

දැන් මේ වචන, ටිකක් ගැඹුරු නිසා ඉස්සෙල්ලම ඒවායෙන් කියවෙන තේරුම යම් පමණකට හෝ දැන ගැනීමත් වැදගත්. ඕරම්භාගීය කියන වචනයෙන් පෙන්වන්නෙ සාපේක්ෂව තද බල රළු සහිත වන්නා වූ ස්වභාවය ඇති කියන අදහස. එහෙම නැත්නම් එක්තරා ආකාරයකට පහත් පැත්තට බරයි කියන එක. හැබැයි මගඵල ලාභීන් සම්බන්ධයෙන් කතා කරන නිසා මේ කියන්නෙ සතර අපාගත මට්ටම නෙවෙයි. එතනදි සත්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස, කාමරාග, ව්‍යාපාද කියන ඒවා රළු ස්වභාවයක් ඇති සංයෝජන විදියට තමයි ගැනෙන්නෙ. ඒ කියන්නෙ කාම ලෝකයට අයිති ස්වභාවයක්. හැබැයි මෙතනදි සත්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස කියන මුල් සංයෝජන ධර්ම 3 දුරු කරල (ප්‍රහීණ කරල) ඉතිරි ඕරම්භාගීය සංයෝජන වන කාමරාග, ව්‍යාපාද කියන 2 ප්‍රහීණ නොකළ අය ගැන තමයි මේ පළමු අවස්ථාවෙන් කතා කරන්නෙ. ඕරම්භාගීය සංයෝජන තියේ නම් ඒක කාම ලෝකයට තමයි අයිති වෙන්නෙ. එතනදි පෘතජ්ජනයින්ට නම් ඔය මුල් සංයෝජන 3 ත් එක්ක සංයෝජන 10 ම තියෙනවා. සෝවාන් වෙන කොට මුල් සංයෝජන 3 නැති වෙනවා. නමුත් ඕරම්භාගීය සංයෝජනවලින් කාම රාග, ව්‍යාපාද කියන දෙක තියෙනවා. සකෘදාගාමී අයටත් ඒ දෙක සෝවාන් අයට වඩා අඩුවෙන් තියෙනවා. ඒ නිසා කාම ලෝකය පැත්තට බරයි. ඒ දෙකත් අත් හැරියම තමයි උද්ධංසොත වෙන්නෙ. ඒ කියන්නෙ උසස් පැත්තට හෙවත් බඹ ලොව පැත්තට බර. හැබැයි ඒ අයට තවමත් රූප රාග, අරූප රාග, මාන, උද්දච්ච, අවිද්‍යා සම්පූර්ණයෙන්ම ප්‍රහීණ වෙලා නෑ. එතකොට මේ ලෝකයට සාපේක්ෂව උසස්, පහත් බවේ වෙනසක් තමයි මේ පෙන්වන්නෙ. ලෝකයට සාපේක්ෂව කාමයට සම්බන්ධ පහත් පැත්ත සහ කාමයෙන් වෙන්වීමේ උසස් පැත්ත.

ඊළඟට උප්පත්ති පටිලාභයක් කියන්නෙ නැවත උපතක් ලබා දෙනවා කියන එක. කාම ලෝකයේ හෝ රූප ලෝකයේ හෝ අරූප ලෝකයේ හෝ උපතක් ලබා දෙනව නම් ඒක උප්පත්ති පටිලාභයක්. ඊළඟට භව පටිලාභී කිව්වෙ කාම භවයේ හෝ රූප භවයේ හෝ අරූප භවයේ හෝ උප්පත්තියකට හේතු වන කියන අදහස. මෙතනදි භවයයි, උප්පත්තියයි (ජාතිය) දෙක අද වෙන කොට බොහෝ අය පටලවා ගෙන තියෙනවා. ඒ නිසා ඉස්සෙල්ලම මේ කාරණා 2 තේරුගෙන ඉන්න ඕන. අන්තරා භවය කියන වචනය ගන්න හේතුවත් ඒකයි. අන්තරා වුනා කියල, නැති වුනා කියන අදහසින් අද කතාවට කිව්වට, ඒකෙ නියම අර්ථය තමයි අතරට ගියා කියන එක. උදාහරණයක් විදියට කෙනෙක් මළාට පස්සෙ නැවතත් මනුස්ස කයක් අරගෙන උප්පත්තියට එන තැනක් තියෙනවා. ඒ අතරක ගතකරන කාලයක් ☞

තියෙනවා. ඒ කාරණය තමයි සංයුක්ත නිකායෙ 4 වන කාණ්ඩයේ 700 පිටුවේ එන කුතුහලසාලා සූත්‍රයෙන් විස්තර කරල තියෙන්නෙ. මේ කයත් අත් හැරියා, මතු කයකට ගියෙත් නෑ, මේ අතර සත්වයා කුමක් උපාදාන කරගෙන කොහේ ඉන්නවද කියල අහනවා. අන්න ඒක තමයි භව පටිලාභය කිව්වෙ. මේ කයත් අත් හැරියා කියන්නෙ එක ජාතියක් අත් හැරියා කියන එක. මතු කයකට ගියෙත් නෑ කිව්වෙ තවත් ජාතියකට (උප්පත්තියකට) ගියේ නෑ කියන එක. එතකොට ඒ අතර පුද්ගලය කුමක් උපාදාන කරගෙන ජීවත් වෙනවද කියල අහනවා. ඒ කියන්නෙ මොකෙන්ද අහනව ජීවත් වෙන්නෙ. ඒක තමයි අන්තරා භවය කියන්නෙ. ඒ කියන්නෙ ඒ අතරතුර ඉන්න තැන. මේ විදියට ජාතියෙයි, භවයෙයි වෙනස බුද්ධ දේශනාවෙ පෙන්වල තියෙනවා.

ඔබ මෙතනත් නෑ, එතනත් නෑ, අතරත් නෑ. මෙතනත් නෑ කිව්වෙ දැනුත් නෑ කියන එක. එතනත් නෑ කිව්වෙ මින් එහා පැත්තෙ හෙවත් මතුත් නෑ කියන එක. අතරත් නෑ කිව්වෙ අන්තරා භවයෙත් නෑ කියන එක. මේ කිව්වෙ රහතුන් වහන්සේ ගැන. දාරුචීරියට දේශනා කරද්දි මේ ගැන සඳහන් කරනවා. ඔබ මේ ටික දැනගත්තම අතීතයෙත් නෑ, මතු අනාගතයෙත් නෑ, දැනුත් නෑ. ඔබ මේ තුන් කාලයේම හිතින් අල්ල ගත්තු දෙයක් නෑ කියන එකයි මේ පෙන්වන්නෙ. ඒ කියන්නෙ අතීත, වර්තමාන, අනාගත කියන තුන් කාලයටම තියෙන උපාදානය අත්හැරියා කියන එක. දැනුත් කය තිබුනට ලෝකයෙන් කිසිවක් අල්ල ගෙන උපාදාන කරගෙන නෑ. ඒ නිසා අතීතය අල්ල ගෙනත් නෑ, දැන් අල්ල ගෙනත් නෑ, මතු අල්ල ගෙනත් නෑ. භව පටිලාභීත්වයක් නැත්නම්, අතර (අන්තරා භවයක්) අල්ලන්නත් බෑ. එතකොට භවය කියන්නෙ තියෙන දෙයක්. නමුත් අද අන්තර්භවයක් නෑ කියන කතාව හදාගෙන තියෙන්නෙ, මොග්ගලී පුත්ත තිස්ස මහ රහතන් වහන්සේ වැඩ ඉන්න කාලෙ පූර්ව ශෛලීන් කියන පිරිසක් විසින් මුලා සහගතව හදා ගත්තු අන්තරා භව කතාව වැරදි බව ඔප්පු කරන්න උන් වහන්සේ කරපු විග්‍රහය අරගෙන. හැබැයි උන් වහන්සේ එතනදි නිවැරදි අන්තරා භව කතාව වෙනම ඉදිරිපත් කළා. නමුත් ඒක අද වෙන කොට තෝර ගන්න බැරිව පොත්වල ලියවිලා තිබිච්ච සමහර කෑලි අල්ල ගෙන, ථේර පරපුර අන්තරා භවයක් පිළිගන්නෙ නෑ කියල මුලා මතයක් ගේනවා. නමුත් නෑ කියල කිව්වෙ, අර මුලා සහගත අන්තරා භව කතාව මිසක් නිවැරදි එක නෙවෙයි. ඒ වැරදි එක පිළිගන්නෙ නැති එක හරි. නමුත් නිවැරදි එකත් පිළිගන්නෙ නෑ කියන්නෙ උඩින් මත්තෙන් ගිහින් විමර්ශනය නොකරපු නිසා.

දැන් ඉහත විස්තර කරපු පුද්ගල කොටස් 4 ගත්තම, දෙවනුව කියපු උද්ධංසෝත අකනිට්ඨගාමී පුද්ගලයා සුද්ධාවාස බඹ ලොව උපත ලැබීමට හේතු වෙන්නෙ ඕරම්භාගීය සංයෝජන පහ දුරු කරල කාම භවයෙන් මිදුනත් රූප රාග, අරූප රාග කියන සංයෝජන දෙක දුරු නොකළ නිසා. තවදුරටත් විදර්ශනා වඩන අනාගාමී පුද්ගලයා රූප රාග, අරූප රාග සංයෝජන දෙකත් අනුෂය සමග දුරු කරනවා. එතකොට කාම ලොව ඉපදීමට හේතු වන කාම රාගයත්, රූපාවචර බඹ ලෝකවල ඉපදීමට හේතු වන රූප රාගයත්, අරූප බඹ ලෝකවල උපතට හේතු වන අරූප රාගයත් දුරු කළ නිසා තුන් ලෝකයේම උපත ලැබීමට හේතු නෑ. ඒ නිසා උප්පත්ති පටිලාභී සංයෝජනත් ප්‍රහීණ කරපු කෙනෙක් ටික කලක් ඉඳල පිරිනිවන් පාන්න නම් ඒ ලෝකෙ උපත



ලබන්නෙ කුමන සංයෝජනයකින් ද කියල හිතල බලන්න ඕන. නමුත් ඒ වගේ උතුමෙකුට මාන, උද්දච්ච, අවිද්‍යා කියන සංයෝජන අනුෂය සහිතව සිඳිල නැති නිසා පිරිනිවන් පාන්නත් බෑ. මේ මාන, උද්දච්ච, අවිද්‍යා කියන තුන තමයි භව පටිලාභී සංයෝජන කිව්වෙ.

දැන් සොයන්න ඕන භවය මොකක්ද, උප්පත්ති වන අත්බැව මොකක්ද කියන කාරණා. කාම රාගය තියෙන පුද්ගලයාට කාම ලෝකයේ සැරි සැරීමට ඡන්ද රාගය තියෙන නිසා, කාම වස්තු ඇසුරු කරන්න ප්‍රයෝජනයට ගත්තු කය බිඳිල ගියාම නැවතත් ඒ ජාතියේ කයක අවශ්‍යතාව බලවත් වෙනවා. එතකොට කාම උපාදානය බලවත් වෙලා කාම පුනර්භවය ගොඩනැගිල, කාම ලෝකය පරිහරණයට අවශ්‍ය සතර මහා භූතයන්ගෙන් කයක් උප්පත්ති වෙනවා. කාම රාග, ව්‍යාපාද දුරු කරපු අනාගාමී පුද්ගලයා, දුරු නොකළ රූප රාගය සහ අරූප රාගය නිසා මේ කයින්ම මේ ඉඳුරන් පරිහරණයෙන් රූප රාග, අරූප රාග ආස්වාදය විඳිමින් ඉන්නවා. එක්තරා අනාගාමී පුද්ගලයෙක් බුදුන් දැකීමෙන්, සඟුන් දැකීමෙන්, බණ ඇසීමෙන් අතෘප්තිකර ආසාවකින් හිටියා. මේ රූප, අරූප රාගයන්ට උදාහරණයක්. යළි යළිත් බුදුන් දකින්න, සඟුන් දකින්න, බණ අහන්න, දහම් රස විඳින්න ප්‍රයෝජනයට ගත් මේ කය බිඳිල ගියාම, ඊට අවශ්‍ය ඉන්ද්‍රිය පද්ධතිය යළි ලබා ගන්න බලවත් ආසාවක් උපදිනවා. එතකොට රූප උපාදානය බලවත් වෙනවා. පුනර්භව වශයෙන් බලවත් වූ රූප භවය නිසා ඊට අනුරූප සතර මහා භූත හා සම්බන්ධ වෙමින් රූපී බ්‍රහ්ම අත්බැවක උප්පත්ති වෙනවා. මේ තමයි ඕරම්භාගී සංයෝජන ප්‍රහීණ, රූප රාග අරූප රාග අප්‍රහීණ, උද්ධංසෝත අකනිට්ඨගාමී පුද්ගල උප්පත්ති අත්බැවක් ලබන පිළිවෙළ.

දැන් මේ කාරණය තවදුරටත් පැහැදිලි කළොත් දිව, නාසය, ශරීරය පිනවන අරමුණු අයිති වෙන්නෙ කාම ලෝකයට. ඒ තුන පිනවන්න අවශ්‍ය අරමුණු ගන්නව නම් ඒ සියලු අරමුණු කාම අරමුණු වෙනවා. නමුත් දිව, නාසය, ශරීරය පිනවීම දෙවෙනි කරල බණ ඇසීම පළමුවෙනි කළොත් ඒ තුනට සම්බන්ධ නැති ඇසින්, කනින්, මනසින් ගන්න අරමුණු ප්‍රධාන වෙනවා. එතකොට බුදුන් ප්‍රමුඛ සංඝයා දකින්නෙ, ඇසුරු කරන්නෙ, බණ අහන්නෙ දිව, නාසය, ශරීරය පිනවන්න නෙවෙයි. නමුත් ඒ සඳහා ඇස, කන, මන කියන ඉන්ද්‍රියන් 3 අවශ්‍යයි. ඒ නිසා ඒ ඉන්ද්‍රියන් තුනේ උපාදානය තියෙනවා, වෙන උපාදානයක් නෑ. ඒ නිසා ඇස, කන, මන කියන ඒ 3 හැර අනික් ඒවා සම්බන්ධයෙන් භවයකුත් නෑ. ඒ කියන්නෙ කාම උපාදානයක් නැති නිසා ඒ පුද්ගලයට කාම භවයක් හට ගන්න විදියක් නෑ. මොකද කාම උපාදානයට හේතු වෙන්නෙ ඉන්ද්‍රියන් 6 න් දිව, නාසය, ශරීරය පිනවීමට තියෙන බලාපොරොත්තු සහගත කැමැත්ත.

දැන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන් පංච කාමය කිව්වම ඇස, කන, දිව, නාසය, ශරීරය ආදී වශයෙන් කියන ඉන්ද්‍රියන් සියල්ලෙන්ම විඳින ආස්වාදය අයිති නිසා ඇසින්, කනින්, මනසින් ගන්න අරමුණු කාම අරමුණු නෙවෙයිද, ඒවා කාම ලෝකයට අයිති වෙන්නෙ නැද්ද කියල. එතනදි දිව, නාසය, කය පිනවන්න ඇසින්, කනින්, මනසින් ගන්න අරමුණු තියේ නම් ඒවත් පංච කාමයට අයිතියි. උදාහරණ විදියට තමන් කැමති කෑම ජාති කන්න ඒ ගැන විමසීම් කරන්න ඇහින් බලනවා, හොඳයිද කියල අහනවා, ඒ ගැන නිගමනය කරනවා. එතකොට ඒ අවස්ථාවෙදි ඇහින්, කනින්, මනසින් ගන්න අරමුණු පංච කාමයට අයිති වෙන්නෙ. වෙනත්

විදියකින් කියනව නම් දිව, නාසය, ශරීරය පිනවන බලාපොරොත්තුවෙන් ඇස, කන, මන පරිහරණය කරනව නම්, ඒ අවස්ථාවෙදි ඒ ඉන්ද්‍රියන් 3 ත් පංච කාමයට අයිතියි. නමුත් අනෙක් අවස්ථාවලදි මනස අයිති වෙන්නෙ ධර්ම කාමයට. ඒ ධර්ම ආස්වාදය අත් කර ගන්න ඇසින්, කනින් ගන්න අරමුණක් තියේ නම් ඒක රූපාවචරයි. එතකොට පංච කාමයට එල්ල කරලම තියෙන්නෙ දිව, නාසය, ශරීරය කියන තුන. නමුත් මේ කාරණය පොත්වල විග්‍රහ කරල නෑ. හැබැයි නැණ නුවණට ගෝචර වෙනවා.

එතකොට මේ අවස්ථාවෙදි අනාගාමී වෙච්ච කෙනාට දිව, නාසය, ශරීරය පිනවන බලාපොරොත්තුව දෙවෙනි වෙලා තියෙන්නෙ. ඒ නිසා කන්න බොන්න නැතත් බණ අහන්න තියේ නම්, බුදුන් සඟුන් දකින්න, ඇසුරු කරන්න තියේ නම් කොච්චර හොඳද කියල අදහසක් එනවා. ඒ එන ආසාව නිසා බඩගින්න, පිපාසය දෙවෙනි වෙනවා. එහෙම ස්වභාවයක් එන කොට තමයි දිව, නාසය, ශරීරය කියන ඉන්ද්‍රියන් 3 දෙවෙනි වෙන්නෙ. හැබැයි මේ කියන්නෙ ඒ වගේ කෙනෙක් දිව, නාසය, ශරීරය පිනවන්නෙ නෑ කියන එක නෙවෙයි. එහෙම පිනවීම පිළිබඳ බලාපොරොත්තු මාත්‍රයක්වත් නැත්තෙ රහතන් වහන්සේලාට. අනාගාමී කෙනෙක් ඒ පිනවීම දෙවෙනි කරල තියෙනව මිසක් අග්‍ර කරල නෑ. ඒ නිසා ඒ සම්බන්ධයෙන් උපාදානයක් නෑ. මොකද පිනවීම පිළිබඳ බලාපොරොත්තුවක් නෑ කියන්නෙ සම්පූර්ණයෙන් ප්‍රහීණ කළා කියන එක. නමුත් අනාගාමී කෙනා දිව, නාසය, ශරීරය පිනවීමට තියෙන කැමැත්ත දෙවෙනි කරල තියෙනව මිසක් සම්පූර්ණයෙන්ම ප්‍රහීණ කරල නෑ. ඒ කාරණය ඔප්පු කරන්න පුළුවන් තැනක් තමයි, අනාගාමී වෙච්ච කෙනාටත් ලෝභ සිත් 4 ක් තියෙන බව ධර්මයේ පෙන්වා තිබීම. එතකොට ලෝභ සිත් 8 න් 4 යි දුරු වෙලා තියෙන්නෙ. අරිහත් වෙනකල්ම ඉතිරි ලෝභ සිත් 4 දුරු වෙන්නෙ නෑ. නමුත් ඒ ඉතිරි වෙච්ච ලෝභ සිත් 4 කවදාවත් කාම ලෝකයේ උප්පත්තියකට හේතු වෙන්නෙ නෑ. මොකද උපාදාන කරන්න තරම් බලයක් නැති නිසා. එතකොට කාම උපාදානයක් නෑ කියන්නෙ, කාමයක් නෑ කියන එක නෙවෙයි. තියෙන කාමය උපාදාන කරන්න (තදින් බැඳෙන්න) තරම් බලවත් නෑ. මොකද කාමයක් නැත්නම් පාපයක් කොහොමටවත් තියෙන්න බෑ. කාමය අංශු මාත්‍රයක් හරි මුල් වෙලා තමයි සුළුවෙන් හෝ පාපයක් හට ගන්නෙ. ද්වේශය හටගත්තත් ඒකට කාමය උපනිශ්‍රය වෙනවා. එතකොට කුඩා හෝ පාපයක් නොවෙන්නෙ අරිහතුන් වහන්සේගෙන් විතරයි. අනාගාමී අය පාපයෙන් සම්පූර්ණයෙන් මිදිල නෑ. කාමය සුළුවෙන් හරි තියෙන නිසා තමයි එහෙම වෙන්නෙ. හැබැයි ඒක කාම රාග නෙවෙයි.

එතකොට අර කලින් සඳහන් කරපු අනාගාමී පුද්ගලය බණ අහන්න, භාවනා කරන්න බුදුන්, සඟුන් දකින්න තියෙන ආසාව නිසාම රෑ දවල් නිතරම ඒ පරිසරයට බොහොම ප්‍රිය කළා. එයින් තොර ජීවිතයක් තිබුනෙ නෑ. හැබැයි එහෙම අදහස තිබුණත් ඔහු නිතරම කිව්වෙ, මට නම් නැවත උපදින්න ඕන නෑ කියල. මොකද 100% ක්ම උපදින්න හේතුව දැකල තිබුනෙ නෑ. ඒ බව දැනගත්තෙ නැවතත් ඉපදුනාට පස්සෙ. එතකොට බණ අහන්න, දර්ශනය කරන්න තිබ්ච්ච රූප රාගය තමයි නැවත උපදින්න හේතු වුනේ කියල ඔහුට මුලින් වැටහිලා තිබුනෙ නෑ. අන්තිමට අවිහ බඹ ලොව ගිහින් උපන්නට පස්සෙ තමයි වැටහුනේ මං ඉපදුනානෙ



කියල. ඇයි නැවත ඉපදුනේ කියල බලන කොට තමයි වැටහුනේ, මෙන්න මේ රූප රාගය උපාදාන කරපු හේතුව. එතකොට කාම උපාදානය නෙවෙයි තිබුනෙ රූප උපාදානය. කාම උපාදානය අත් හැරියම ඇසින්, කනින් සහ මනසින් ගන්න අරමුණු තමයි රූප උපාදාන කියන්නෙ. ඒ තුනෙන් ඇස, කන දෙකේ උපාදානයත් අත් හැරියම ඉතිරි මාත්‍රය තමයි මනසින් ගන්නෙ. ඒ මනසින් ගන්න අරමුණු තමයි අරූප උපාදාන කියන්නෙ. ඒ කියන්නෙ කාමය නැහැයි කියන එක නෙවෙයි. කාමය තිබුණට ඒකෙන් උප්පත්තියක් හට ගන්න තරම් බලයක් නෑ. ඒ නිසා රූප, අරූප රාගවලින් උප්පත්තිය ලබනවා.

මීළඟට විමසන්න යන්නෙ අන්තරා පරිනිබ්බායී පුද්ගලයා ගැන. කාම රාග, රූප රාග, අරූප රාග ප්‍රහීණ නිසා යළි යළිත් බුදුන් දකින්න, සඟුන් දකින්න, බණ අහන්න බැඳුණු ආසාවක් මේ වගේ කෙනෙකුට නෑ. නමුත් මාන, උද්ධච්ච, අවිද්‍යා අනුෂය සිඳිල නැති නිසා අස්මි මානය හෙවත් "මම" යන හැඟීම තුළ ජීවත් වීමේ බලාපොරොත්තුව තවම තියෙනවා. ඒ නිසා පිරිනිවන් පාන්නත් බෑ. පෙර කර්ම විපාකයෙන් ලැබ්ච්ච පටිසන්ධියෙන් භවාංග පැවැත්ම පහල වුනාද ඒ කර්මජ, චිත්තජ, ඍතුජ කියන තුනෙන් පහල වෙච්ච ත්‍රිජ කායිකත්වය කබලිංකාර ආහාරයෙන් හටගත් මේ කය බිඳුනත්, උරුම විපාක ආයුස ගෙවෙන කල්, මමත්වයේ ජීවත් වීමට ඇති ආසාව තියෙන තුරු පවතිනවා. යළි යළි දර නොදමන ගින්න, එහිම නිරුද්ධ වන්නා සේ ජීවත් වීමේ ආසා මාත්‍ර ගෙවිල ගියාම නව උපතකට නොගොස්, ගෙනාපු ආයු කාලයේ කෙළවර ඒකාන්තයෙන්ම නිවිල යනවා. භවය ගෙවිල ඉතාම මාත්‍රයක් තියෙන පළවෙනි අන්තරා පරිනිබ්බායී පුද්ගලයා තමයි මේ. නැත්නම් මේ කය බිඳිල ගිහින් භවය අතරමැදදි මාන, උද්ධච්ච, අවිද්‍යා ප්‍රහීණ වෙලා පිරිනිවන් පානවා. ඒ දෙවෙනි අන්තරා පරිනිබ්බායී පුද්ගලයා. (මේ අතර මැද කාලය කෙනෙකුට නිගමනය කරන්න බෑ. අවුරුදු ගණනාවක් වෙන්නත් පුළුවන්. පුද්ගලයගෙන් පුද්ගලයට ඒ කාලය වෙනස් වෙනවා.) එහෙමත් නැත්නම් මස් ලේ කය බිඳුණු ආසන්න කාලයකම සුද්ධාවාස බඹ ලොවට යනවත් එක්කම මාන, උද්ධච්ච, අවිද්‍යා සිඳිල පිරිනිවන් පානවා. ඒ තුන් වන අන්තරා පරිනිබ්බායී පුද්ගලයා. ඉහත කියපු අන්තරා පරිනිබ්බායී පුද්ගලයන් තුන් දෙනා පිළිබඳව උපමා සහිත විස්තරයක් අංගුත්තර නිකාය 4 වන පොතේ සත්තක නිපාතයේ දෙවැනි පන්නාසකයේ අව්‍යාකෘත වර්ගයේ **පුරිසගති සූත්‍රයේ** පෙන්වා තියෙනවා. (383 පිටුව) ඊළඟට මස් ලේ කයකින් ජීවත් වෙලා ඉඳෙද්දිම මාන, උද්ධච්ච, අවිද්‍යා කියන භව පටිලාභී සංයෝජන ප්‍රහීණ කරපු රහතන් වහන්සේ, කය බිඳිල යනවත් එක්කම පිරිනිවන් පානවා.

දවසක් මුළුල්ලේ රත් කරපු යකඩ කෑල්ලක් කිණිහිරක් වගේ යමක තියල මිටියකින් තලන කොට කුඩා ගිනි පතුරු නගමින් ටිකක් ඉවතට විසි වෙලා නිවිල යනවා. ඒ විසි වෙන ගිනි පුපුරු තවත් යමක් සමග බැඳිල ගින්නක් හට ගන්නෙ නෑ. මේ විදියට පළමු අන්තරා පරිනිබ්බායී පුද්ගලයා පිරිනිවෙනවා. ඒ කියන්නෙ අරිහත්වයට පත් වෙන්න කෙස් ගහක මට්ටමට මාන, උද්ධච්ච, අවිද්‍යා අයින් කරපු කෙනා. ඒ පුද්ගලය කය බිඳෙනවත් එක්කම අන්තරාභව මාත්‍රයක් ඉඳල පිරිනිවන් පානවා. තවත් කුඩා යකඩ සුනු, ගිනි උපදවමින් ඊටත් ටික දුරක් විසි වෙලා නිවිල යනවා. මේ තමයි දෙවැනි අන්තරා පරිනිබ්බායී පුද්ගලයගෙ පිරිනිවෙන ස්වභාවය. ඒ පුද්ගලය මස් ලේ කය බිඳිල ගිහින් පිරිනිවන් පාන්න කලින් අන්තරා භවයේ යම් කිසි කාලයක් ගත කරනවා. ඒ

වගේම රත් කරපු යකඩයක් තලන කොට එබඳුම යකඩ පතුරු ගිනි විහිදුවමින් තවත් ටිකක් දුරට ගිහින් පොළවට ආසන්නව දුරට විසි වෙලා නිවිල යනවා. ඒ ගිනි පුපුරු තවත් කිසිවකට බැඳිල එතැන ගින්නක් දල්වෙන්නෙ නෑ. මේ තුන්වැනි අන්තරා පරිනිබ්බායී පුද්ගලයගෙ පිරිනිවන් පෑම. මේ අවස්ථාවෙදි මේ මස් ලේ කය බිඳෙනවත් එක්කම මනුස්ස සූක්ෂම කයින් සුද්ධාවාස බඹ ලොවට ගිහින්, ඒකෙත් හරයක් නෑ කියල දැකල ඉතිරි සංයෝජන තුනත් බිඳිල එවෙලෙම පිරිනිවන් පානවා. ඒ නිසා ඒ පුද්ගලය බඹ ලොවට ගියත් බ්‍රහ්ම භවයක් ලබන්නෙ නෑ.

ඊළඟට මේ විදියට රත් කරපු යකඩයක් තලන කොට කුඩා ගිනි පතුරු විහිදුවමින් විසි වෙලා පොළොවට වැදිල නිවිල යනවා. මේ තමයි උපහච්ච පරිනිබ්බායී පුද්ගලයගෙ ස්වභාවය. උප්පත්ති පටිලාභී සංයෝජන ප්‍රහීණ නොකළ පුද්ගලයා සුද්ධාවාස බඹ ලොව බ්‍රහ්ම භවයෙන් උපත ලබල අරිහත්වයට පත් වීමට උදාහරණයක් තමයි මේ. ඒ කියන්නෙ ඒ පුද්ගලය මස් ලේ කයින් චුත වෙනවත් එක්කම පටිසන්ධි අරන් සුද්ධාවාස බඹ ලොවට ගිහින් බ්‍රහ්ම භවය උප්පත්ති ලබනවා. හැබැයි බ්‍රහ්ම උප්පත්ති ජාතිය හෙවත් බ්‍රහ්ම කයක් ලබන්නෙ නෑ. වෙනත් විදියකින් කියනව නම්, උප්පත්ති භවයෙන්, භව පච්චයා ජාති කියල බ්‍රහ්ම ජාතිය පූර්ණ කරන්නෙ නෑ. බ්‍රහ්ම භවය විතරයි ලබන්නෙ.

එතකොට අන්තරා පරිනිබ්බායී තුන්දෙනා පිළිබඳව උපමාව යමකට සම්බන්ධ නොවී අහසේ ඉඳීම, නිවී ගිය ගිනි පුපුරුවලට උපමා කරල තියෙනවා. පොළොවට වැදිල නිවිල යාම බඹ භවයක් ලබල බඹ තලයට සම්බන්ධ අරිහත්වයට පත් වීමට උපමා කරල තියෙනවා. මේ කියන උපහච්ච පරිනිබ්බායී අවස්ථාවෙදි උප්පත්ති පටිලාභීත්වය තිබුණත්, උප්පත්තිය බඹ ලොවේදි ඇල්ලුවට බ්‍රහ්ම කයක් හදන්න තරම් ශක්තියක් නෑ. ඒ නිසා ඒ පුද්ගලය උප්පත්තිය අල්ලනවත් එක්කම පිරිනිවන් පානවා. ඒ කියන්නෙ අර උපමාවෙන් පෙන්නුව විදියට රත් වෙච්ච යකඩයක ගිනි පතුරු පොළවට වැදුනට, පොළවෙ ගිනි ගන්න දෙයක් තිබුනෙ නැති නිසා ඒ තත්ත්වයෙන් ටික වෙලාවක් තිබිල නිවිල යනව වගේ, ඒ ලෝකෙට උපදින්න ගිහින් ඒ ලෝකෙ දර්ශනය කළත්, ගියාට පස්සෙ තමයි තේරෙන්නෙ ඒකෙත් අල්ලන්න දෙයක් නෑ කියල. ඒ නිසා ඒ පුද්ගලය පංච සුද්ධාවාස බඹ ලොවක උප්පත්තියට ගියාට, ගිය ගමන්ම පිරිනිවන් පානවා.

ඒ වගේම රත් කරපු යකඩයක් තලන කොට ගිනි ගෙන දිලෙන යකඩ පතුරු පොළොවේ දුව පිඬක් හෝ තණ පිඬක් මතට වැටිල ඒකත් දුම් දමමින් ගිනි ගෙන තවදුරටත් ගින්න පැතිරීමට ලී පතුරු හෝ තණ රොඩු නැති නිසා නිවිල යනවා. මේ අසංඛාර පරිනිබ්බායී පුද්ගලයාට උදාහරණයක්. ඒ කියන්නෙ ඒ බ්‍රහ්ම ලෝකෙ ඉපදුනාට පස්සෙ තවත් ලෝකයක උප්පත්තියකට යන්න බෑ. ඒ සංඛාර සංසිඳිල තියෙන්නෙ. රූප රාග, අරූප රාගයන්ගෙන් ඉතිරි වෙලා තිබිච්ච ශේෂයන් ගෙවිල ගිහින් අරිහත්වය පූර්ණ කරල කෙලෙස් ගිනි නිවිල යන හැටිත්, ගියපු බඹ ලෝකෙදි විතරක් බ්‍රහ්ම කයක් සහිතව උප්පත්තිය ලබල එතනින් එහාට තවත් අත්බැව්වලට නොගිහින් ඒ අත්බැවට හිමි ආයුස ගෙවල අවසානයේ ඒ විදියට පිරිනිවෙන හැටිත් මේකෙන් පෙන්වනවා.

ඒ වගේම රත් කරපු යකඩයක්



තලන කොට යකඩ පතුරු ගිනිගෙන විසි වෙලා ගිහින් ලොකු පරඬැල් ගොඩක හෝ දර පතුරු ගොඩක වැටිල ඒ ලොකු ගොඩත් දුම් දමමින් ගිනි ගෙන, තවත් දර පරඬැල් ආදිය නැති නිසා නිරාහාරව නිවිල යනවා. මේ සසංඛාර පරිනිබ්බායී පුද්ගලයාට උදාහරණයක්. (අවිහ බඹ ලොව උපන්නොත් තවත් සංඛාර තියෙන නිසා තමයි ඊළඟට අතප්ප, සුදස්ස, සුදස්සී ආදී වශයෙන් කියන බඹ ලෝක දෙකකට තුනකට හෝ උපරිම වශයෙන් හතරකට යන කල් යන්නෙ. ඒ කියන්නෙ සංඛාර තවත් ඉතිරියි. හැබැයි මේ අය අකනිටා බඹ ලොවට යන්නෙ නෑ. ඊට මෙහා බඹ ලොවකදි කෙළවර කරනවා.) රූප රාග, අරූප රාග වැඩි කොටසක් තිබිච්ච කෙනෙක් උප්පත්ති පටිලාභී සංයෝජන නිසා බඹ ලොව ඉපදිලා ඒ ආයුස ගෙවල එතනින් චුත වෙලා තවත් බඹ ලොවක හෝ කිහිපයක උපතට ගිහින් කලකදි විදසුන් නුවණින් ඒ සංයෝජන දවල කෙළවර කරල කෙලෙස් ගිනි සහමුලින්ම නිවා දැමීම තමයි මේ පෙන්වන්නෙ.

ඒ වගේම රත් කරපු යකඩයක් තලන කොට යකඩ පතුරු ගිනි ගෙන පුපුරු නගමින් විසි වෙලා මහ පරඬැල් පිඬක හෝ ලී පතුරු පිඬකට වැටිල ඒකත් දුම් දමමින් ගිනි ගෙන ඊට ළං වෙලා තිබිච්ච තවත් දැවෙන දේ දවමින්, වට පිටාවෙත් දැවෙන දේ දවමින් ගිහින් තවත් දැවීමට දෙයක් නැති ජල සීමාවකදි හෝ ගල් සීමාවකදි හෝ ලී රොඩු පරඬැල් ආදී ගින්නට හේතු වෙන ආහාර නැතිකමින් ගින්න නිවිල යනවා. මේ උද්ධංසෝත අකනිට්ඨගාමී පුද්ගලයාට උදාහරණයක්. ඒ කියන්නෙ රූප රාග, අරූප රාග බලවත්ව තිබිච්ච නිසා ගිනි පුපුරු විසි වෙලා පරඬැල්වලට බැඳිල ගිනි ගත්ත වගේ, මමෙක් හදාගෙන අවිහ බඹ ලොව බඹ කයකින් ඉපදිලා ක්‍රමයෙන් රූප රාග, අරූප රාග ප්‍රහීණ කරමින් ඒ අත්බැව කෙළවර චුත වෙලා අතප්ප බඹ ලොව ඉපදිලා, එහිදීත් කොටසක් ප්‍රහීණ කරල එයින් චුත වෙලා සුදස්ස බඹ ලොවත්, එයින් චුත වෙලා සුදස්සී බඹ ලොවත්, එයින් චුත වෙලා අකනිටා බඹ ලොවත් ඉපදිලා, ඉන් එහාට දවා හරින්න රූප රාග, අරූප රාග ඉතිරි නැති නිසා කෙලෙස් ගිනි නිවිල සිසිල් වෙලා පිරිනිවනින් කෙළවර වෙන උද්ධංසෝත අකනිට්ටගාමී පුද්ගලයාට ඒ උපමාව ගළපල පෙන්වන්න පුළුවන්.

අනාගාමී පුද්ගලයන්ගෙ හත් ආකාර ශේෂ වූ කෙලෙස් ගිනි නිවිල පිරිනිවෙන ආකාරය තමයි මේ. එයින් තුන් ආකාරයක් අන්තරා පරිනිබ්බායී පුද්ගලයන්. ඒ කියන්නෙ උප්පත්ති පටිලාභීත්වය ප්‍රහීණ කරල, භව පටිලාභීත්වය ප්‍රහීණ නොකරපු අවස්ථා 3 ක්. ඉතිරි 4 ආකාරය බඹ ලොවේදි පිරිනිවන් පාන පුද්ගලයින්. ඒ කියන්නෙ භව පටිලාභීත්වයයි, උප්පත්ති පටිලාභීත්වයයි ප්‍රහීණ නොකරපු අවස්ථා 4 ක්. අනාගාමී උත්තමයා මෙලොවදීම නිර්වාණය සම්පූර්ණයෙන් ප්‍රත්‍යක්ෂ කළොත්, මාන අනුෂය සහමුලින්ම ප්‍රහීණ වෙනවා. භව රාගානුෂය සහමුලින්ම ප්‍රහීණ වෙනවා. අවිද්‍යානුෂය සහමුලින්ම ප්‍රහීණ වෙනවා. විමුක්තිය පූර්ණ කරල ඒ රහතන් වහන්සේ අනුපදිසේස පරිනිර්වාණයට පත් වෙනවා. මේ විදියට බඹ ලොව ඉපදිලා කෙලෙස් ගිනි නිවන හතර ගතියක අනාගාමීන් වහන්සේලාත්, ඒ විදියෙ උපතකට නොගිහින් පිරිනිවෙන ගති ස්වභාව තුනක අනාගාමී උතුමන් වහන්සේලාත් සිටින බව තේරුම් ගන්න ඕන.

දැන් මේ කියන අන්තරා පරිනිබ්බායී හෙවත් භව පටිලාභී උතුමන් අදත් ඉන්න පුළුවන් බවට ලකුණු වහරක අභයරතනාලංකාර හිමියන්ට අනුමාන වශයෙන් දැනගන්න ලැබිල තියෙනවා. ☞

හැබැයි ඒ විදියෙ අත් බැව් දකින්න නම් කවද හරි මානසිකත්වය දියුණු කරල තියෙන්න ඕන. මේ තමයි උන් වහන්සේගෙ ඒ අත්දැකීම.

මේ විදියෙ අන්තරා පරිනිබ්බායී සමහර භික්ෂූන් වහන්සේලා අදත් ඉන්න පුළුවන් බවට ලකුණු මටත් අනුමාන වශයෙන් දැන ගන්න ලැබිල තියෙනවා. උන්වහන්සේලා බඹ ලොව ඉපදිලත් නෑ, මනුස්ස ලෝකෙ ඉපදිලත් නෑ. හැබැයි අර ප්‍රේත කියන ජාතියේ සිවුරු වැරහැලි ඇඳගත්තු කොට්ඨාසයක් නෙවෙයි මේ කියන්නෙ. බොහොම ප්‍රසන්න, සියුම් මනෝ කයකින් යුක්තව පිණ්ඩපාතෙ කරගෙන ජීවත් වෙන ගති ලක්ෂණ තියෙන පිරිසක්. ඒ විදියට භව පටිලාභී වෙලා අන්තරාභවිකව ඉඳගෙනත් මනුස්ස ලෝකෙ දානෙ දෙන වෙලාවට උන්වහන්සේලා මනෝමය සූක්ෂම කයින් පිණ්ඩපාතෙ වඩිනවා. ඒ කියන්නෙ ගන්ධබ්බ අවධියක ඉඳගෙන. ඒ විදියට මම දැනගත්ත දෙයක් තමයි මේ. ඒ කාලෙ මම පැවිදි වෙලත් නෑ. වහරක මහ කන්ද කියන ආරණ්‍යයට දවසක් මම ගියපු අවස්ථාවක ඒ ස්ථානයේ දානයක් දුන්නා. ඒ අවස්ථාවෙ භික්ෂූන් වහන්සේලා 4 - 5 නමක් තමයි දානෙට හිටියෙ. පින්වත් පිරිස උන්වහන්සේලාට පෙළට පිණ්ඩපාතෙ පිළිගැන්නුවා. ඒ දිහා යොමු කරල බලාගෙන ඉන්න කොට මට පෙනුනා, තවත් භික්ෂූන් වහන්සේ නමක් එතන වැඩ ඉන්නවා. උන්වහන්සේ පැහැදිලිවම ඒ ස්ථානයේ ඉස්සර වැඩ හිටපු භික්ෂූන් වහන්සේ නමක්. මම ඊට කලින් දැකලත් තියෙනවා. දැන් අපවත් වෙලා. හැබැයි ඒ සිවුර පිටින්ම මනෝමය සූක්ෂම කයින් ඉන්නවා. උන් වහන්සේට වයසයි, ඒත් බොහොම පැහැපත්. හැබැයි එදා වැහැරිච්ච ගතිය දැන් නෑ. වයස පෙනුනට හොඳට පැහැපත්.

ඉතින් උන්වහන්සේ මේ ස්ථානයේ වැඩ ඉන්න හැටි මට පැහැදිලිවම පෙනුනා. ඊට පස්සෙ අනෙක් භික්ෂූන් වහන්සේලා මොකද කළේ, ඒ දානෙ අරගෙන මෙම ස්ථානයේ කටයුතු කරපු අපේ නායක හාමුදුරුවොත් සිහි කරල, උන්වහන්සේ යම් තැනක බලාපොරොත්තුව ඉන්නව නම්, උන්වහන්සේටත් මේ පින ලැබිල සුඛිත මුදිත වේවා කියල අනුමෝදනාවක් කළා. ඊට පස්සෙ සූක්ෂම විදියට තිබ්බ්ච උන්වහන්සේගෙ පාත්‍රය පිරිල ඉතිරිලා ගියා. ඒත් එක්කම උන්වහන්සේ එතැනින් ක්ෂණිකවම ඉවතට වැඩියා. මම තවත් යොමු කරල බලන කොට මිල්ල ගහක අත්තක් නැමිල තිබ්බ්ච ගලක් උඩ වැඩ ඉන්නවා. මට ඒක මනෝමය වශයෙන් පේනවා. හැබැයි මම මීට කලින් ඒ ආරණ්‍ය භූමියේ ඇවිදල කියල තිබුනෙ නෑ. ඒ නිසා එතන හිටපු තවත් හාමුදුරු නමකගෙන් මම ඇහුවා, හාමුදුරුවනේ අර කන්ද උඩ ගල් පොත්තක් පේන තැන මෙන්න මෙහෙම මිල්ල අත්තක් නැමිල තියෙනවද කියල. ඇයි මහත්තයො ඊට එහා තියෙන්නෙ මිල්ල ගහක්නෙ, ඒකෙ අත්ත ගල උඩට නැමිල තමයි තියෙන්නෙ කිව්වා. හැබැයි මම ඒක ඇස් දෙකෙන් දැකල නෙවෙයි කිව්වෙ. යම් කිසි සමාධි දර්ශනයකටයි යොමු වුනේ. ඉතිං ඊට පස්සෙ බලන කොට උන්වහන්සේ එතන ඉඳගෙන දන් වළඳනවා. ඒ සිද්ධිය මනෝමය දර්ශනයට හොඳට පේනවා. ඒක තමයි කියන්නෙ ගන්ධබ්බ කයටත් ආහාර ඕන කියල.

දැන් එතකොට උන්වහන්සේ අර කියපු අන්තරා පරිනිබ්බායී අවස්ථාවෙ ඉන්න ඇති කියල හිතන්න පුළුවන් ගති ස්වභාවයක් තමයි තිබුණෙ. බොහෝ විට ඒ අවස්ථා 3 න් දෙවන අවස්ථාව වෙන්න පුළුවන්. හැබැයි ඒක එල්ල කරලම කියන්න බෑ. නමුත් අනුමාන කරන්න පුළුවන්.



මොකද කෙනෙක් රහත්ද නැද්ද, මොන වගේ ඵල අවස්ථාවකද ඉන්නෙ කියල ලොව්තුරා බුදුන් වහන්සේට හැර වෙනත් කෙනෙකුට එල්ල කරල කියන්න බෑ. නමුත් වෙනත් කෙනෙකුට ලකුණුවලින් අනුමාන කරන්න පුළුවන්. ඉතිං මේ වගේ අය තවත් ඉන්න පුළුවන්. හැබැයි මේ අන්තරා පරිනිබ්බායී කියන අවස්ථාව රහත් නෙවෙයි. මොකද රහත් වුණා නම් පිරිනිවන් පානවා. රහතන් වහන්සේ නමකට ගන්ධබ්බ කයින් කාම ලෝකයේ ඉන්න බෑ. ඒ නිසා තමයි එහෙම ඉඳගෙන රහත් වුනොත් ඒ විගස අතර මගදි පිරිනිවන් පානව කිව්වෙ. රත් වෙච්ච කිණිහිරයකින් තලන කොට රත්වෙච්ච ගිනි පුළිඟු ටික දුරක් ගිහින් නිවිල යනව කිව්වෙ ඒකයි. ඒ කියන්නෙ ඒ අවස්ථාවෙදි රහත් වුණා නම් වැඩි වෙලාවක් ඉන්න බෑ, පිරිනිවන් පානවා. මොකද මෙතනදි උප්පත්ති පටිලාභයක් නෑ. භව පටිලාභීත්වය විතරයි තියෙන්නෙ. උප්පත්ති පටිලාභයක් තිබුන නම්, රූපාවචර හෝ අරූපාවචර බඹ ලොව ගිහින් ඒ බ්‍රහ්ම කයින් උප්පත්ති ලබල ඉන්න පුළුවන්. ඒ බඹ ලොවට ඒ බ්‍රහ්ම කය ඔරොත්තු දෙනවා.

නමුත් මේ අන්තරා පරිනිබ්බායී අවස්ථාවෙදි උප්පත්ති පටිලාභී කයක් නෑ. එතකොට තියෙන භව පටිලාභී කය අති සූක්ෂමයි. ඉතිං භව පටිලාභී කයක් අරිහත් ඵලයෙදි ඔරොත්තු දෙන්නෙ නෑ. මොකද මේ කියන අන්තරා පරිනිබ්බායී අවස්ථාව මේ කාම ලෝකය තුළමයි තියෙන්නෙ. ඒ කාම ලෝකය තුළ සනීභවන කයකින් හිටියට, සූක්ෂම ගන්ධබ්බ කයින් රහත් වුනාට පස්සෙ ඒ කය උහුලන්න බෑ. ඒ නිසා තමයි පිරිනිවන් පාන්නෙ.

දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, ඇයි රහතන් වහන්සේ නමකට කාම ලෝකෙ ගන්ධබ්බ කයක් ඔරොත්තු නොදෙන්නෙ කියල. මේ වගේ අවස්ථාවකදි උන්වහන්සේ මේ මස් ලේ කය අත් හැරල ගියාට චුත වෙලා පටිසන්ධියක් ලබල නෑ. තවමත් ඉන්නෙ මනුස්ස කාම භවයේ අන්තරා භවික විදියට. ඒ සූක්ෂම කය චිත්ත පරිවර්තනයට බොහොම ළඟයි. මේ අන්තිම අවස්ථාවෙදි උන් වහන්සේලාට තියෙන, කිසි දෙයක් අල්ලන්නෙ නැති චිත්ත ස්වභාවය නිසා ඒ මානසිකත්වයත් එක්ක සූක්ෂම කයට දරන්න බෑ. ඒ නිසා එතනදි රහත් වෙනවත් එක්කම චුත වෙලා පිරිනිවන් පානවා. මේ කාරණය උදාහරණයකින් පහදනව නම්, වතුර උණු කරන විදුලි කේතලයකට (හීටරයකට) විදුලිය සපයල තියෙන අවස්ථාවකදි, ඒකෙ කම්බි දඟරය (කොයිලය) ජලය තියෙන කල් රත්වෙලා පිච්චෙන්නෙ නැතිව තියෙනවා. හැබැයි බැරිවෙලාවත් විදුලිය සපයල තියෙද්දීම කම්බි දඟරය ජලයෙන් උඩට ඇද්දොත් ක්ෂණයකින් පිච්චිලා යනවා. එතකොට ඒකෙ ශක්තිය දරන්න බැරිව යනවා. මේ වගේ දෙයක් තමයි කාම ලෝකයේ සූක්ෂම ගන්ධබ්බ කයකින් ඉඳගෙන රහත් වෙන කොට සිද්ධ වෙන්නෙත්.

නමුත් අනාගාමී කෙනෙක් රූපාවචර බ්‍රහ්ම ලෝකෙදි රූප රාග, අරූප රාග දුරු කරන්න පුළුවන්. එහෙම දුරු කළොත්, මාන, උද්දච්ච, අවිද්‍යා තුනත් තව තියේ නම් ඒ වෙලාවෙදි ඒ බ්‍රහ්ම කයින් පිරිනිවන් පාන කල් ඒ කාලය තුළ ඒ ලෝකෙම ඉන්නවා. මොකද ඒ ලෝකෙ භව පටිලාභීත්වය තව ඉතිරි වෙලා තිබුණත් උප්පත්ති පටිලාභයකට යන්න පුළුවන් කමක් නෑ. තිබ්බ්ච ටික ඉවර වෙනකල් ඉන්නවා. භව පටිලාභීත්වය තියෙන්නෙ ඒ ඉන්න කාලෙට විතරයි. එහෙම ඉඳල භව පටිලාභීත්වය ඉවර වෙන කොට උන්වහන්සේ ගෙනාපු

ආයුසත් ඉවර වෙන්න පුළුවන්. එතකොට සිද්ධ වෙන්නෙ උභයක්ඛය මරණයක්. ඒ කියන්නෙ භවයට හිමි ආයුසයි බ්‍රහ්ම කයේ ආයුසයි දෙකම ගෙවිල ගියාම. හැබැයි බඹ ලොව එහෙම වුනාට මේ මනුස්ස ලෝකෙ තියෙන්නෙ කාම භවයක්. එතකොට මස් ලේ කයක් නැතිව රහතන් වහන්සේ නමකට කාම භවයේ සූක්‍ෂම කයකින් ඉන්න බෑ. ඒ නිසා තමයි අන්තරාභවික අවස්ථාවෙදි රහත් වෙනවත් එක්කම පිරිනිවන් පාන්නෙ. ඉතිං මේ විදියට අන්තරාභවය කියන වචනයට බිය නොවී, ප්‍රතික්ෂේප කරපු අන්තරාභව කතාව හේතු සහිතව වටහා ගෙන, උප්පත්ති වශයෙන් ලබන කායික අවස්ථා දෙකක් අතර තියෙන ස්වභාවයත් වටහා ගෙන නිරවුල් මනසකින් දහම් අවබෝධ කරගන්න උත්සාහ කරන්න.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 37 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** -

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ චිත්‍ර ශිල්පී එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ ඇල්. අමරසිංහ මහතා - පිලියන්දල ♦ සාලින්ද ශ්‍රී ජයවර්ධන මහතා - මාලබේ ♦ උපුල් විජේනායක මහතා - මාවනැල්ල ♦ සම්පත් ඉන්දික කුමාර මහතා - වලස්මුල්ල ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** -

♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ♦ බිනග සමාධිත් පුතා, අජිතා චාමලී මහත්මිය, කපිල සිල්වත්ගේ මහතා - බත්තරමුල්ල - රු. 10,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, ඉරෝෂා ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු. 5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ♦ සුභාෂ් රණසිංහ මහතා - වේයන්ගොඩ - රු. 5,000/- ♦ අරුණ ජයසේකර මහතා ඇතුළු පවුලේ සැම - තිඹිරිගස්යාය රු. 5,000/- ♦ වලස්මුල්ලේ පිංවතුන් පිරිසක් - රු. 5,000/- ♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ කේ. නලිනසේකර මහතා සහ ඩබ්. ප්‍රේමවතී මහත්මිය - වලල්ලාවිට - රු. 2,500/- ♦ නම සඳහන් නොකළ පිංවතෙක් - රු. 2,500/- ♦ කේ. පී. එම්. සමන්තිලක මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 2,200/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම සිල්වා මහතා - මාරවිල - රු. 2,000/- ♦ ෂවීන් ශ්‍රී ජයවර්ධන පුතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 2,000/- ♦ කෝෂලා සිරිවර්ධන මෙනවිය - ගාල්ල - රු. 2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000/- ♦ එස්. ලොකුහෙට්ටිමුදලි මහතා ඇතුළු පවුලේ සැම - වීරකැටිය - රු. 2,000/- ♦ විපුල සංජීව මහතා ඇතුලු පවුලේ සැම - හෝමාගම - රු.2,000/- ♦ ඩබ්. විලියම් මහතා - දෙහිඅත්තකණ්ඩිය - රු.2,000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ එන්. ටී. නෙසත්මා සමාධි දුව ඇතුළු පවුලේ සැම - ලබුදුව ගාල්ල - රු. 1,500/- ♦ ජානකී කුමාරි මහත්මිය - පාදුක්ක - රු.1,500/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ රුවන් රණසිංහ මහතා - පන්නිපිටිය - රු.1,000/- ♦ නදීශා හර්ෂනී ලියනගේ මෙනවිය - කළුබෝවිල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ශ්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ ඉනෝකා හේවගීගන මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ♦ ඉන්ද්‍රානි විශාකා ජයසිංහ මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ සේමිණි බුදාරා දියණිය - දොඩංගොඩ, කළුතර - රු.1,000/- ♦ ජයනාත් සුහසිංහ මහතා - හෝමගම - රු.1,000/- ♦ එස්. පද්මලතා මහත්මිය - ඌරාපොළ - රු.1,000/- ♦ ඩිලානි ඩයස් මහත්මිය - නාවින්න - රු.1,000/- ♦ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු.1,000/- ♦ ලයනල් හේවගේ මහතා ඇතුළු පවුලේ සැම - දාම්පේ - රු.1,000/- ♦ අසංග සෙනරත් අඹගල මහතා - රදාවානෙ - රු.1,000/- ♦ ලක්ෂ්මි ධම්මිකා ගලේවෙල මහත්මිය - පිටුම්පෙ - රු. 1,000/- ♦ රත්න පෙරේරා මහතා ඇතුළු පවුලේ සැම - කැස්බෑව - රු. 1,000/- ♦ සුරේෂ් චින්තක මහතා - නුවරඑළිය - රු. 1,000/- ♦ ෂෙහානි බස්නායක මහත්මිය - මත්තෙගොඩ - රු. 1,000/- ♦ එස්. ජී. ඒ. සිසිලිනා හාමිනේ උපාසිකා මාතාව - හේවාහැට - රු. 1,000/- ♦ මල්ලිකා තලගල මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ♦ නිමාලිකා සඳරුවන් මහත්මිය - නුගේගොඩ -රු. 1,000/- ♦ නිමාලි අනුරුද්ධිකා මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ♦ ස්වර්ණා සෝමරත්න මහත්මිය - දඹුටුව - රු. 1,000/- ♦ මහේෂ් විජේසුන්දර මහතා - කල්දෙමුල්ල - රු. 1,000/- ♦ එම්. ඩී. තිලකරත්න මහතා - වැලිපැන්න - රු. 1,000/- ♦ රවිඳු මෙත්සර රාජකුලතිලක පුතා - මතුගම - රු. 1,000/- ♦ එච්. එම්. ශ්‍රී නිශ්ශංක හේරත් මහතා - නාත්තන්ඩිය - රු. 1,000/- ♦ මදුරාවතී රන්දෙනිමැණිකේ මහත්මිය - කුඩාවැව - රු. 1,000/- ♦ මහීපාල ගමගේ, අරුණශාන්ත, මහේෂිකා රුක්මලී ගමගේ, යශෝධා ගීතාංජලී ගමගේ යන මහත්ම මහත්මීන් සහ දිනුල රන්දිල පුතා - යක්කල රු. 1,000/- ♦ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය, අනුර රංජිත් කුමාර මහතා, පී.එම්. ගමගේ මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා, උදාන ආරියවංශ මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චතුර මල්වාන මහතා - කෑගල්ල, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, ශ්‍රී රංජිත්සිංහ මහතා - කැළණිය, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම, බන්දුල වීරසිංහ මහතා -

ගංගොඩ, රංජිත් පතිරණ මහතා - මැදිරිගිරිය, පී.ඩී. නයනි නිරෝෂිකා මහත්මිය - මීගොඩ, රාජා මුදන්නායක මහතා - මරදාන, ඩබ්. ඒ. කේ. ජේමචන්ද්‍ර මහතා - වලස්මුල්ල, සුමිත්‍රා හපුආරච්චි මහත්මිය - රදාවාන, හේමාස් ආයතනයේ ගයාත් සහ මනෝජ් යන මහත්වරුන් - රු. 6,800/- ♦ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 136,000/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦අනෙකුත් වියදම් - 11,050/- ♦ සම්පූර්ණ වියදම - රු. 243,550/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

***සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,***

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

---

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. සමනල පොත්හල - නෙළුව.
10. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
11. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
12. කේ. පී. ස්ටෝර්ස් - ගන්තුන, කෑගල්ල.
13. ලසන් ට්‍රේඩ්සෙන්ටර් - 8, අලුත්ගොඩ පාර, තිස්සමහාරාමය - 0718523556
14. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (077 7577592)
15. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල)

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න -**

**ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# ඉතිරිය.




ටිකින් ටික ඉතිරි කර ගෙන ලැබෙන දෙය බලා
සැකින් බොහොම කල් මරනව සිතට වද වෙලා
එකින් එක ගෙවෙන විට තම සිතැඟි ලොව පෙළා
දුකින් දුක ඉතිරි කරගෙන වෙනව තව මුලා

කරපු පිං කුසල් අකුසල් ඉතිරි වෙති ලොවේ
දරපු දෙයට අනුවම යළි ගොඩ නැගෙති භවේ
පුරපු දම් කුසල් නම් ඉන් පිහිට නැති නොවේ
ගරපු මිල මුදල් ධනයද තිර නොවෙති ගෙවේ




ඇට කටු ටික පසට ඉතිරි කර දුවන කෙනා
මට මම මගෙ යැයි කියමින් තව සොයන සැණා
කට ඇරගෙන හිටියට රිසි ලෙස නොවන තැනා
හෙට දින මියයයි යළි මතු භවය ගෙන තනා



ලොව ඇති නෙක පස් කම් සැප විඳිනට ආසා
තව හද හද ගොඩ ගහගෙන බුදු බණ නාසා
අවසන් ගමනේ යන විට ගෙන දෙන දෝසා
එව බලවයි පෙන්වන්නද ඉතිරිය මේ සා

ඉතිරි වෙන දෙයක් නැත මේ තිලොව සත වෙතා
නොතිර බව පසක් කළ යුතු එයයි ලොව යතා
වැතිර හිටියොතින් ඒ ගැන නොදැන පත පතා
පැතිර යයි සසර රෝ දුක වෙන ඉතිරි නැතා




සතින් සතය ඉතිරි කරල මැරෙන විට තියේ
අතින් අතට මාරු වුවද භවයකට නොයේ
හිතින් බැඳුනු ඉතිරියකට තැවෙන විට බයේ
ඉතින් කුමට ඉතිරිය තුටු නොමැති කොට ළයේ



අරිහත් ඵලයට එන විට සියලු දොස හැරා
පිරි නිවනින් මෙතෙක් තිබුණු ඉතිරි කෙළවරා
මැරි මැරි ඉපදෙන සත හට ඉතිරි ඇති තුරා
බැරි වෙයි දුක අත හරිනට සසර සැරි සරා




ගුණ දම් ටික හිතේ ඉතිරි නොකරම සදනා
මොන නම් ධනයද මළ විට පිහිටට රඳනා
දෙන දන් තම ඉතිරියකින් යහපත වදනා
වැනසෙන් නැති ඉතිරිය මතු ඇත වෙත එදනා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



# රිය සක ලෙසින් යනෙන සසරේ...







රිය සක ලෙසින් යනෙන - බිය සැක පසින් ඇදෙන - රිසි ලෙස කිසිත් නොවන තිලොවේ
ගිය තැන බියෙන් පෙළෙන - කය සිත ලෙඩින් වෙළෙන - නිසි නැති බවක් නොදැන නැළවේ
වැය වෙන සැණින් ගෙවෙන - මියයන තැනින් හැදෙන - මැසිවිලි ගොඩක් නැගෙන කල වේ
කියනට වදන් කුමන - නිය පිඬ පසින් මැනෙන - වැසි සත දුකින් මැරෙන පොළවේ

පොළේ නැවතුම් ලොවේ - කොතැන හිටියද ලොලේ - රැක්කට නොමැත කිසිම තිර දේ
කළේ මොනවද භවේ - තැනෙන විට වෙයි මුලේ - දුක් සැපය තනිකරම නොරැඳේ
එලේ එන විට තැවේ - අනුන පිට දොස එලේ - එක්ව මෝ වසයි තම වරදේ
පෙළේ ගෙවමින් පවේ - නුවණ නැතිනම් වලේ - දැක්ම යහ එන තුරුම පැරදේ

අද මග සිඟා කනෙන - අග හිඟැතියෙකු කලෙක - රජ වෙනව ලොව දහම එය වේ
එදවසෙදි රජ නොවන - සිඟමන් යදින තැනක - අද සිටින මහ රජුද යට වේ
වද විඳින නිරි සතුන - මගදි නිදහස එවක - ලොව කොතැන හෝ තැනක බිහි වේ
මෙදහමෙහි සොබ දකින - සඟ ගුණැතියෙකු නිසැක - එල හේතු දැන එගැන නොතැවේ

කළ  පෙර කමින් යනෙන - බව නොදැන මුත් හැදෙන - දුක සතුට යන දෙකම සකලා
මුල එලෙසකින් තැනෙන  - භව කතර දුක් විඳින - එය නොදැන එන තවම මෙකලා
ගැලවෙන දමින් දෙවන - මහ දුක එයින් නොවන - හැටි තම නැණින් ගෙනම දැකලා
පෙළ පිළිවෙලින් රැගෙන - යහ නැති ලොවින් පනින - මග සිහි කරන් දහම රැකලා



තමන්ගෙන් ගොඩ නැගුණු - තුන් ලොවේ හේතු ඵල - රිය සක ලෙසින් පසුව යන්නේ
ගිමන් නිවනට ලැබුණු - ඉන්න තැන ගෙවන කල - නිය දම් වෙනස් නොමව එන්නේ
ගමන් දුක්වල එරුණු - උන් එකට එකතු කළ - පියවරය අනත භව වන්නේ
යමන් විඳ ගෙන මෙකුණු - දැන් පොදුය දහම තුළ - ගිය නුවණ සිහි එළව ගන්නේ

උපමාව මෙලෙස ගෙන - සසඳා සසර ගමන - එන හැටි නැණින් සිහි කරන්නේ
නොපමාව ලැබෙන තැන - විසඳා ගැටළු පෙළෙන - බණ දම් සොඳින් සිට අසන්නේ
සැප ගාව නොබඳවන - බස දා මුනිගෙ දිනන - මන නොඅලවා දිවි ගෙවන්නේ
කප ගාව අසුරු සැණ - ලෙස ආව මුනිගෙ බණ - සැනසීම සදහට දෙවන්නේ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී